



අසාර්ථක වුණු ප්‍රේමය ගැන 1895 දී ලියන ලද මෙම කෙටි නවකථාව ශ්‍රේෂ්ඨ රුසියන් ලේඛක ඇන්තන් චෙකොෆ්ගේ උසස් කෘතීන්ගේ ගණයට වැටේ. මෙම කථාවේ ප්‍රධාන චරිතයෝ අන්‍යෝන්‍ය සබඳතා පිළිබඳ සංකීර්ණ සිද්ධීන් බොහෝ කාලයක් ඉවසති. සමාජ තත්වයන්ගේ ගැට ගැසීම් නිසා ඔවුන්ට වාසනාව කරා ළඟා විය නොහැකිය.

ඇන්තන් චෙකොෆ්

# තුන් අවුරුද්ද



**А.ЧЕХОВ**

# ТРИ ГОДА

අනුවාදය
පද්ම හර්ෂ කුරණගේ

චිත්‍ර හා සැකසුම
වි. බාසොව්

පරිගණක අක්ෂර සංයෝජනය
මාලක ලලනජීව



# I

තැනින් තැන ගෙවල්වල ජනෙල්වලින් විහිදෙන එළියත්, වීදියේ ඈත කෙළවරේ බැරැක්කයට පිටුපසින් මඳ එළිය විහිදුවමින් නැඟ එන සඳත් හැරෙන්නට හාත්පස තවම අඳුරු ය. ලාප්තෙෆ්, සාන්ත පීටර් හා පෝල් පල්ලියේ සන්ධ්‍යා දේව මෙහෙය හමාර වන තෙක් තම ගෙයින් බැහැරට වී බංකුවක් මත වාඩි වී සිටියි. යූලියා සෙර්ගේයෙව්නා පල්ලියේ සිට ගෙදර යාමට මේ මගින් පැමිණෙනු ඇතියි ඔහු සිතයි. ඔහු ඇය සමග කථා කරනු ඇත; සමහර විට මුළු සවස ම ඔහු ඇය සමඟ ගත කරනු ඇත.

ඔහු පැයකටත් වඩා මෙහි නතරව සිටියේ ය. ඔහුගේ සිතුවිලි මොස්කව් නුවර පිහිටි තම මහල් ගෙය කෙරෙහි ද, මොස්කව් නුවර යාළුවන් කෙරෙහි ද, පියෝත්ර් නම් තම සේවකයා කෙරෙහි ද, තම කාමරයේ මේසය කෙරෙහි ද ගමන් කරයි. තමා සොකොල්නිකිහි ගම්බද ගෙයක් කුලියට ගෙන වාසය කරනවා වෙනුවට, උදේ හවස ගොපලු නලා හඬත් සමඟ එහා මෙහා යන ගව රැළෙන් නගින දූලි වලා සහිත මේ පිටිසරබද නගරයේ විසීම පුදුමයක් ලෙස ඔහු අඳුර දෙස ද, නොසැලෙන ගස් දෙස ද බලමින් සිතයි. ඊළඟට ඔහුගේ සිතිවිලි මොස්කව් නුවර තම මිතුරන් සමග ප්‍රේමය පිළිබඳ කරන කෙළවරක් නැති වාදයන්ට යොමු විය. ප්‍රේමයෙන් තොරව ජීවත් විය හැකි බවත්, බලවත් ප්‍රේමය දරුණු මානසික රෝගයක් බවත්,

ගැනු හා පිරිමි අතර ඇතිවන කායික බැඳීමක් මිස ප්‍රේමය යනුවෙන් කිසිවක් නොමැති බවත් කියමින් ඔවුන් දිගින් දිගට වාද කර ඇත. මේ වේලාවේ යමෙකු ඔහුගෙන් ප්‍රේමය ගැන ඇසුවොත් කුමක් කිව යුතුදැයි නොදන ඔහු දුක් විය.

දේව මෙහෙය හමාර විය. සෙනඟ පල්ලියෙන් පිටතට වැල නොකැඩී ගලා එන්ට වූහ. ලාප්තෙෆ් වීදියේ පහළට ගමන් කරන අඳුරු රූප දෙස ඕනෑකමින් බලන්නට විය. බිස්කුත් වහන්සේ තම කරත්තෙන් යයි. සීනුව හඬ දීම නැවතිලා ය. සීනු කණුවේ වූ රතු පාට, කොල පාට පහන් - පල්ලියේ මංගල්‍යයට බුහුමන් පිණිස සැරසූ - එකින් එක නිවෙයි. එහෙත් සෙමින් සෙමින් යන ජනී ජනයාගෙන් ද, ගෙවල්වල ජනේල ළඟ නතර වී කථාවට වැටී සිටින උදවියගෙන් ද වීදිය තවම පිරිලා ය. අන්තිමේ දී ලාප්තෙෆ්ට සුපුරුදු කටහඬක් ඇසිණි. ඔහුගෙ හද වේගයෙන් ගැහෙන්ට විය. එහෙත් යූලියා සෙර්ගේයෙව්නා තනියම නොව, තවත් කාන්තාවන් දෙදෙනෙකු සමඟ පැමිණේ.

"අනේ" යි ඔහු බලාපොරොත්තු සුන් වූ ලෙස කෙඳිරි ගෑවේය. "මෙහෙම වැඩක්."

ඈ තම මිතුරියන්ගෙන් සමු ගැනීමට පාර අයිනේ නතර වූවා ය. හිස ඔසොවා බැලූ ඇයට ලාප්තෙෆ් දකින්නට ලැබිණි.

"මං මේ ඔයාලගෙ තාත්තා හම්බු වෙන්නට ආවා විතරම යි." ඔහු කීවේ ය. "තාත්තා ගෙදර ඉන්නවා ද ?"

"මං හිතන්නෙ ඇති" යි ඈ පිළිවදන දුන්නා ය. "තව වෙලා තියනව තාත්තට ක්ලබ් එකට යන්න."

වීදිය දෙපස උයනින් සැදුණේ ය. එක් පසෙක වූ උසට වැවුණු ලයිම් ගසින් සඳ පහනේ විහිදෙන ගැඹුරු සෙවනැලි, අනෙක් පස වූ දොරටුව සහ වැටවල් ද වසා ගෙන පැතිරෙයි. ගැහැණුන් පහත් හඬින් කොඳුරන හඬ ද, සිනාසෙන හඬ ද, ගිතාර වාදනයකින් නගින සිහින් හඬක් ද අඳුරෙන් ඇසේ. මේ ශබ්දයනුත්, ලයිම්වලින් හා පිදුරුවලින් විහිදෙන සුවඳත් හේතුකොට ගෙන ඔහු තුළ අපහසු ගතියක් ඇති විය. තමා ළඟ වූ කාන්තාව දෑතින් බදා ගෙන, ඇගේ මුහුණ, අත්, දෙවුර සිඹගෙන සිඹගෙන යන්ටත්, ඇගේ පාමුල වැටී වැළපෙමින් තමා කෙතෙක් වේලා ඇය බලාපොරොත්තුවෙන් සිටියා ද යනු කීමටත් ඔහු නොඉවසිලිමත් විය. පල්ලියේ සුවඳ දුම් වැදීමෙන් ඇගේ සිරුරෙන් නික්මුණු මඟ හැරිය නොහැකි මඳ සුවඳක් නිසා

තමා දෙවියන් විශ්වාස කළ කාලය ද, සන්ධ්‍යා දේව මෙහෙයන්ට සහභාගී වූ සැටි ද, නිර්මල කාව්‍යමය ප්‍රේමය පැතු සැටි ද ඔහුට මතක් විය. ඈ තමාට ප්‍රේම නොකරන බව ඔහු දැන සිටි බැවින්, එවකට තමා සිහින දුටු සැපත කවදාවත් නොළඟේ යයි යන හැඟීමක් ඔහු තුළ හට ගත්තේ ය.

ඔහුගේ සහෝදරිය වන නීනා ෆියෝදරව්නා ගේ අසනීපය පිළිබඳව ඈ අනුකම්පාවෙන් කථා කළා ය. පිළිකා රෝගයෙන් පෙළෙන නීනා මාස දෙකකට ඉස්සරින් ශල්‍ය කර්මයකට භාජන කරන ලදී. දැන් හැමෝම ඇගේ රෝගය අසාධ්‍ය අතට හැරේවි යැයි බියෙන් සිටිති.

"මම අද උදේ එයා බලන්න ගියා." යි යූලියා සේර්ගේයෙව්නා කීවා ය. "මං දැක්කා මොකක්දෝ වෙනසක් තියෙනවා. ගිය සුමානෙට වඩා කෙට්ටු නෑ. ඒ වුණාට මැලවිලා ගිහින්."

"ඔව්" ලාප්තෙෆ් කීවේ ය. "හොඳටම නරක අතට හැරිලා නෑ. නමුත් එයා දවසින් දවස දුර්වල වෙනවා. මගේ දැහැට පෙනි පෙනීම කෙට්ටු වෙලා යනවා. මට පුදුමයි ඇට මොනවා වෙලා ද කියල."

"එයා කොච්චර සනීපෙන් හිටිය ද, හොඳ පිරිච්ච රෝස පාට කම්මුල් ඇතුව" යි යූලියා සෙර්ගේයෙව්නා මඳක් නිහඬව සිට කීවා ය. "මේ පැත්තේ ඔක්කෝම එයාට කිව්වේ 'මොස්කව් කෙල්ල' කියල. ඉතින් එයා හිනා වෙන අපූරුව. නිවාඩු දවස්වලදී එයා අඳින්නෙ ගැමි කෙල්ලෙක් වගේ. ඒක එයාට අපූරුවට ගැලපුණා."

සෙර්ගෙයි බොරිසිච් දොස්තර ගෙදර සිටියේ ය. ඔහු තරබාරු, රතු මුහුණක් ඇත්තෙකි. දණහිසෙන් පහතට වැටෙන දිග කබායක් ඇඳ සිටි ඔහු තම අත් සාක්කුවල ඔබාගෙන සුපුරුදු 'රු-රු-රු-රු' හඬ නගමින් කාමරයේ ඔබ මොබ සක්මන් කරමින් සිටියේ ය. නිදි ඇඳෙන් නැගිට්ට ගමන් මෙන් ඔහුගේ කපොලතෙහි වූ පැසුණු රැවුලත්, කොණ්ඩයත් අවුල් ය. සෝපාව උඩ තිබෙන කොට්ටවලිනුත් අහුමුලුවල ඇති පරණ කඩදාසි ගොඩවලිනුත්, ලෙඩ වුණු, දිග ලොමින් ගැවසුණු මේසය යට සිටින බල්ලාගෙනුත් යුක්ත මෙම කාමරය දොස්තර මෙන් ම අපිරිසිදු ය. අවුල් සහිත ය.

"ලාප්තෙෆ් මහත්මයා තාත්තා හම්බුවෙන්න ඇවිල්ලා." යි ඔහුගේ දුව කාමරයට ඇතුළු වෙමින් කීවා ය.

දොස්තර 'රු-රු-රු-රු' හඬ නගමින් ම විසිත්ත කාමරය දෙසට හැරුණේ ය. "ආ, මොනවද හොඳ ආරංචි එහෙම." ලාප්තෙෆ්ට ආචාර කරමින් ඔහු කීවේ ය.

විසිත්ත කාමරය අඳුරු ය. ලාප්තෙෆ් තොප්පිය අතේ ඇති ව සිටගෙන සිටියේ ය. තමා නොදන්වා ම පැමිණීම ගැන සමාව අයැදූ ඔහු රෑ නින්ද නොයෑම ගැන තම සහෝදරියට කළ යුත්තේ කුමක් ද, ඈ මෙතරම් කෙට්ටු වන්නේ මන්ද යනුවෙන් ඇසුවේ ය. කථා කළ හැටියෙන් ඔහු තුළ නොසන්සුන් ගතියක් පවතින බව පෙනිණි. දොස්තර, උදේ ලෙඩා බලන්ට ගිය විට අසන ප්‍රශ්න ම තමා අසන බව ඔහුට දැනිණි.

"බාගදා අපි මොස්කව් නුවරින් විශේෂඥයෙක් ගෙන්වූවොත් නරක ද?" ඔහු කීවේ ය. "මහත්තයගේ කල්පනාව කොහොම ද?"

දොස්තර සුසුමක් හෙලා දෙවුර හැකුළුවේ ය. දෑත විහිදුවේ ය.

මෙය සැබැවින් ම ඔහු කෝප කරවූ බව පැහැදිලි විය. සාමාන්‍යයෙන් ඔහු හොස්ස ළඟින් මැස්ස ගියත් අමනාප වන තාලේ මිනිහෙකි. තමා විශ්වාස කරනු නොලබන්නේ යයි ද, නියම විදියට තමා අගය කරන්නේවත්, තමන්ට ගරු සැළකිලි දක්වන්නේ වත් නැතැයි ද තම රෝගීන් තමා සූරා කනු ලබන්නේ යයි ද, තමා කෙරෙහි තම යහළුවන් තුළ නරක හැඟීමක් ඇතැයි ද ඔහු හැම තිස්සේ ම සිතයි. තමා වැනි මෝඩයන්ට තරහා යනවා යයි කියා ගනිමින් ඇතැම් විට ඔහු තමාටම සිනා සෙයි.

යූලියා සෙර්ගේයෙව්නා ලාම්පුව දල්වූවා ය. ඇගේ සුදුමැලි මලානික මුහුණිනුත්, උදාසීන ඉරියව්වලිනුත් දේව මෙහෙයන් පසු ඈ වෙහෙස ව සිටින්නාක් මෙන් හා ඇයට හුදෙකලා ව සිටීමට වුවමනා වූවාක් මෙන් ඔහුට දැනිණි. ඈ කවිච්චිය මත වාඩි වී තම අත් උකුල මත තබා ගෙන ධ්‍යානයට සම වැදුණාක් මෙන් සිටියා ය. තමා ලස්සන මිනිසෙකු නො වන බව ලාප්තෙෆ් දැන සිටියේ ය. මේ වේලාවේ ඔහුට එය ශාරීරික වශයෙන් ම දැනේනට විය. ඔහු කොට ය; කෙට්ටු ය; කම්මුල් රෝස පාට ය. ඔහුගේ හිස මුදුනේ කෙස් දැනට ම හැලෙන්ට පටන් ගෙන ඇත. එම නිසා සමහර වේලාවට ඔහුගේ හිසට සීතල දැනේ. වඩා ලස්සන නොවූ මුහුණුවල පවා පවතින, සිත් ගන්නා සුළු සිරියාවන්ත පෙනුම ඔහුගේ ඔහුගේ මුහුණෙහි නොවී ය. ගැහැනුන් සමඟ සිටින විට ඔහු තුළ අපහසු ගතියක් ඇති වෙයි. ඔහු ඔවුන් සමඟ හුඟාක් කථා කරයි. ඔවුන් සමඟ හැසිරීමේ දී විකෘති ගතියක් දක්වයි. මේ කරුණු නිසා ඔහු තුළ තමා ගැන ම පිළිකුලක් ඇති විය. යූලියා සෙර්ගේයෙව්නා සමඟ කථා බහ නොකළොත් ඇයට තමා හා ආශ්‍රය එපා වනු ඇතැ යි ඔහු සිතුවේ ය. එහෙත්

තුමක් ගැන කථා කරන්න ද? ආයෙමත් සහෝදරියගේ අසනීපය?

ඔහු වෛද්‍ය ශාස්ත්‍රය ගැන කථා කරන්නට පටන් ගෙන ඒ පිළිබඳ කවුරුත් දන්නා දේවල් කීවේ ය. සනීපාරක්ෂාව ගැන පාරට්ටු විදියට කථා කළේ ය. බොහෝ කාලයක සිට මොස්කව් නුවර අනාථ නිවාසයක් ඇරඹීමට තමා සූදානමින් සිටින බවත්, ඒ සඳහා ඇස්තමේන්තුව දැනටම සකස් කොට ඇති බවත් කීවේ ය. රෑ ඔවුන්ගේ අනාථ නිවාසයට පැමිණෙන කම්කරුවෙකුට කොපෙක් පහක් හෝ හයක් වියදම් කිරීමෙන්, පාන් සමඟ උණුසුම් ගෝවා සුප් පිඟානකුත්, බ්ලැන්කෙට්ටුවක් සහිත පිරිසිදු උණුසුම් ඇඳකුත්, රෙදි සහ සපත්තු වේලා ගැනීමට තැනකුත් ලබා ගත හැකි යැයි ද ඔහු කීවේ ය.

යූලියා සෙර්ගේයෙව්නා පුරුදු පරිදි ඔහු ඉදිරියේ නිහඬ ව සිටියි. එහෙත් අපූරු අන්දමට, බාග වෙලාවට පෙම්වතුන් තුළ පවතින ඉවෙන්, ඔහු ඇගේ සිතුවිලි ද, අදහස් උදහස් ද අනුමාන කරයි. සන්ධ්‍යා දේව මෙහෙයෙන් පසු ඇ තේ බොන්ට හෝ ඇඳුම් මාරු කරන්ට හෝ ඇගේ කාමරයට නොගිය බැවින් ඈ නැවතත් බැහැරට යන්ට පිළිවනැ යි මෙවේලේ ඔහු සිතන්ට විය.

"නමුත් අනාථ නිවාසය ගැන මම ඉක්මන් වෙන්නේ නෑ" යි තමා වෛද්‍ය ශාස්ත්‍රයත්, සනීපාරක්ෂාව ගැනත් කථාවක් ඇද ගත්තේ මන්දැයි යන්න ගැන හොඳටම පුදුම වෙමින් තමන් දෙස හිස් බැල්මකින් බලා සිටින දොස්තර අමතා කෝපයෙන් මෙන් ලාප්තෙෆ් කියා ගෙන ගියේ ය. "සමහර විට ටික කලක් යන කල් මට ඔය ඇස්තමේන්තුව ඕන වෙන එකක් නෑ. මට බයයි අනාථ නිවාසය අපේ බකතපස් රකින කුහකයින්ගෙ අතට, නැත්තං ඕන හොඳ දෙයක් නාස්ති කරල දාන ඊතියා ත්‍යාගශීලී ගෑනුන්ගෙ අතට යාවි කියල."

යූලියා සෙර්ගේයෙව්නා නැගිට තම අත පෑවා ය. "සමා වෙන්න" ඈ තෙපලා ය. "මං යන්ඩ ඕන. කරුණාකරල අක්කට කියන්න මං මතක් කළයි කියල."

"රු-රු-රු-රු" දොස්තර හඬ නැගුවේ ය. "රු-රු-රු-රු."

යූලියා සෙර්ගේයෙව්නා පිටතට ගියා ය. ඈ ගොස් ටික වේලාවකට පසු ලාප්තෙෆ්, දොස්තරගෙන් සමු ගෙන ගෙදර ගියේ ය. ලයිම් ගස්, සෙවනැලි, වලාකුළු යනා දී සොබා දහමේ පවතින සෑම සුන්දරත්වයක්ම, වැදගැම්මකට නැත්තාක් මෙන් ඔහුට හැඟිණි. මේ වනාහි මනුෂ්‍යයා අතෘප්තිකර භාවයෙන්, අසන්තෝෂයෙන් සිටින

හැම විටකදී ම ස්වභාවික සෞන්දර්යය කෙරෙහි ඇති වන හැඟීමකි. හඳ අහසේ ඉහළට නැගෙයි. ඊට යටින් වලාකුළු වේගයෙන් පාවී යයි. "මොන නිවට ගම්මැදි හඳක් ද මොන කාලකණ්ණි වලා රොදවල් ද?" ඔහු සිතුවේ ය. වෛද්‍ය ශාස්ත්‍රය ගැනත්, අනාථ නිවාසය ගැනත් කථා කිරීම ගැන ඔහු තමා කෙරෙහි ම ලජ්ජා විය. ආයෙමත් හෙට, ඇය දැකීමටත්, ඇය සමඟ කථා කිරීමටත් ඇති වන පෙළඹීම මැඩ ගත නොහැකි වීම ගැනත්, ඈ තමන් ගැන මඳ සැළකිල්ලක්වත් නොදැක්වීම ගැනත් සිතූ ඔහු භය විය. ඉතින් හැමදාම මෙය මෙසේ ම සිදු වනු ඇත. මේ සියල්ල කෙළවර වන්නේ කවදා ද? කෙසේ ද?

ඔහු තම නිවසට පැමිණි විගස ම ගියේ සහෝදරියගේ කාමරයටය.

නීනා ෆියෝදරව්නා, තවමත් පෙනීමෙන් නම්, හොඳ සනීපෙන් සිටින්නියක වැන්න. ඈ ඇස් පියාගෙන උඩු බැල්ලෙන් වැතිර සිටින විට ඇගේ මුහුණෙන් පළ වන, මලානික පිපිහළු වී ගිය පෙනුමෙන් මිස, අන් පෙනුමකින් ඈ රෝගී ව සිටින බවක් ඇය දෙස බලන්නෙකුට නොසිතේ. සාෂා නම් වූ ඇගේ සය හැවිරිදි වැඩිමල් දියණිය ඇය පසෙකින් සිටගෙන පාඩම් පොතක් හඬ නඟා කියවමින් සිටියි.

"අලෙක්සේයි, මෙහෙ" රෝගී ගැහැනිය කෙඳුරුවා ය.

කාලයක් තිස්සේ ඇති කරගත් පුරුද්දක් අනුව සාෂා හා ඇගේ මාමා ඇඳ ළඟ තනි රකී. සාෂා මත පොත වසා වචනයක් වත් නොදොඩා හතික එතැනින් ඉවතට ගියා ය. ලාප්තෙෆ් මේසයෙන් ඓතිහාසික නවකථා පොතක් රැගෙන එහි කලින් කියවා නැවැත්වූ පිට පෙරළා හඬ නගා කියවන්ට පටන් ගත්තේ ය.

නීනා ෆියෝදරව්නා මොස්කව් නුවර උපන් තැනැත්තියකි. ඈත් ඇගේ සහෝදරයන් දෙදෙනාත් තම ළමා කාලයත්, තරුණ කාලයත් ගත කළේ වෙළෙන්දෙකු වූ තම පියාගේ පියාත්නිත්ස්තයා වීදියේ පිහිටි නිවසේ ය. එය බොහෝ දුක්බර ළමා කාලයක් විය. ඇගේ පියා ඇය කෙරෙහි දැඩි ගතියක් පෑවේ ය. බොහෝ වතාවක් ඇයට කස පහර පවා දුන්නේ ය. අගේ මව දිගු කලක් රෝගී ව සිට මළා ය. වැඩකාරයෝ අපිරිසිඳු, රළු, කුහක ගති ඇති අය වූහ. ගෙදරට පැමිණි පූජකයෝ ද රළු කුහක ගති ඇත්තෝ වූහ. ඔවුහු තමන් පිළිකුල් කරන පියා සමඟ චාටු බස් දොඩමින් සන්තෝෂයෙන් කෑවෝ ය, බීවෝ ය. පිරිමි ළමයින්ට පාසලට යන්න තරම් වාසනාව තිබුණේ ය. එහෙත් නීනා අධ්‍යාපනයක් නොලැබූවා ය. ඈ ලියන්ට ඉගෙන ගත්තේ අමාරුවෙනි. ඓතිහාසික නවකථා හැර අන් කිසිවක් ඈ

නොකීවා ය. ඇගේ වයස විසි දෙකක් වන විට - අවුරුදු දහ හතකට පමණ පෙර - පනවූරෆ් නම් දන් සිටින ඇගේ සැමියා හමුවිය. උෂ්ණ සෘතුවේ, හිම්කි නම් ගමේ දී ඔහු සමඟ ප්‍රේමයෙන් වෙළුණු ඇ තම පියාගේ කැමැත්තට විරුද්ධ ව රහසේ විවාහ වූවා ය. රූපසම්පන්න, සිවුරුහත් හඬන, දෙවියන්ට තැබූ පහනින් සිගරැට් පත්තු කරන, අහංකාර, මේ ඉඩම් හිමියා ගැන ඇගේ පියා සිතුවේ වැදගැම්මකට නැති එකෙකු මෙනි. බෑණා දෑවැද්ද ඉල්ලා ලියුම් ලියන්ට පටන් ගත් විට පියා ඇගේ මවට අයිති ලොම් කබා, රිදී හා තවත් දේවල් ද ඇතුළුව රූබල් තිස් දහසක් එවන බවත්, එහෙත් තම ආශිර්වාදය නොදෙන බවත් දන්වා තම දියණියට ලියමනක් ලීවේ ය. වැඩිකල් නොගොස් ම මුදල් ද, දෑවැද්ද ද ඉවර වුණු විට ගම්බද නිවාසය විකුණන ලදී. ඉන් පසු පනවූරෆ් ආණ්ඩුවේ රක්ෂාවක් ලබා ගැනීම පිණිස තම පවුලත් කැටුව නගරයට පැමිණියේ ය. එහිදී ඔහු බොහෝ දෙනා තුළ කට කතා ඇති කිරීමට හේතු වූ තවත් පවුලක් තබා ගත්තේ ය. එය කිසිවකුගෙන් වසන් කිරීමට ඔහු තැත් නොකළේ ය.

නීනා ෆියෝදරව්නා තම සැමියාට මහත් සේ ප්‍රේම කළා ය. මේ වේලාවේ ඇ ඓතිහාසික නවකථාවට කන් දෙන ගමන් පසුගිය කාලය තුළ දී තමා කළ කී දේවල් මෙනෙහි කරමින් සිටියි. කිසිවකු විසින් එය ලිව්වොත් එය ඉතාමත් ශෝකජනක කථාන්තරයක් වනු ඇත. පිළිකාව ඇගේ පපුවේ ඇති වූ බැවින්. මේ අසනීපය තම අවාසනාවන්ත ප්‍රේමය නිසා වූ බව ඇයට තහවුරු විය. තම ශරීර සනීපය, ශෝකයත් ඊර්ෂ්‍යාවත් විසින් ගිල ගත්තේ යයි ඇ සිතයි.

අලෙක්සේයි ෆියෝදරවිච් පොත වැසුවේ ය. "දෙයියන්ට පින් සිද්ද වෙන්ඩ එතතින් ඉවරයි." ඔහු කීවේ ය. "හෙට අපි වෙන එකක් පටන් ගනිමු."

නීනා ෆියෝදරව්නා සිනාසුණා ය. ඇ හැමවිටම පහසුවෙන් සිනාසෙයි. කිසිම හේතුවක් නැතුව, හැම සුළු කරුණකදී ම ඇ සිනාසෙන්නේ තම රෝගය හේතුකොට ගෙන හටගන්නා මානසික පීඩාවක් නිසා බව ලාප්තෙෆ්ට වැටහිණි.

"අද උදේ යූලියා මෙහෙ ආවා. උඹ නැති වෙලාවෙ" යි ඇ කීවා ය. "මං හිතන්නේ නෑ එයාගෙ තාත්තා ගැනවත් ඒ තරම් විශ්වාසයක් එයාට ඇති යි කියල." "තාත්ත වෙදකම් කරපුවාවෙ." ඇ කීවා. " නමුත් මං ඔයාට කියන්නං, කාටවත් නො කියා තාපසතුමාට දන්වලා ඔයා වෙනුවෙන් යාඥා කරන්නෙයි කියන්ඩ." "උඹ දන්නවද මං

දන්නෙ නෑ. නගරයේ ඉන්නවලු වයසක තාපසතුමෙක්. යූලියාට එයාගෙ කුඩේ අමතක වෙලා ගිහින්. ඒක හෙට අරින්ඩ ඕනෑ." යි මඳක් නතර ව සිට ඈ කියන්ට වූවා ය. "කාලෙ ඉවර වුණාම දොස්තරලාටවත්, තාපසතුමන්ලාටවත් කරන්ඩ දෙයක් නෑ."

"ඇයි නීනා උඹ රෑට නිදා නොගන්නේ ?" ලාප්තෙෆ් ඇසුවේ කතාව වෙන අතකට හැරවීමට ය.

"මං දන්නෙ නෑ. මට නිකම්ම නිදාගන්ඩ බෑ. මම වැතිරගෙන ඔහේ හිත හිතා ඉන්නවා."

"අක්කා මොනවා ගැන ද ඔය හැටි හිතන්නේ ?"

"ළමයි ගැන, උඹ ගැන .... මගෙ ම ජීවිතය ගැන. මම හුඟක් දුක් විඳල තියෙනව අලෙක්සේයි. ඒ ඔක්කොම මතක් වෙනකොට - දෙයියන්ට ඔප්පු වෙච්චාවෙ !" ඈ සිනාසුණා ය. "මම පස් සැරයක් වැදුවා. ඒකෙන් තුන් දෙනෙක් මැරිලා වැළලුවා .... සමහර විට මට ආයෙත් දරුවෙක් ලැබෙන්ට යන කොට මගේ ග්‍රිගෝරි නිකොලයිච් අර ගෑනි එක්ක ඉන්න හින්දා වින්නඹු අම්මා එක්කරගෙන එන්ඩ කවුරුවත් නැතිව යාවි. වැඩකාරයන් හොයාගෙන මට ශාලාවට නැත්නං කුස්සියට යන්ඩ වේවි, එතකොට යුදෙව්වො, සාප්පු කාරයො, පොලී කාරයො බලාගෙන ඉඳීවි, එයා ගෙදර එනකල්. මගේ ඔළුව කැරකෙන්ඩ ගනීවි .... කවදාවත් නොකීවට මොකද මට එයා ප්‍රේම කළේ නෑ. ඒකට කමක් නෑ. දැන් නම් ඒක එච්චර දුකක් නොවෙයි. නමුත් තරුණ කාලෙ දි මං හිටියෙ හරිම අසන්තෝසෙන්, හරිම අසන්තෝසෙන්. සැරයක් මට එයාව හම්බු වුණා ගෑනියක් එක්ක වත්තෙ ඉන්නවා. ඒ කාලෙ අපි ගමේ හිටියෙ. මම ආපහු හැරිල කොහේ යනව ද කියල දන්නෙ නැතුව ඇවිද්දා අන්තිමට දන්නෙ ම නැතුව මං හිටියෙ පල්ලියෙ දොරකඩ. මම දණින් වැටිල 'දේව මෑණියනි' කියල කෑගැහුවා. අඳුර වැටෙමින් තිබුණා. හඳ බැබලුණා."

ඈ හුස්ම ගැනීමට මඳක් නතර වූවා ය. අනතුරු ව මඳ වේලාවක් විවේක ගෙන තම සහෝදරයාගේ අත අල්ලා ගත්තා ය.

"උඹ හුඟක් කරුණාවන්තයි අලෙක්සේයි" යි ඈ හීන් හඬින් තෙපලා ය. "හුඟාක් දක්ෂයි .... හුඟාක් හොඳයි."

ලාප්තෙෆ් රෑ දෙගොඩහරිය වන විට යූලියා සෙර්ගේයෙව්නාගේ කුඩය ද රැගෙන සහෝදරියගේ කාමරයෙන් පිට විය. මැදියම් රැය වුව ද සේවකයෝ කෑම කන කාමරයේ තේ බොමින් සිටිති. ගෙදර කිසිම පිළිවෙලක් නැතැයි ඔහු සිතයි. ළමයින් තව ම නිදාගෙන

නැත. ඔවුහු කෑම කන කාමරයේ ද සිටිති. විටින් විට දැල්වි දැල්වී නිවෙන්න ඔන්න මෙන්න කියා තිබෙන පහන ගැන සැලකිල්ලක් නොදක්වමින් ඔවුහු සියල්ලෝ ම මහත් අපහසු ගතියකින් කථා කරමින් සිටිති. මෑතක දී සිදුවුණු අසුබ ලකුණු කිහිපයක් ගෙදර බාල මහලු සියල්ලන් කරදරයට පත් කිරීමට හේතු විය. ශාලාවේ තිබුණු ඝන්ඨාඩිය පුපුරා තිබිණි. කේතලය හැමදාම හුරුවන් බාන්නාක් වැනි හඬක් නඟයි. එය දූන් පවා එදිරියක් පිරිමහ ගන්නාක් මෙන් හඬ ම නගයි. නීනා ෆියෝදරව්නාගේ සපත්තුවෙන් මීයෙක් එළියට පැන්න සැටි ඔවුහු කීවෝ ය. මෙම අසුබ නිමිතිවල බියජනක අර්ථ ළමයි පවා දූනට ම දන සිටිති. සිහින් කයක් ද කළු හිසකෙස් ද ඇති සාෂා නම් වැඩිමල් ගැහැනු ළමයා බයෙන් ද දුකෙන් ද මේසය අසල සිටගෙන සිටියි.

පහතින් සීලින් ගැසූ, වාතාශ්‍රයක් නැති, ජෙරනියම් මලින් වහනය වන සුවඳින් යුතු පහත මාලයේ තම කාමරයට ලාප්තෙෆ් ගියේ ය. එහිදී ඔහුට, ප්‍රවෘත්ති පත්‍රයක් කියවමින් සිටින පනවූරෆ් - නීනා ෆියෝදරව්නාගේ සැමියා හමු විය. ලාප්තෆෝ ඔහුට හිස නමා ආචාර කොට විරුදු පසින් වාඩි විය. කිසිවෙක් කථා කළේ නැත. මේ අන්දමින් එක වචනයක්වත් නොදොඩා ඔවුන් සෑම සැන්දෑවක් ම ගත කරනු ලැබේ. එය ඔවුන් තුළ ලජ්ජාවක් ඇති නොකළේ ය.

කුඩා ගෑනු ළමෝ ආයුබෝවන් කීමට පහතට පැමිණියහ. පනවූරෆ්ට කතාවක් බහක් නැතුව හෙමින් ඔවුන් හිස මතුයෙහි කුරුසය ලකුණු කොට ඔවුන්ට තම අත ඉඹීමට දුන්නේ ය. ඔවුහු හිස ද දණ ද නමා ආචාර කොට අනතුරු ව ලාප්තෙෆ් කරා ගියහ. ඔහු ද ඔවුන් හිස මතුයෙහි කුරුසය ලකුණු කොට තම අත ඉඹීමට දුන්නේ ය. මෙම චාරිත්‍රය සෑම සවසක ම කරනු ලැබේ.

කුඩා ළමුන් ගිය පසු පනවූරෆ් පත්‍රය පසෙකින් තබා මෙසේ කීවේ යඃ "මේ ධර්මිෂ්ඨ නගරය හරිම පාළුයි. මං මේ උඹට කියන්නෙ ඇත්තටම යි." ඔහු සුසුමක් හෙලමින් කියන්ට විය. "විනෝද වෙන්ඩ මොකක් හරි උඹ සොයාගෙන තියෙන එකට මං සන්තෝසයි."

"මොනව ද උඹ මේ කියන්නෙ." ලාප්තෙෆ් පිළිවිසුවේ ය.

"මං දවසක් දැක්කා උඹ බෙලාවින් දොස්තර මහත්තයලයි ගෙදර ඉඳලා එනවා. මං හිතන්නේ උඹ එහාට යන්නේ තාත්තා හින්ද නෙවී?"

"ඇත්තෙන් ම නෑ." ලාප්තෙෆ් රතු වෙමින් කීවේ ය.

"ඒක ස්වභාවික යි. දන්නව ද, ඇගේ තාත්තා භයානක නාකි ගුඩ්ඩෙක්. මිනිහා කොච්චර මෝඩ, අලස, අදක්ෂ, අවිනීත එකෙක් ද කියලා උඹට හිතා ගන්නවත් බෑ. උඹල වගේ අගනුවර ඉන්න මිනිසුන්ට තාම පෙනෙන්නේ ගම්බද තියෙන භූමිදර්ශනවල සෞන්දර්යය විතරයි. නමුත් යාළුවා මං උඹට දිව්රලා කියන්නං ඒකේ ඇති අලංකාරයක් නෑ. අශිෂ්ටත්වයයි, නීච කමට යි, කැත කුණුවලටයි වැඩියෙන් මොකුත් නෑ. අපේ උගත්තු, ඊනියා බුද්ධිමත්තු අරගෙන බලමු. මේ නගරයේ ඉන්නවා දොස්තරලා විසි අට දෙනෙක් ඒ ඔක්කෝම හරිහම්බ කරගෙන තමන්ගෙ ම ගෙවල්වල ජීවත් වෙනවා. ඒ වුණත් මිනිස්සු ඉස්සර වගේ ම අසරණ යි. තීනාට ශල්‍ය කර්මයක්, සුළු ශල්‍ය කර්මයක් කරන්ඩ ඕන වුණ වෙලාවේ උඹට මතක ඇති අපට මොස්කව් නුවරින් ශල්‍ය වෛද්‍යවරයෙක් මෙහෙ හිටියෙ නෑ. අන්න ඒක හිතල බලන්ඩ. උන් මොකුත් දන්නෙ නෑ. මොකුත් තේරුම් ගන්නේ නෑ. කිසිම දෙයක් ගැන උනන්දුවක් නෑ. උදාහරණයක් වශයෙන් ඒ ගොල්ලන්ගෙන් අහල බලන්න පිළිකා රෝගය කියන්නේ මොකක් ද, ඒක කොහෙන්ද ආවෙ කියල."

පනවූරෆ් පිළිකා රෝගය යනු කුමක්දැයි පැහැදිළි කිරීමට පටන් ගත්තේ ය. ඔහු විද්‍යාවේ හැම අංශයක් පිළිබඳව ම විශේෂඥයෙක් විය. සෑම දෙයක් ගැන ම තමන්ගේ ම විද්‍යාත්මක මතයක් ඔහු තුළ විය. ලේ ගමන් කිරීම ගැන ද, තාරකා විද්‍යාව, රසායන විද්‍යාව ආදිය ගැන ද ඔහුගේ ම න්‍යායනයන් තිබුණේ ය. සෑම කෙනෙකුගේ සිත් ගන්නා ප්‍රිය උපදවන ගතියකිනුත්, බාගෙට ඇස් පියාගෙන "ඒක හිතල බලන්න" යනුවෙන් පුදුම හඟවමිනුත්, මලානික සුසුම්වලට හා දයාන්විත මඳ සිනාවටත් අතර වූ ආයාචනාත්මක කෙඳිරීමකිනුත් ඔහු කථා කළේ ය. වයස පනහක් වුව ද ඒ ගැන සැලකිල්ලක් නොදක්වූ ඔහු තුළ ආත්ම තෘප්තියක් තිබිණි.

"මට බඩගිනියි." ලාප්තෙෆ් කීවේ ය. "අච්චාරු දාපු මොනවහරි තියෙනව නං"

"හොඳයි, ඒක ලේසියෙන් පිළියල කරගතැකි."

ටික වේලාවකට පසු ලාප්තෙෆ් හා ඔහුගේ මස්සිනා උඩු මාලේ කෑම කන කාමරයේ රෑ කෑම කන්ට වූහ. ලාප්තෙෆ් වොඩ්කා වීදුරුවක් ද, අනතුරු ව වයින් ද බීවේ ය. පනවූරෆ් කිසිවක් බීවේ නැත. ඔහු කවදා වත් බොන්නේවත් කඩදාසි සෙල්ලම් කරන්නේ වත් නැත. එහෙත් ඔහු තමන්ගේ දේපොළත්, බිරිඳගේ දේපොළත් වියදම් කොට

තවත් හොඳටම ක්ෂයගැති වී සිටියි. සුළු කලක් ඇතුළත දී විශාල ධනයක් වියදම් කිරීමට දුසිරිත් කීපයකට ඇබ්බැහි වීමට වඩා මුදල් නාස්ති කිරීමේ ශූරකමක් අවශ්‍ය ය. හොඳ ආහාර, කදිම සේවය, රෑ කෑම කන වේලාවලදී සංගීතය, කථා, රූබල් දහයක් හෝ විසිපහක් හෝ ලබා ගන්නා දෙකට නැමෙන වැඩකාරයෝ ආදිය පිළිබඳව පනවූරෆ් මහත් ආශාවක් දක්වයි. ඔහු නිත්‍ය වශයෙන් ම සෑම සම්මාදමක ම, ලොතරැයියක ම කොටස්කරුවෙකු වෙයි. තම මිතුරු කාන්තාවන්ගේ උපන් දින උත්සවවලට ඔහු මල් යවයි. කෝප්ප, වීදුරු, කමිස, බොත්තම්, ටයි පටි, වේවැල්, සුවඳ විලවුන්, සිගරැට් බඳුන්, පයිප්ප, බල්ලෝ, ගිරව්, ජපන් සෙල්ලම් බඩු යනාදී අපූරු දේවල් ඔහු මිලයට ගනී. ඔහු රෑට අඳින්නේ පට කමිස පමණකි. ඔහුගේ කළුවර ඇඳේ සිප්පි කටු ඔබ්බා ඇත. ඔහුගේ රෑ ඇඳුම නියම බොකාර ඇඳුමකි. ඔහු කියන හැටිය 'සල්ලි ගෝනි ගණන්' මේ සියල්ලට ම වියදම් වෙයි.

රෑ කෑම ගනිද්දී පනවූරෆ් සුසුම්ලෑමත්, හිස වැනීමත් කළේ ය.

"ඔව්, මේ ලෝකෙ හැමදේකට ම අවසානයක් තියෙනවා." යි ඔහු තම කළුවන් ඇස් හකුළමින් සෙමින් කීවේ ය. "උඹ පෙම් කරලා දුක් වෙනවා ආයෙමත් ප්‍රේමයෙන් ඈත් වෙනවා. කවදා හරි හැම ගැහැනියක් වගේ ම ඇයත් වෙන කාට හරි ප්‍රේම කරාවි. උඹ දුක් වේවි, කලකිරේවි, අන්තිමේ දී උඹත් ඇය අතෑරල දමාවි. මේ ඔක්කෝම මොකුත් නැතුව නිකං සිහි කිරීම් මාත්‍රයක් විතරක් වෙන කාලයක් පැමිණේවි. උඹ ඒ ගැන උදාසීනව කතා කරාවි, ඒ ඔක්කොම එතකොට වැදගැම්මකට නැති දේවල් මෙන් හිතේවි...."

ලාප්තෙෆ් ට වෙහෙස ය, කරමත් වෙරි ය. ඔහු, පනවූරෆ්ගේ කොට කර කැපූ කදිම කළු රැවුලකින් හෙබි ශෝභන හිස දෙස බැලුවේ, ලස්සන, සැපට වැඩුණු ආත්ම විශ්වාසයකින් යුතු මේ මිනිහාට ගැහැනු මෙතරම් ඇල්මක් දක්වන්නේ මන්දැයි තේරුම් ගත්තාක් මෙනි.

රෑ කෑමෙන් පසු පනවූරෆ් ඔහුගේ අනික් ගෙට ගියේ ය. මඳ දුරක් යන තෙක් ලාප්තෙෆ් ද ඔහු සමග ගියේ ය. නගරයේ සිටින්නවුන්ගෙන් උස් තොප්පියක් පළඳින එකම තැනැත්තා පනවූරෆ් පමණි. අළු පාට වැටවල්, කාලකන්නි ලී ගෙවල්, කහඹිලියා ගොනු අසලින් යන විට ඔහුගේ ජේත්තුකාර ශෝභන දේහය, උස් තොප්පිය,

කහපාට අත් මේස්, යන මේවා එකිනෙකට නොගැළපෙන ගතියක් මෙන් ම එක්තරා විදියක ශෝකී භාවයක් ද ගෙන දුන්නේ ය.

ලාප්තෙෆ් ඔහුට ආයුබෝවන් කියා හෙමින් හෙමින් ගෙදර යන්නට විය. හැම තණකොළයක් ම පෙනෙන තරමට සඳ දීප්තිමත්ව බබළයි. ආවරණයක් නැති තම හිස සඳරැසින් දයාවෙන් වැළඳගන්නාක් මෙන් ඔහුට දැනිණි.

"මම ප්‍රේමයෙන් වෙලිලා!" යි ඔහු හඬ නගා කීවේ ය. පනවුරෆ් කරා ගොස් ඔහු වැළඳ ගන්නටත්, ඔහු කළ සියලුම වැරදිවලට සමාව දෙන්ටත් ඔහුට විශාල මුදලක් තෑගි වශයෙන් දෙන්ටත්, අනතුරු ව කොහේ හරි, කුඹුරුවලට හෝ වනරොදවලට හෝ ආපසු නොබලා දුවන්නටත් ඔහුට සිතිණි.

ඔහු ගෙදර ගිය විට අමතක වී ගිය යූලියා සෙර්ගේයෙව්නාගේ කුඩය පුටුවක් උඩ තිබෙනවා දුටුවේ ය. ඔහු එය හතික ගෙන තම තොල්වලට තබා තද කර ගත්තේ ය. එය පරණ රබර් පටියකින් හා ඇටවලින් කළ ලාබ සුදු මිටකින් යුක්ත පරණ පට කුඩයකි. ලාප්තෙෆ් එය දිග හැර ඉහළා ගත්තේ ය. එය ඔහු තුළ මහත් ප්‍රමෝදක් ඇති කළාක් මෙන් හැඟිණි.

ඔහු සැප පහසු ලෙස පුටුවක වාඩි විය. ඔහු තවමත් කුඩය අල්ලාගෙන මොස්කව් නුවර සිටින තම මිතුරකුට ලියමනක් ලියන්ට පටන් ගත්තේ ය.

"මගෙ දයාබර, දයාබර කෝස්ත්‍යා, මට උඹ එක්ක කියන්න තොරතුරු ටිකක් තියෙනවා. මම ආයෙමත් ප්‍රේමයෙන් වෙලිලා! මම ආයෙමත් කිව්වේ අවුරුදු හයකට ඉස්සරින් මට කවදාවත් කතා කරන්න බැරි වුණු මොස්කව් නුවර තිළියක් එක්ක ප්‍රේමයෙන් වෙලිල හිටිය නිසයි. උඹ දන්නවා, පහුගිය අවුරුදු එක හමාර ඇතුළත මම 'අරයා' සමඟ - තරුණත් නැති ලස්සනත් නැති ගැහැනියක් සමඟ - වාසය කළ බව. ආ, මගෙ දයාබර මිත්‍රය, මගේ ප්‍රේම සම්බන්ධ කොයි තරම් අවාසනාවන්ත ද! ගෑනු සමඟ ආශ්‍රයෙන් මට කවදාවත් ජයක් ලැබිලා නැහැ. මම ආයෙමත් යන වචනය කිව්වෙත් ප්‍රේමයෙන් තොර ව ගත වෙන මගේ තරුණ කාලය ගැන වේදනාවක්, දුකක් මා තුළ ඇති වුණු නිසාම යි. අවුරුදු තිස් හතරේ දී, දැන් තමයි ආලය කියන්නේ මොකක් ද කියල මම නියම වශයෙන් ම ඉගෙන ගත්තේ. ඉතින් ආයෙමත් ඒක එහෙම වුණා වේ."

"මේ කෙල්ල උඹ දන්නව නම්! උඹ කියන්නේ නෑ, ඇය රූමතියක්

කියල. ඇයට නෙරා ගිය කොපුල් ඇට තියෙනවා. ඈ හරි කෙට්ටුයි. නමුත් ඇගේ මුහුණෙ තියෙන්නේ කොතරම් කරුණාවන්ත පෙනුමක් ද! ඇගේ මඳ සිනාව කොතරම් සුන්දර ද! ඉතින් ඇගේ කටහඬ ගීතවත්! ඇය මා එක්ක කවදාවත් කථා කරන්නේ නෑ. මම ඇය සැබැවින් ම දන්නවයි කියල මට කියන්න බැහැ. ඈ ළඟ ඉන්නකොට මට හැඟෙනවා, මම දුර්ලභ, අසාමාන්‍ය, අසීමිත ප්‍රඥාවකින් හෙබි, උදාර කෙනෙක් ඉදිරිපිට ඉන්නව වගේ. ඈ භක්තිමත්. කොතරම් ගැඹුරු විදියට ඈ මගේ ඇස් පිනවනව ද කියල උඹට හිතන්ඩ බෑ. මේ කරුණු උඩ මම ලෑහැස්තියි උඹ එක්ක කෙළවරක් නැතිව වාද කරන්ඩ. උඹට ඕනෑ හැටියට හිතන්ඩ පුළුවන්. එහෙත් ඈ පල්ලියේ යාඥා කරද්දී මම ප්‍රේම කරනවා. ඈ ගම්බද කෙල්ලක්. නමුත් ඈ ඉගෙන ගෙන තියෙන්නේ මොස්කව් නුවර. මොස්කව් නුවරට ආසා කරනවා. මොස්කව් පන්නයේ ඇඳුම් අඳිනවා. ඒ සඳහාත් මම ඇයට ප්‍රේම කරනවා, ප්‍රේම කරනවා, ප්‍රේම කරනවා. උඹ ඉඟි මරල, නැගිටගෙන ප්‍රේමය යනු කුමක් ද, ප්‍රේම කළ යුත්තේ කාටද, නොකළ යුත්තේ කාටද යනාදී වශයෙන් දිග දේශනයක් කරන්ට යන හැටි මට පේනවා. නමුත් දයාබර කොස්ත්‍යා, ප්‍රේම නොකරන තුරු ම ප්‍රේමය කියන්නෙ මොකක් ද කියලා මම දැනගත්තා."

"මගෙ සහෝදරිය උඹට ස්තුති කළා. ඇය මතක් කිරීම ගැන. ඈ නිතරම මතක් කරනවා පුංචි කෝස්ත්‍යාව බාලාංශ පංතියට එක් කරගෙන ගිය හැටි. ඈ උඹට තවම කියන්නෙ 'අසරණ කෝස්ත්‍යා' කියල. ඈ තවම හිතන්නේ උඹ අනාථ දරුවෙක් කියල. ඉතින්. මගේ පුංචි, අනාථ අසරණ කොළුවෝ, මම ප්‍රේමයෙන් වෙලිලා. ඒක රහසක් හැටියට තියාගන්න ඕන. කරුණාකරලා 'අරයා එක්ක එහෙම සැක හිතෙන්න මොකුත් කියන්න එපා. ඒක සතුටුදායක විදියට හරියාවි කියලා මම හිතනවා. තොල්ස්තෝයිගේ නවකථාවක එන සේවකයා ඔක්කොම හරි යාවි කිව්ව වගේ."

ලාප්තෙෆ් ලියුම ලියා හමාර කොට නිදාගන්ට ගියේ ය. වෙහෙස නිසා ඔහුගේ ඇසිපිය බර වූවාක් මෙනි. එහෙත් කිසියම් හේතුවක් නිසා ඔහුට තවම නිදා ගත නොහැකි විය. පාරේ හඬ දෙන ශබ්දයන් තමා අවදි කරනවා යයි ඔහු සිතුවේ ය. ගව රැළක් ගෙය පසු කර ගෙන යනවාත්, ගොපලුන්ගේ නළා හඬත්, පාන්දර පූජාවට පල්ලියේ සීනුව ගසන හඬත් ඔහුට ඇසුණේ ය. කරත්තයක් පැද්දි පැද්දී හෙමින් හෙමින් යයි. වෙළඳාම් පොළට යන ගැමි ගැහැනියකගේ කටහඬ ඇසේ. ගේ කුරුල්ලෝ අතරක් නැතුව නද දෙති.

## II

ඒ දීප්තිමත් පියකරු උදයකි. දහයට විතර දුඹුරුවන් ඇඳුමක් ඇඳ කෙස්වැටිය මනාව පීරා සකස් කොටගත් නීනා ෆියෝදරව්නා ව විසිත්ත කාමරයට එක්කර ගෙන ගියහ. කාමරයේ මඳ වේලාවක් එහා මෙහා ඇවිද්ද ඇ ළමයෙකුගේ වැනි පැතිරුණු මඳ සිනාවක් පාමින්, අරින ලද ජනේලය ළඟ සිට ගත්තා ය. වරක්, බීමට කැමති එක්තරා ගම්බද සිත්තරෙක් තමා දෙස බලා තම මුහුණ ශුද්ධ වූ ප්‍රතිමාවක් මෙනැ යි කී කියමන ද, රුසියාවේ අළු බදාදාට පෙර දින දක්වෙන දර්ශනයට චිත්‍රයක් ඇඳීම සඳහා තමාට ආයාචනය කළ සැටි ද මතක් විය. එම උදයේ සෑම කෙනෙක් තුළ ම - ළමයින්, වැඩකාරයින්, ඇගේ සහෝදර අලෙක්සේයි තුළ පමණක් නොව ඇ තුළ පවා - තම රෝගය සුව අතට හැරේවි ය යන නිශ්චිත අදහසක් හදිසියෙන් ම ඇති විය. කුඩා ගෑනු ළමෝ කෑ ගසමින් ද, හඬ නගා සිනාසෙමින් ද තම මාමා පසුපස දිව්වෝ ය. ගෙදර නැවතත් ප්‍රාණවත් භාවයක් ඇති විය.

එදින නගරයේ සෑම පල්ලියක ම ඇ වෙනුවෙන් පූජා පැවැත්වූ බව කියමින් මිනිස්සු සත් ප්‍රසාද පූප පෙති රැගෙන ඇගේ සුව දුක් බැලීමට පැමිණියෝ ය. පින් දහම් කටයුතු ගැන ඇ ප්‍රසිද්ධියක් ඉසිලූ බැවින් මිනිස්සු ඇයට ආදරය කළහ. නිදහසේ මුදල් වියදම් කරන තම සහෝදර අලෙක්සේයි මෙන්, එය නුවණක්කාර වැඩක් ද නැද්ද යනුවෙන් නොසිතා, ඇ අත හිත ඇතුව දනට පිනට දෙයි. නීනා ෆියෝදරව්නා දුප්පත් ශිෂ්‍යයන් සඳහා පාසල් ගාස්තු ගෙව්වා ය. මහළු ගෑනුන්ට තේ, සීනි, ජෑම් ආදිය දුන්නා ය. දිළිඳු මනාලියන්ට උවමනා ඇඳුම් ආයිත්තම් සැපයුවා ය. ප්‍රවෘත්ති පත්‍රය පැමිණි විට ඇ පළමුවෙන් ම බලන්නේ ආධාරයක් සඳහා කිසිවකු විසින් ආයාචනයක් කර තිබේ ද, නැතිනම් කිසිවකුගේ දුකක් ගැන දැන්වීමක් පළ කර තිබේ ද යන්න ය.

මේ වේලාවේ ද ඇ අතේ තිබුණේ තමාගේ ගණනට දුප්පත් මිනිසුන් ණයට බඩු ගත් කඩේ වෙළෙන්දා විසින් එවන ලද බිල්පත් ගොඩකි.

"දෙයියනේ උන් කොච්චර ගොඩක් අරන් තියෙනවා ද ? උන්ට කොහොමවත් හැඟීමක් නැති හැටි ?" ලියවිලිවල වූ තමන්ගේ අත් අකුරු කියවා තේරුම් ගත නුහුණක් මෙන් ඇ කීවා ය. "ඒක හිතන්න. රූබල් අසූ දෙකක්. මං ගෙව්වේ නැත්නම් මොකද වෙන්නේ ?"

"මං ඒක අද එයාට ගෙවල දාන්නම්" ලාප්තෙෆ් කීවේ ය.

"නෑ නෑ, උඹ ගෙවන්ඩ ඕන නෑ" යි නීනා ෆියෝද්‍රව්නා කලබලයෙන් කියන්ට වූවා ය. "උඹෙනුයි ෆියෝද්ර්ගෙනුයි හැම මාසෙක ම ලැබෙන රූබල් දෙසිය පනහ මට ඇති. උඹල දෙන්නට ම දෙයියන්ගෙ පිහිටයි." වැඩකාරයන්ට නෑසෙන පිණිස ඈ සෙමින් කීවා ය.

"නමුත් මං මගේ ම උවමනාවලට වියදම් කරනවා මාසෙකට රූබල් දෙදහස් පන්සීයක්" ඔහු කියන්ට විය. "අක්කට මං කියන්නම් ආයෙමත්. මටයි, ෆියෝද්ර්ටයි වගේ ම උඹටත් තියෙනවා මුදල් වියදම් කරන්න අයිතියක්. අන්න ඒක හොඳට තේරුම් ගන්ඩ. අපි තුන් දෙනෙක් ඉන්නවා. හැම කොපෙක් තුනකින් ම එකක් අක්කටත් අයිතියි."

එහෙත් එය නීනා ෆියෝද්‍රව්නාට තේරුම් ගත නොහැකි විය. අවුල් සහගත ගණිත ප්‍රශ්නයක් විසඳන්නට වෑයම් කරන්නාක් වැනි පෙනුමක් ඇගේ මුහුණින් පළ විණි. මුදල් පිළිබඳ ඇගේ නොදත් කම ලාප්තෙෆ් හැමවිට ම කලබලයට පත් කිරීමට හේතු විය. කියන්ට තරම් ලජ්ජා උපදවන ණය ගනුදෙනු ඇයට ඇතැයි ද, ඒ නිසා ම ඇය දුක් විඳිතැයි ද ඔහු සැක කළේ ය.

එවේලේ ම අඩි ශබ්දයක් හා අමාරුවෙන් හුස්ම හෙලන හඬක් පඩිපෙළ දෙසින් ඇසිණි. ඒ දොස්තර ය. ඔහු වෙනදා මෙන් ම අපිරිසිදු ය.

"රූ-රූ-රූ-රූ" ඔහු හඬ නැගුවේ ය. "රූ-රූ"

ලාප්තෙෆ් ඔහු හමු වීම වළක්වනු පිණිස කෑම කන කාමරයට ගොස් එතැනින් තම කාමරයට ගියේ ය. දොස්තර සමඟ, ගෙදරට නිතර යන එන කෙනෙකුගේ තත්වයට තරම් කිට්ටු කුළුපගකමක් ඇති කර ගැනීමට ඔහුට නොහැකි ය. ඇරත් පනවූරෆ් කියන හැටිය මේ 'නාකි ගුඩ්ඩා' ඔහුට රුස්සන්නේ නැත. ඔහු යූලියා සෙර්ගේයෙව්නා බලන්ට නිතර දෙවේලේ නොගියේ ද ඒ නිසා ය. මේ වේලාවේ ඇගේ පියා ගෙදර නැති බව ඔහුට කල්පනා විය. දූන් කුඩයත් අරගෙන යූලියා සෙර්ගේයෙව්නාගේ ගෙදරට ගියොත් නිසැකයෙන් ම ඔහුට ඇය හුදෙකලාව හමු විය හැකි ය. ඔහුගේ හද ප්‍රීතියෙන් උතුරා ගියේ ය. ඔහු ඉක්මන් කළ යුතු ය. ඉක්මන් කළ යුතු ය.

ඔහු කුඩය ගත්තේ ය. වෙව්ලමින් ප්‍රේමයේ පියා විදහාගෙන

ඇය කරා පියැඹුවේ ය. පිටත උණුසුම් ය. අවුරුදු කීපයක සිට අලුත්වැඩියා කිරීමට අදහස් කරගෙන සිටින පරණ යාබද ගෙවල් තුනක වසන පිරිමි ළමයි කණ්ඩායමක් කහඹිලියා ආදී වල් ගස් වැවුණු දොස්තරගේ විශාල වත්තේ මහ හඬින් කෑ ගසමින් පන්දු ගසමින් සිටියහ. යූලියා සෙර්ගේයෙව්නා වත්තේ ඈත කොණක, දොරටුවට පිටුපසින් සිට ගෙන, අත් පිටිපස්සට තබා ගෙන ඔවුන්ගේ ක්‍රීඩාව බලාගෙන සිටියා ය.

"ආයුබෝවන්" ලාප්තෙෆ් ඇයට කථා කළේ ය.

ඈ ඔහු දෙසට හැරුණා ය. කලින් දිනවල දී වෙහෙසට පත් පෙනුමක් ඇති ඇගේ සුපුරුදු උදාසීන මුහුණු එවේලේ ඈ අවට සිටි ළමයින්ගේ මුහුණු මෙන් ම ප්‍රීතියෙන් යුක්ත ය.

"බලන්න, මෙච්චර ලස්සන සෙල්ලමක් ඔයාට කවදාවත් දකින්ඩ හම්බ වෙන්නෙ නෑ මොස්කව් නුවරදී වත්." ඔහු දෙසට එමින් ඈ කීවා ය. "ඔව් ඒ පැත්තෙ වතු හුඟක් කුඩයි. දුවන්ඩ ඉඩකඩ මදි. තාත්තා මේ දැන් ඔයාලගෙ ගෙදර ගියා." ඈ ආපසු හැරී ළමයින් දෙස බලමින් කීවා ය.

"මං දන්නවා. මං ආවෙ තාත්තව හම්බ වෙන්න නෙවි. ඔයාව හම්බ වෙන්ඩ" යි ඔහු කීවේ එකෙණෙහිම වටහා ගත් ඇගේ තරුණභාවය දෙස ද ඇගේ සිහින් සුදු ගෙල පැළඳී රන් මාලය දෙස ද මහත් ආශාවෙන් බලමිනි. "මං ඔයාව හම්බ වෙන්ඩයි ආවේ" යි ඔහු නැවතත් කීවේ ය. "මේ ඔයාගෙ කුඩේ. අක්කා කීවා ඒක ඔයාට ගෙනත් දෙන්ඩ කියල. ඔයාට ඊයෙ ඒක අමතක වෙලා ඇවිල්ලා."

ඈ කුඩය ගැනීමට අත දිගු කළා ය. එහෙත් ඔහු හදිසියෙන් ම එය පපුවට තබා තද කර ගත්තේ ය.

"අනේ ඒක මා ගාව තිබුණාවෙ" යි පෙර දින සවස කුඩය ඉහලා ගැනීමෙන් තමන් අත් දුටු අපූරු ප්‍රීතිය නැවතත් ඔහු අත් දකින්නාක් මෙන් බලවත් හැඟීමෙන් කියන්නට විය. "ඔයාව මතක් වෙන්ඩ මම ඒක තියා ගන්නවා ..... අපේ යාළු කම. ඒක හරි පුදුමයි."

"ඒක ඔයා තියාගන්න" යි ඈ තෙපළා ය. ඇගේ මුහුණ රතු විය. "නමුත් ඒකෙ පුදුම වෙන්ඩ දෙයක් නෑ."

ඔහු නිහඬ ප්‍රමෝදයෙන්, කථා කරන්ට වචන නැති වූවාක් මෙන් මහත් ආශාවෙන් ඇය දෙස බලා සිටින්ට විය.

"ඔයාව මොකටද මේ ගිනි අව්වෙ තියාගෙන ඉන්නෙ" යි මඳක් නිහඬ ව සිට කී ඈ සිනාසුණා ය. "එන්න ගෙට."

"මං ඔයාට කරදරයක් ද?"

ඔවුහු ගේ තුළට ගියහ. යූලියා සෙර්ගේයෙව්නා උඩු මහලට දිව්වා ය. ඇගේ සුදු මල් ඇඳුම 'සර සර' ගා හඬ දුන්නේ ය.

"මට කරදර කරන්ඩ කාටවත් බෑ." යි ඈ තරප්පු පෙළේ මඳක් නතරව සිට පිළිතුරු දුන්නා ය. "ඒ මොකද දන්නවද, මං කවදාවත් මොකුත් කරන්නෙ නෑ. මට හැමදාම නිවාඩුයි, උදේ හිට රෑ වෙන කලියෙන් ම."

"මට ඒක තේරෙන්නේ නෑ." යි ඔහු ඈ දෙසට යමින් කීවේය. "ඔයා දන්නව ද, මම ඇති දැඩි වුණේ හැමදාම එක වගේ වැඩපොළ කරන ගෑනු පිරිමි අතර"

"නමුත් මොකද කරන්නෙ, කරන්න මොකුත් නැත්නම්." ඈ ඇසුවා ය.

"වැඩ කරන්න ඕන වෙන විදියට ජීවිතය හැඩ ගස්සා ගන්න ඕන. වැඩ කරන්නේ නැතුව පිරිසිදු ප්‍රීතිමත් ජීවිතයක් ගත කරන්ඩ බෑ."

ඔහු නැවතත් කුඩය තමන්ට තබා තද කරගත්තේ ය. ඉන් පසු තම කටහඬ හඳුනා ගැනීමට නොහැකි වීම ගැන තමා ම පුදුම වෙමින් ඔහු මෙසේ කියන්නට විය:

"ඔයා මගෙ බිරිඳ වෙන්ඩ කැමති නම් මට තියෙන ඔක්කෝම ඔයාට දෙනවා. ඔක්කෝම.... ඔයා වෙනුවෙන් කැප කරන්ඩ බැරි මොකුත් මා ළඟ නෑ."

ඈ තිගැස්සිණි. අනතුරු ව බියෙන් ද, පුදුමයෙන් ද ඔහු දෙස, බලා සිටියා ය.

"අයියෝ නෑ." යි සුදුමැලි වෙමින් ඈ කීවා ය. "ඒක වෙන්ඩ බෑ. මං දිවුරනවා, සමා වෙන්න."

ඈ තම ගවුම 'සර සර' හඬ නංවමින් උඩු මහලට දිව ගොස් දොරක් පිටුපසින් නොපෙනී ගියා ය.

එය කුමක්දැයි ලාප්තෙෆ් එක පාරට ම තේරුම් ගත්තේ ය. තම හිත තුළ පැවැති එළියක් නිවී ගියාක් මෙන් ඔහුගේ චිත්ත ස්වභාවය හදිසියෙන් ම වෙනස් විය. ඔහු ලජ්ජාවෙන් දැවෙමින් හනික ගෙයින් පිට විය. පා පහරක් ගසා එළවා දමුවාක් වැනි, අප්‍රිය කරනු ලැබුවාක් වැනි, පිළිකුල් කරනු ලැබුවාක් වැනි නින්දා සහගත හැඟීමක් ඔහු තුළ ඇති විණි.

"මට තියෙන ඔක්කෝම දෙනවා" යි තමා ඈ හා කී සියල්ල

මතක් වී ගිනි අව්වේ ගෙදර යන ගමන් ඔහු සාවඥව තමන්ට ම කියා ගත්තේ ය. "මම ඔක්කෝම දෙනවා. කොහොම වෙළෙන්දෙක් ද. හරියට ඔක්කෝම ඕන කළා වගේ."

ඔහු ඈ හා කී හැම දෙයක් ම අසික්කිත ය, මෝඩ ය. තමා හැමදාම වැඩ කරන මිනිසුන් අතර ඇති දැඩි වුණා යයි කියා බොරු කීවේ කුමට ද? නිර්මල ප්‍රීතිමත් ජීවිතයක වටිනාකම කීවේ මන් ද? ඒවා මොට්ට, සිත් නොගන්නා බොරු ය. - බොරු ය, මොස්කව් චාටු බස් ය. එහෙත් ටිකින් ටික, නඩු තීන්දුවකින් පසු අපරාධකරුවකු තුළ ඇතිවන්නාක් වැනි දැඩි උදාසීන බවක් ඔහු තුළ ඇති විය. භයානක, අවිනිශ්චිත සියල්ල ඉවර වුණාක් මෙන් ඔහු දෙවියන්ට පින් දුන්නේ ය. දැන් සියල්ල ම පැහැදිලි ය. දැන් ඔහුට ප්‍රීතියක් නොමැත, බලාපොරොත්තුවක් නොමැත, සිහින දැක්මක් නොමැත, ආශාවක් නොමැත. මේ තත්වයෙන් ඔහු තුළ පැන නැගුණු මහත් පිළිකුලත්, ඒකාකාර බවත් වැළැක්වීමට අනික් මිනිසුන්ගේ සතුට උදෙසා ඔහු වැඩ කළ යුතු වනු ඇත. එය ඔහු වටහා ගැනුමට පෙර මහලු වයස එළඹෙනු ඇත. අන් කිසිවක් වුවමනා නැත. දැන් නම් ඔහු එය අබමල් රේණුවක් තරමවත් ගණන නොගනී. බලවත් හැඟීමකින් තොරව ඔහුට සියල්ල කල්පනා කළ හැකි ය. එහෙත් තවම ඔහුගේ මුහුණේ, විශේෂයෙන් ම ඇස්වලට පහතින් පුදුම බර ගතියක් දනෙයි. ඔහුගේ නළල රබර් පටියකින් තද කොට වෙලා තිබෙන්නාක් මෙනි. කඳුළු කඩා හැලෙන්ට ළං වූවාක් මෙනි. ඔහු දුර්වල ව තම ඇඳෙහි වැතිරුණේ ය. විනාඩි පහකින් ඔහුට හොඳටම නින්ද ගියේ ය.

## III

ලාප්තෙෆ්ගේ බලාපොරොත්තු රහිත විවාහ යෝජනාව යූලියා සෙර්ගේයෙව්නා තුළ ඇති කළේ බලවත් පීඩාවකි.

ඈ ලාප්තෙෆ් දැන සිටියේ යාන්තමිනි. ඇයට ඔහු මුණ ගැසී ඇත්තේ අහම්බෙනි. ඔහු ධනවත් මිනිහෙකි. මොස්කව් නුවර ප්‍රසිද්ධ වෙළෙඳ සමාගමක් වන 'ෆියොදර් ලාප්තෙෆ් සහ පුත්‍රයෝ' යන සමාගමේ කොටස් කරුවෙකි. හැමවිට ම පාහේ බැරෑරුම් ගතියක් උසුලන ඔහු පෙනෙන හැටියට දක්ෂ ය. තම සහෝදරියගේ රෝගය ගැන ඔහු මහත් සැලකිල්ලක් දක්වයි. තමා කෙරෙහි ඔහු කිසියම් සැලකිල්ලක් නොදක්වෙන්නේ යන හැඟීමක් ඈ තුළ විය. ඈ ද ඔහු කෙරෙහි සැලකිල්ලක් දැක්වූයේ නැත. තරප්පු පේළියේ දී කළ මේ

විවාහ යෝජනාව, ඔහුගේ මුහුණෙහි ඇති වූ බැගෑපත් ප්‍රමුදිත පෙනුම මේ සියල්ල හදිසියේ සිදු වූ නිසාත්, ඔහු බිරිඳ යන වචනය කී නිසාත්, තමා ඔහු ප්‍රතික්ෂේප කළ නිසා ත් ඇය තුළ අවුල් ස්වභාවයක් ඇති විය. ඔහුට කුමක් කීවේ දැයි ඇයට මතක නැත. එහෙත් ඈ තුළ ඇති වූ අප්‍රසන්න හැඟීම තවම පවතී. ඈ ඔහු ප්‍රිය කළේ නැත. ඔහුගේ පෙනුම වෙළඳසැලක බඩු විකුණන්නකුගේ පෙනුම වැන්න. යන්තම් හෝ සිත් ගන්නා සුළු බවක් ඔහු තුළ නොමැත. ඇට ඔහු කොහොමටවත් පිළිගත නොහැකි ය. එහෙත් ඇයට අපහසු ගතියක් දැනෙන්නට විය.

"දෙයියන්ට ඔප්පු වෙච්චාවෙ - තරප්පු පේළියේදී, කාමරයටවත් නොගිහිල්ලා" යි ඈ තම ඇඳට ඉහළින් එල්ලා තිබුණු කුඩා දේව රූපය දෙසට හැරෙමින් බලාපොරොත්තු රහිතව තෙපලා ය. "ප්‍රේම කරන්නෙවත් නැතුව, ඒක හරි විහිළුවක්."

තමා කෙළේ හරි දෙයකි යි යන්න සහතික කොට කිසිවෙකු සමග නොකියන තෙක් ම ඇගේ කලබලකාරී බව පැයෙන් පැය වැඩි විය. එහෙත් ඇයට කථා කිරීමට කිසිවකු නැත. ඇගේ මව මැරී බොහෝ කල් ය. ඇගේ පියා කිසියම් ප්‍රශ්නයක් ගැන බැරෑරුම් ලෙස කථා කරන්නට තරම් පුළුවන් මිනිහෙක් නොවේ. ඔහුගේ හිතුවක්කාර ගති, වේදනා සහගත ඉක්මණින් කිපෙන ගතිය, ක්‍රමයක් නැතුව අනපය සෙලවීම යනාදිය ඇය තුළ කේන්තියක් ඇති කරයි. ඇරත් ඈ ඔහු සමඟ මොනව ගැන කථා කළත් එය තමන් ගැන ම කරන කථාවකට ඔහු පෙරළා ගනියි. ඈ තම යාඥා - ගැන පවා අවංක භාවයක් නොදැක්වූවා ය. කුමක් සඳහා යාඥා කළ යුතු ද යනු ඇයට නොවැටහිණි.

කේතලය ගෙනෙන ලදී. යූලියා සෙර්ගේයෙව්නා බෙහෙවින් සුදුමැලි, වෙහෙස මහන්සි ගතියකින් යුතු අසරණ පෙනුමකින් කෑම කන කාමරයට පැමිණ තම දිනපතා කාරිය වන තේ හැදීම කළා ය. අනතුරුව ඈ තම පියා සඳහා තේ වීදුරුවක් වත් කළා ය. රතු මුහුණක් ඇති අපිරිසිදු සෙර්ගේයි බොරිසිච් දණහිස තෙක් වැටෙන තම දිග කබාය ඇඳ ගෙන, අත් සාක්කුවල ඔබා ගෙන කූඩුවක දැමූ සතෙකු මෙන් කෑම කන කාමරයේ ඔබ මොබ සක්මන් කරමින් සිටියේ ය. ඉඳ හිට මේසය ළඟ මඳක් නතරව තම තේ වීදුරුවෙන්, සඳු මරමින් තේ ටික ටික උරා බොමින්, නැවතත් පෙර සේ ම කල්පනාවෙන් යුතු ව ඔබ මොබ සක්මන් කරන්ට විය.

"ලාප්තෙෆ් අද මට විවාහ යෝජනාවක් කළා" යි යූලියා සේර්ගේයෙව්නා කීවා ය. ඇගේ මුහුණ රතු විය.

අදහාගත නුහුණකු මෙන් දොස්තර ඈ දෙස බලාගෙන සිටියේය.

"ලාප්තෙෆ් ?" ඔහු ඇසුවේ ය. "නීනාගේ සහෝදරයා ?"

ඔහු තම දියණියට ආදරය කළේ ය. ඈ කවදා හරි විවාහ වී තමා ඇත්හැර යන බව ඔහු තේරුම් ගෙන තිබුණි. එහෙත් ඔහු ඒ ගැන සිතීමට වෑයම් නොකළේ ය. මේ විශාල ගෙයි හුදෙකලාව වසන්ට වීම ඔහුට බිය ගෙන දෙන කරුණකි. ඔහු එය නොකීවත් එසේ හුදෙකලාව සිටීමෙන් තමාට යම් කිසි දිනෙක මොළේ ආබාධයක් ඇති වෙති යි යන විශ්වාසයක් රහසිගතව ම ඔහු සිත් තුළ වැද ගෙන තිබුණේ ය.

"ඇත්තෙන්, මට හරි සන්තෝෂයි." ඔහු දෙවුර හකුළමින් කීවේ ය. "මගෙ මුළු හෘදයෙන් ම උඹට ආශිර්වාද කරනවා. දැන් උඹට තියෙනවා හොඳ අවස්ථාවක්, මාව අතෑරලා යන්න. ඉතින් උඹ හරියට හරි. නාකි තාත්තා එක්ක, ලෙඩ වෙච්ච බාගෙට පිස්සු වැටිච්ච සතෙක් එක්ක ඉඳීම තරුණ කෙනෙකුට බොහොම අමාරුයි. උඹ හරියට හරි. ඉක්මනින් මාව මැරිලා යනවා නං, මරුව මාව ඉක්මනින් ගෙනියනව නං. ඒකෙන් ඔක්කෝටම සැනසීමක් ලැබේවි. දුවේ, මං උඹට ආශිර්වාද කරනවා."

"මං එයාට බැහැ කිව්වා."

මෙය දොස්තර තුළ බොහෝ දුරට සහනයක් ඇති කළේ ය. එසේ වුව ද ඔහුට තමා මැඩ පවත්වා ගත නොහැකි විය.

"මට ම පුදුමයි තාම මාව පිස්සන් කොටුවකට නොදමන්නෙ මොකද කියල." ඔහු කියන්ට විය. "ඇයි මං මේ දිග කබායක් ඇඳගෙන ඉන්නෙ පිස්සන්ගෙ අත් හිර කරන කබායක් අඳිනවා වෙනුවට. මට තාම සත්‍ය ගැනයි, ගුණ ධර්ම ගැනයි විශ්වාසයක් තියෙනවා. මම මෝඩ කරුණාවන්තයෙක්. ඒක මේ කාලේ තියෙන පිස්සුවක් නොවෙයි ද? ඉතින් මගේ සත්‍යවාදී කමට යි, අවංකකමට යි මට මොනව ද ලැබෙන්නේ ? මිනිස්සු මට ගල් නොගහන එක විතරයි. මගෙන් අයුතු ප්‍රයෝජන ගන්නවා. මගේ ළඟ ම නෑයො මගෙ කර උඩින් යන්ඩ හදනවා. මං වගේ කාලකණ්ණි මෝඩ නාකියෙක්."

"තාත්ත එක්ක කථා කරන්නවත් බෑ නේ" යි යූලියා කීවා ය.

ඈ හනික එතැනින් නැගිට කාමරයට ගියේ බලවත් කෝපයෙන් කැකෑරෙමිනි. ඔහු ඇයට නිතර ම සලකන්නේ අසාධාරණ අන්දමකට

ය. එහෙත් ඉක්මනින් ම ඔහු කෙරෙහි ඇය තුළ ශෝකයක් ඇති විය. ඔහු සමාජ ශාලාවට යන වේලාව පැමිණි විට ඈ ඔහු පාත මාලයට ඇරලුවා ය. ඉක්බිති ඔහු ගිය පසු දොර වැසුවා ය. ඒ සුළඟ සහිත චංචල රැයකි. සුළඟ වැදීමෙන් දොර සැලෙයි. ඇය අත තිබුණු ඉටිපන්දම නිවෙන්න යන තරම් තද සුළං පහරක් දොරටුවෙන් එයි. උඩු මහලේ වූ තමාගේ කාමරටවලට ඈ ගියා ය. ගොස් සියලු ම දොර ජනේලවල කුරුසය ලකුණු කළා ය. සුළඟ මහා හඬින් වැලපෙයි. කාලය සෙමින් සෙමින් ඇද්දීගෙන යයි. මෙතරම් තනි කමක් ඇයට කවදාවත් නොදැනිණි.

ලාප්තෙෆ්ගේ පෙනුම ප්‍රිය නොකරන හෙයින් ඔහු ඉවත දැමීමෙන් තමා කළේ හරි වැඩක් දැයි ඈ තමාගෙන් ම අසා ගත්තා ය. ඈ ඔහුට ආලය නොකරන බව ඇත්ත ය. ඔහු සමග විවාහ වීම, ඇගේ සිහිනවලටත් සැපත හා විවාහ ජීවිතය ගැන ඈ සිතූ දේවලටත් සඳහටම ආයුබෝවන් කීමක් වනු ඇත. එහෙත් ඈ හිතෙන් මවා ගත් මිනිසා ඇයට කිසි දිනෙක හමු වේ ද? දැනට ම ඇගේ වයස විසි එකකි. ඇයට ගැලපෙන මිනිසුන් නගරයේ නැත. තමා දන්නා සියලුම මිනිසුන් - ආණ්ඩුවේ සේවකයින්, ගුරුවරුන්, නිලධාරීන් ආදී සෑම කෙනෙක් ගැන ඈ මෙනෙහි කළා ය. ඔවුන්ගෙන් සමහරු දැනට ම විවාහ වෙලා ය. ඔවුහු විශ්වාස කරන්ඩ බැරි තරම් නීරස, හිස් ජීවිත ගත කරති. අනික් උදවිය, සිත් නොගන්නා, අශිෂ්ට, මෝඩ නැතහොත් අවකල්කිරියාවෙහි යෙදෙන්නෝ ය. එසේ වුවත් ලාප්තෙෆ් මොස්කව් නාගරිකයෙකි, විශ්ව විද්‍යාල උපාධිධරයෙකි. ඔහු ප්‍රංශ භාෂාව කථා කරයි. ඔහු වාසය කරන්නේ, බොහෝ දක්ෂ සැලකිය යුතු මිනිසුන් වසන, ජීවිතය ප්‍රීතිමත් කරන, නොයෙක් ජාති පුදුම නෘත්‍ය ශාලා තිබෙන, සංගීත සන්ධ්‍යාවන් පවත්වන, ඉස්තරම් ඇඳුම් මහන්නන් සිටින රස කැවිලි සාප්පු තිබෙන අගනුවර ය..... බිරිඳ තම සැමියාට ආලය කළ යුතු යැයි බයිබලයේ කියා තිබේ. නවකථාවල ද ඒ ගැන බොහෝ දේ කියා ඇත. බාග වෙලාවට ඒ සියල්ල ම අතිශයෝක්තීන් විය හැකි ය. ප්‍රේමය නැතුව විවාහය සිදු නොවිය හැකි ද? ප්‍රේමය අතුරුදන් වන බවත් එහෙත් පුරුද්ද එසේ ම පවතින බවත්, මිනිස්සු නොකියත් ද? විවාහයේ පරමාර්ථය ප්‍රේමයවත් ප්‍රීතියවත් නො වෙයි. එය එකතරා කාරියකි. උදාහරණයක් වශයෙන් දරුවන් වැදීම, ගේ දොර බලා කියා ගැනීම ආදිය යි. සමහර විට බයිබලයේ සඳහන් ආලයෙන් පවා අදහස් කළේ, ගෞරවය, ඉවසීම, තම අසල්වැසියාට

මෙන් තම සැමියාටත් ප්‍රේම කිරීම විය හැකි ය.

නිදා ගන්ට යෑමට ඉස්සරින් යූලියා සෙර්ගේයෙව්නා තම දෑත් පපුවට තබා තද කොට ගෙන මහත් සැළකිල්ලෙන් සවස යාඥා කියෙව්වා ය. දේව රූපය පා මුල වූ ඉටි පන්දමේ දැල්ල දෙස මහත් ඕනෑ කමින් බලාගෙන ඈ මෙසේ කන්නලව් කරන්නට වූවා යː

"දේව මෑණියනි, මට පිහිට වුව මැනව. දෙවියනි, මට පිහිට වුව මැනව."

තමාට හමු වී ඇති, පෙර දී විවාහ යෝජනා ප්‍රතික්ෂේප කළ නිසා දැන් මහත් දුකින් ළතැවෙන, අසරණ කාලකණ්ණි පැදුරට නාකි වූ තමා දන්නා හඳුනන ගැහැනුන් ගැන ඈ සිතුවා ය. ඇයටත් ඇත්තේ එවැනි ඉරණමක් ද? ඈ කන්‍යාරාමයකට හෝ කන්‍යා සහෝදරියක් වීමට යා යුතු ද? ඈ ඇඳුම් උණා තමා අවට ද තමන් මතු ද කුරුසය ලකුණු කොට ඇඳෙහි වැතුරුණා ය. එවිට ම ඉස්තෝප්පුව දෙසින් තදින් සීනුව නද දෙන්ට විය.

"දෙයියන්ට ඔප්පු වෙච්චාවෙ" යි ශබ්දය හේතු කොට ගෙන සිරුර පුරා ඇති වූ වේදනා සහගත ගැස්මකින් යුතුව ඈ තෙපලා ය. තවමත් ඇඳෙහි වැතිරගෙන පළාත්බද ජීවිතය එක්වර ම නීරස ඒකාකාරී හා පීඩාකාරී නොවේදැයි ඈ සිතුවා ය. වරින් වර ඇති වන තිගැස්සීම හා භයෙන් ද, නොඉවසිල්ලෙන් ද, වරදක් කළා ය යන හැඟීම හේතුකොට ගෙන ඇති වූ නොසන්සුන්කමෙන් ද උද්ගත වුණු ස්නායු පීඩනය නිසා වරෙක ඇයට බ්ලැන්කෙට්ටුව යටට වී සැඟවෙන්නට පවා සිතුණේ ය.

පැය බාගයකට පසු නැවතත් පෙර සේ ම නොකඩවා තදින් සීනුව නද දෙන්ට විය. මෙහෙකරුවන් නිදා සිටි බැවින්, ඔවුනට එය නෑසුණා විය යුතු ය. යූලියා සෙර්ගේයෙව්නා ඉටිපන්දමක් දල්වා, වෙව්ලමින්, වැඩකාරයන් දෙසට යන විට කෑම කන කාරමයේ ආවර මේවර කරන මෙහෙකාරිය දොරට අගුල් දමමින් සිටිනු දක්නට ලැබිණි.

"මං හිතුව මහත්තයයි කියල. ඒක නිකං සද්දයක්." යි ඈ කීවා ය.

යූලියා සෙර්ගේයෙව්නා ආපසු තම කාමරයට පැමිණියා ය. ඈ අල්මාරියේ ලාච්චුවෙන් කඩදාසි කුට්ටමක් ගත්තා ය. අනතුරු ව ඈ කඩදාසි කුට්ටම හොඳට අනා එය කපා මෙසේ තමාට ම කියා ගත්තා ය. යට ම තියෙන කොළය රතු නම් එහි තේරුම ඔව් යනු ය. ඒ කියන්නේ ඈ ලාප්තෙෆ් සමග විවාහ විය යුතු ය. නමුත් එය

කළු පාට එකක් නම් පිළිතුර නෑ යනු යි. කඩදාසි කුට්ටමේ යට ම තිබුණේ ඉස්කෝප්ප දහයේ කොළය යි.

මෙය ඇය තුළ සන්සුන් ගතියක් ඇති කළ බැවින් ඇයට නින්ද ගියේ ය.

එහෙත් උදේ ආයෙමත් පැවතුණේ ඔව් හෝ නෑ යන්නක් නොවේ. දූන් ඇයට වුවමනා නම් තම මුළු ජීවිතය වුවත් වෙනස් කර ගත හැකි වනු ඇත. ඒ ගැන සිතීමෙන් ඈ කොතෙක් වෙහෙසට පත් වුණා ද යත් තමා අසනීපයෙන් පෙළෙන්නාක් මෙන් ඇයට දැනිණි. ඉක්බිති එකොළහ පසු වී ටික වේලාවකින් ඈ ඇඳුම් ඇඳ ගෙන නීනා ෆියෝදරව්නා බලන්ට ගියා ය. ඇට ලාප්තෙෆ් දකින්ට වුවමනා විය. සමහර විට දූන් ඇයට ඔහු පෙරට වඩා හොඳින් පෙනෙනු ඇත. බාගදා ඇට ඔහු ගැන වැරදි හැඟීමක් ඇති වුණා විය හැකිය.

සුළඟ සමග පොර බදමින් තම තොප්පිය දැතින් අල්ලාගෙන, දූවිල්ල නිසා නොපෙනෙන දෑසින් යුතු ව ඈ දිගට ම ගමන් කළා ය.

## IV

තම සහෝදරියගේ කාමරයේ දී බලාපෙරොත්තු නොවූ අන්දමට යූලියා සෙර්ගේයෙව්නා දකින්ට ලැබීම නිසා පෙර දින ලාප්තෙෆ් තුළ ඇති වූ තදබල නින්දා සහගත හැඟීම යළිත් පැන නැංගේ ය. ඒ සිදු වූ දෙයින් පසුව ඔහු හමු වේ යැයි සැක නොසිතා තමාගේ සහෝදරිය බලන්ට ඈ පැමිණියේ එක්කෝ ඈ තමා ගණන් නොගත් නිසා විය හැකිය. නැත්නම් තමා පහත් අයෙකු ලෙස ඈ සිතූ නිසා විය හැකි ය. එහෙත් තමා ඇයට ආචාර කිරීමේ දී, දකින්ට ලැබුණු සුදුමැලි මුහුණෙනුත්, ඇස් යට රැඳි දූවිල්ලෙනුත්, පසුතැවිල්ලෙන් යුතු දුක්බර බැල්මෙනුත් ඇය ද දුකෙන් පසු වන බව ඔහුට දැනිණි.

ඈ තුළ සනීප ගතියක් නොවී ය. කෙටි වේලාවක් - විනාඩි දහයක් විතර - කතා බහ කිරීමෙන් පසු ඈ නැගිට, යාමට සමු ගත්තා ය.

"අලෙක්සේයි ෆියෝදරවිච්, ඔයා මාව ගෙදර ඇරලනව ද?" ඈ යන්ඩ යන ගමන් ලාප්තෙෆ්ට කීවා ය.

ඔවුහු සුළඟ නිසා තම තොප්පි අල්ලාගෙන නිහඬ ව ගමන් කළහ. ඔහු ගමන් කළේ අඩි කීපයක් පිටුපසින් ඇයව සුළඟින් ආරක්ෂා කිරීමට වෑයම් කරමිනි. ඔවුන් කුඩා වීදියකට පිවිසුණු විට සුළඟේ සැඩ කම අඩු විය. ඉක්බිති ඔවුහු එකට ගමන් ගත්හ.

"මම ඊයේ ඔයාට සැලකුවෙ අකරුණාවෙන්. මට සමාවෙන්න." ඈ ඇරඹුවා ය. ඇඬෙන්නට එන්නාක් වැනි වෙව්ලීමක් ඇගේ කට හඬෙහි විය. "අයියෝ මම හරිම දුකෙන් ඉන්නෙ. මට මුළු රෑ ම නිදාගන්න බැරි වුණා."

"හැබෑට ? මම නම් හොඳට නිදාගත්තා." යි ලාප්තෙෆ් ඈ දෙස නොබලමින් කීවේ ය. "නමුත් ඒකෙන් අදහස් කරන්නෙ නෑ මම සතුටෙන් ඉන්නවයි කියල. මගේ ජීවිතය නාස්ති වෙලා. ඊයෙ ඉඳල මට තිකං වසක් විසක් කැවිල වගේ . හුඟක් අමාරුව තිබුණෙ ඊයෙයි. අද නම් ඒක ඒ තරම් බලපාන්නෙ නෑ. මට ඔයා එක්ක අවංකවම කියන්න පුළුවන්. අපේ අක්කටයි අම්මටයි වැඩිය මං ඔයාට ප්‍රේම කරනවා.... අක්කයි අම්මයි නැතුව මට ජීවත් වෙන්න ඇහැකි. නමුත් ඔයා නැතුව මගෙ ජීවිතය තේරුමක් නැති එකක්. මට බැහැ ...."

ඔහු සිරිත් පරිදි ඇගේ අදහස් උදහස් අනුමාන කළේ ය. තමා ගෙදර ඇරලන්නට ඈ කීවේ පෙර දින කළ කතා බහ දිගටම කරගෙන යාමට ඇයට උවමනා නිසා බව ඔහු දත්තේ ය. දැන් ඈ තම නිවසට ඔහු කැටුව යයි. එහෙත් ඇගේ ප්‍රතික්ෂේප කිරීමට ඈ තව මොනවා එකතු කරයි ද? දැන් ඈ සිතන්නේ කුමක් ද?

සර්ගේයි බොරීසිච් දොස්තර ගෙදර සිටියේ ය.

"ෆියෝදර් අලෙක්සේයිච් ඇතුළට එන්න. බොහොම සන්තෝසයි ආවාට." යි ඔහු ලාප්තෙෆ්ගේ නම ද පෙළපත් නම ද පටලවා ගනිමින් කීවේ ය. "දකින්ට ලැබිච්ච එක සන්තෝෂයි."

දොස්තර මීට පෙර කවදාවත් මෙතරම් කුළුපග කමක් දක්වූයේ නැත. විවාහ යෝජනාව ඔහු දූනට ම දැන ගෙන ඇතැයි ලාප්තෙෆ් නිගමනය කළේ ය. මෙය ඔහු තුළ ඇති කළේ නොරිස්සුම් ගතියකි. දොස්තරගේ විසිත්ත කාමරයේ ඔහු වාඩි විය. එය පුදුම කාමරයකි. පරණ විශාල ලී බඩු, අවලස්සන චිත්‍ර, ලොකු ලාම්පු ආවරණ, අත් පුටු ආදියෙන් යුක්ත වූ මෙම කාමරය මිනිසෙකු වසන තැනක් මෙන් නොව විශාල මඩුවක් මෙන් විය. මෙවැනි කාමරයක සැප පහසු ලෙස ජීවත් විය හැක්කේ දොස්තර වැනි මිනිසෙකුට පමණි. පළමු වැන්න මෙන් දෙගුණයක් තරම් විශාල වූ ඊළඟ කාමරය ශාලාව නමින් හඳුන්වන ලදී. එහි නැටුම් පන්ති කාමරයක මෙන් බිත්තිය දිගට තබා තිබුණු පුටු කීපයක් හැරෙන්නට අන් කිසි බඩු මුට්ටුවක් නොවී ය. ලාප්තෙෆ් වාඩි වී තම දොස්තර සමග තම සහෝදරිය ගැන කථා කරන්නට විය. තම යෝජනාව පිළිගත් බව කියන්ට

යූලියා සෙර්ගේයෙව්නා සහෝදරිය ළඟට ගියේ යැයි ද, ඈ තම සිත වෙනස් කරගත් බව කියන්ට තමා කැටුව මෙතනට අවේ යයි ද යන නොසන්සුන් සිතුවිලි ලාප්තෙෆ් කරදරයට පත් කළේ ය. අහෝ, කොතරම් නරක දැයි ඔහු සිතුවේ ය. එහෙත් එවැනි සැකයක් ඔහුගේ සිත් තුළට වැදීමෙන් වූයේ වඩාත් නරක තත්වයකි. පියාත් දියණියත් බොහේ රෑ බෝ වන තුරු මේ ගැන සාකච්ඡා කරන සැටි, වාද විවාද පවා කරන සැටි, මෙ තරම් ධනවත් මිනිසෙකු අහක දැමීමෙන් යූලියා කළේ මෝඩකමකි යි කියමින් අවසානයේ එකඟ වන සැටි ඔහු සිතෙන් මවා ගත්තේ ය. මෙවැනි අවස්ථාවල දී නිතර ම දෙමාපියන් කියන වචන පවා ඔහුට ඇසෙන්නා සේ විය.

"උඹ එයාට ආලය නොකරන එක ඇත්ත. නමුත් කරන්න ඇහැකි ඔක්කෝම හොඳ දේවල් ගැන හිතල බලපන්!"

ඈ ධෛර්යය වූවා ය. තමාට ප්‍රේම කරන කරුණාවන්ත, විනීත මිනිසෙකු, තමා ඔහුට කැමති නොවන නිසා පමණක් තුච්ඡ ලෙස ඉවතලෑමට සිදු වීම ඇයට ලොකු පීඩාවක් විය. විශේෂයෙන් ම මෙම විවාහය ඇගේ නීරස, දුක්මුසු, අලස ජීවිතය වෙනස් කිරීමට අවස්ථාවක් ලබා දෙනු ඇත. තරුණ භාවය කෙමෙන් ගෙවී යන, උසස් බලාපොරොත්තුවලින් තොර මෙවැනි අවස්ථාවක ඔහු ප්‍රතික්ෂේප කිරීම පිස්සු මෝඩ හිතුවක්කාර කමක් වනු ඇතැයි ද, දෙවියන් ඒ ගැන තමාට නියතයෙන් ම දඬුවම් කරනු ඇතැයි ද ඕ සිතුවා ය.

දොස්තරගේ අඩි ශබ්දය කෙමෙන් නැති වී ගිය විට ඈ හදිසියෙන් ම, බෙහෙවින් සුදුමැලි මුහුණකින් යුතුව ලාප්තෙෆ් දෙසට හැරී මෙසේ කියන්නට වූවා ය.

"අලෙක්සේයි ෆියෝදරවිච්, මම ඊයේ හුඟාක් වෙලා ඔයාගෙ යෝජනාව ගැන හිතුවා .... ඉතින් මම ඒක බාරගන්න තීරණය කර ගත්තා."

ඔහු නැමී ඇගේ අත සිඹිබේ ය. ඈ නුහුරු ලෙස තම සීතල තොල් ඔහුගේ හිසට තබා තද කළා ය. මෙසේ ප්‍රේමය පළ කිරීමේ දී තිබිය යුතු ප්‍රධාන දෙය, එනම්, ඇගේ ප්‍රේමය නොමැති බව ඔහුට දැනිණි. මේ සම්බන්ධය අනවශ්‍ය දෙයින් පිරී ඇතැයි ඔහු සිතුවේ ය. ඔහුට කෑ ගසන්ටත්, ඉවත දුවන්ටත්, එකෙණෙහි ම මොස්කව් නුවරට යන්ටත් සිතිණි. එහෙත් ඇය ඔහුට ඉතා කිට්ටුවෙන් සිටි බැවින් ඈ සුන්දර යයි ඔහුට සිතිණි. හදිසියෙන් ම එම බලවත් හැඟීමට ඔහු යට

විය. ඒ ගැන සිතීම දැන් බොහෝ පමා වී යයි වටහා ගත් ඔහු ඇ තමාට තුරුළු කරගෙන පිය තෙපුල් තෙපලමින් ඇගේ ගෙල, කොපුල් හා හිසකේ සිඹින්ට විය.

මෙම වැළඳගැනීම්වලට බියෙන් ඇ ජනේලය ළඟට ගියා ය. ඔවුන් දෙදෙනා ම තමන් කළ කතා ගැන දුක් වූහ. "මෙය සිදුවූයේ මන්ද" යි කලබලයෙන් තමන්ගෙන් ම අසා ගත්හ.

"මම කොච්චර දුකෙන් ඉන්නව ද කියල ඔයා දන්නව නම්" ඇඳිලි බැඳ ගනිමින් ඇ අසරණ ව කීවා ය.

"ඒ මොකද ?" යි ඔහු ද ඇසුවේ ඇඳිලි බැඳගෙන ඇ දෙසට යමිනි. "ඒ මොකද අනේ, දෙයියන්ගේ නාමෙට මට ඇත්ත කියන්න. මම ඔයාගෙන් ඉල්ලා හිටිනවා. ඇත්ත කියන්න."

"මොකුත් නෑ." යි ඇ කීවේ අමාරුවෙන් මඳ සිනා පාමිනි. "මං ඔයාට ළෙන්ගතු භක්තිමත් බිරිඳක් වෙනවා කියලා පොරොන්දු වෙනවා. කරුණාකරලා අද හවස එන්න."

පසුව, ඔහු තම සහෝදරිය ළඟ වාඩි වී ඓතිහාසික නවකථාවක් කියවද්දී සිදු වූ දෙය මෙනෙහි කළේය. එතරම් පහත් අන්දමකට තම හැඟීම් පැන නැංග අයුරු සිතීම පවා ඔහු තුළ වේදනාවක් ඇති කිරීමට හේතු විය. ඇ තමාට ආලය කළේ නැත. එහෙත් ඇ තමාගේ යෝජනාව පිළිගත්තේ නිසැකයෙන් ම තමා ධනවතකු නිසා විය යුතු ය. ඔහු තමා සතු දේවලින් අගය අඩු කොට සලකන ධනය නිසා ඇ තමාට කැමති වූවා විය හැකි ය. සමහර විට ඇ දෙවියන් අදහන, පිරිසිදු තරුණ කාන්තාවක් හෙයින් තමාගේ මුදල් ගැන කොහොමවත් ම නො සිතුවා විය හැකි ය. එසේ වුවත් ඇ තමාට ප්‍රේම කළේ නැත. එසේ නම් ඇයට තමා සමඟ විවාහ වීමට වුවමනා වූයේ, නොපැහැදිලි, අනියත, කිසියම් ලෞකික හේතුවක් උඩ විය හැකි ය. මධ්‍යම පන්තික බොරු අහංකාරකමින් යුතු දොස්තරගේ නිවසත්, 'කොර්නවිල් නගරයේ සන්ධ්‍යාරය' නම් නාටකයේ ගස්පාර් මෙන් අධම වූ චාටු බස් දොඩන මහා මසුරකු වූ දොස්තරත් ඔහු තුළ පිළිකුලක් ඇති කළේ ය. යූලියා නමැති නම පවා ඔහු තුළ ග්‍රාම්‍යත්වයක් ඇති කළේ ය. ඔවුන් අඹ ඇටයක තරමකුදු හැඟීමක් නොමැති ව, නන්නාඳුනන ඇත්තන් මෙන්, මඟුල් කපුවකු විසින් ජෝඩු කළ විවාහයක දී මෙන් අල්තාරය වෙත යනු ඇත. මෙවැනි වැදගැම්මකට නැති විවාහයකින් ඔහුට ඇති එකම අස්වැසිල්ල නම් මිනිසුන් දහස් ගණනක් එය එසේ ම කළ බව සිතීම පමණි. කාලයාගේ ඇවෑමෙන්

යූලියා ඔහු හොඳින් දැන හැඳින ගෙන ඔහුට ප්‍රේම කරනු ඇත.

"රෝමියෝ සහ යූලියා!" ඔහු මහ හඬින් සිනා සී පොත වසමින් කීවේ ය. "නීනා, මම රෝමියෝ, උඹ මට ආශිර්වාද කරාවි. මම අද යූලියා සෙර්ගේයෙව්නාට විවාහ යෝජනාවක් කළා."

ඔහු විහිළුවක් කරතියි නීනා ෆියෝදරව්නා සිතුවා ය. එහෙත් ඔහු කීයේ ඇත්තට ම බව වැටහුණු විට ඈ අඬන්ට පටන් ගත්තා ය. ඒ ආරංචිය ඇය තුළ ඇති කළේ කලබල ගතියකි.

"මගේ ආශිර්වාදය දෙන්ඩ ඕනැයි කියල මම හිතනවා." යි ඈ කීවා ය. "නමුත් මේක හුඟක් හදිසියෙන් වෙච්ච එකක් නේ ද?"

"නෑ, ඒක හදිසියෙන් වෙච්ච එකක් නොවෙයි. ඒක මාර්තු මාසයේ ඉඳල තියෙන එකක්. අක්කා ඒ ගැන මොකුත් දන්නේ නෑ. මම එයා එක්ක ප්‍රේමයෙන් බැඳුණේ මාර්තු මාසෙ අක්කගේ කාමරේදි මට මූණ ගැහුණු දා."

"මං හිතුවෙ උඹ මොස්කව් නුවර කෙල්ලක් කසාද බඳීවි කියල." යි ඈ මදක් නතර ව සිට කීවා ය. "අපේ ම පැළැන්තියේ ගෑණු ළමයෙක්. එහෙම වුණා නම් හොඳයි. නමුත් අලෙක්සේයි, ලොකුම දේ උඹේ ජීවිතය වාසනාවන්ත වීමයි. මගේ ග්‍රිගෝරි නිකොලයිච් මට කවදාවත් ප්‍රේම කළේ නෑ. උඹට ම පේනවනේ අපි කොහොමද ජීවත් වෙන්නේ කියල. ඔව්, ඕන ගෑනියක් උඹට ප්‍රේම කරාවි. උඹ කරුණාවන්තයි, දක්ෂයි, නමුත් යූලියා විශේෂ පාසලක ඉගෙන ගත්තු ගෑනියක්. කරුණාවන්තකමයි, මොළෙයි විතරමක් මදි. ඈ තරුණයි. ඒත් අලෙක්සේයි උඹ ඒ තරම් තරුණ නෑ. ඒ තරම් ලස්සනත් නෑ."

අවසාන වචනවල තදකම බාල කිරීමටදෝ ඈ ඔහුගෙ කම්මුල අත ගෑවා ය.

"උඹ ලස්සන නෑ." යි ඈ කීවා ය. "නමුත් උඹ හරි ප්‍රියයි."

ඈ කොපමණ කලබල වුණා ද යත් මඳ රත් පැහැයක් ඇගේ කම්මුල්වල ඇති විය. ඇගේ ආශිර්වාදය අලෙක්සේයිට දීම සුදුසු ද? එසේ වුවත් ඇය ඔහුගේ වැඩිමල් සොහොයුරිය ද, ඔහුගේ මවගේ තැන ගන්නා තැනැත්තිය ද වෙයි. විවාහය උදාර ප්‍රීතිමත් කාරියක් බවත් එය ඔහුගේ නමට ගෞරවයක් වන සේ කළ යුතු බවත් දුකින් පෙළෙන තම සහෝදරයාට ඒත්තු ගැන්වීමට ඈ වෑයම් කළා ය.

විවාහ වීමට බලාපොරොත්තුවෙන් සිටින මනමාලයෙකු වශයෙන් ඔහු දවසට තුන් හතර වතාවක් දොස්තරගේ නිවසට යාම පටන් ගත්තේ ය. සාෂාට පිහිට වීමටවත්, ඇගේ මවට ඓතිහාසික

නවත කතා කියාදීමටවත් දූත් ඔහුට වේලාවක් නොමැත. යූලියා ඔහු සමඟ කථා බහ කළේ විසිත්ත කාමරයෙන් ද, තම පියාගේ කන්තෝරු කාමරයෙන් ද බොහෝ ඈතින් ගෙයි ඈත කෙළවරේ පිහිටි තම කාමර දෙකෙහි දී ය. මේ කාමර ඔහුගේ සිත් ගත්තේ ය. අඳුරු බිත්තිත්, මුල්ලෙහි තැබූ දේව රූපත් වටිනා සුවඳ විලවුන් හා දෙවියන්ගේ පහනේ තෙල්වලින් වහනය වන සුවඳත් ඔහු තුළ ප්‍රියමනාප බවක් ඇති කළේ ය. යූලියාගේ ඇඳ හා කණ්ණාඩි මේසය තිරයකින් වෙන් කොට තිබිණි. පොත් අල්මාරියේ දොරවල කොළ පාට රෙද්දක් අල්ලා තිබිණි. බිම එලූ පලස කොතරම් ඝනකම ද කිවහොත් ඇගේ අඩි ශබ්දය යම්තමින් හෝ නෑසේ. ඈ සන්සුන්, සාමකාමී, හුදෙකලා ජීවිතයක් ගත කරන්නියකැ යි ඔහු අනුමාන කළේ ය. තවමත් යොවුන් වියෙහි සිටින්නියක සේ ඇය සැලකෙන බැවින් ඇයට තමාගේ ම මුදල් හදල් නොමැත. ඇවිදින්ට යද්දී තම අතේ කොපෙක් එකක්වත් නොමැති බව දැනීමෙන් ඈ කණස්සල්ලට පත් වෙයි. ඇගේ පොත් සහ රෙදිපිළි සඳහා පියාගෙන් ඇයට ලැබුණේ අවුරුද්දකට රූබල් සියයකට නොවැඩි මුදලකි. දොස්තරට වෙදකමින් සෑහෙන තරම් ආදායම් ලැබුණත් ඔහු මුදල් හිඟපාඩුකමින් පෙළෙන්නෙකි. සෑම සවසකම සමාජ ශාලාවෙහි කඩදාසි සෙල්ලම් කරන ඔහු නිතරම පරදියි. අන්‍යෝන්‍ය ණය දෙන සමිතියක් මගින් ගෙවල් මිලට ගෙන ඒවා කුලියට දෙයි. එහෙත් ඒවායේ පදිංචිකරුවෝ කලට වේලාවට කුලී නොගෙවති. එසේ වුවත් මේ ජාවාරම බොහෝ ලාබ ගෙන දෙන්නක් ලෙස ඔහු සලකයි. ඔහු තම දියණිය සමග වසන නිවස උකස් තබා ඇත. එම මුදලින් ඔහු පාළු ඉඩමක් ගෙන එහි විශාල දෙමහල් ගොඩනැගිල්ලක් තැනීම දූනට ම අරඹා ඇත්තේ එය ද උකස් තැබීමේ අදහසිනි.

ලාප්තෙෆ් මේ දිනවල ගත කරන්නේ කිසියම් පැටලිලි සහිත විකෘති ජීවිතයකි. තමා නොව අනික් මිනිහකු වූවාක් මෙන් මීට ඉහත දී කිරීමට තබා සිතා ගැනීමටවත් නොහැකි වූ බොහෝ දේවල් ඔහු කළේ ය. ඔහු දොස්තර සමග තුන් වතාවක් සමාජ ශාලාවට ගියේ ය. ඔහු සමග රෑ කෑම ගත්තේ ය. දොස්තරගේ අසීරු ගෙවල් ගොඩනැගීමේ ජාවාරමට පවා මුදල් දීමට යෝජනාවක් කළේ ය. අනික් මහල් ගෙයි වසන වසන පනවූරෆ් හමු වීමට ද ඔහු ගියේ ය. දවසක් පනවූරෆ් ඔහුට දවල් කෑමට ආරාධනා කොට තිබිණි. ලාප්තෙෆ් වග විභාගයක් නැතිව එක් වරට ම ආරාධනාව පිළිගත්තේ ය.

පැසීගෙන එන කෙස් ඇති, කළු ඇහි බැම් ඇති, අවුරුදු තිස් පහක් විතර වයසැති රුසියන් කාරියක සේ නොපෙනෙන, උස, හීන්දෑරි ගැහැණියක් ඔහුට එහි දී හමු විය. ඇගේ මුහුණෙහි සුදු පියර තවරා තිබිණි. ඈ වාටු ලෙස මඳ සිනා පෑවා ය. ඈ ඔහුගේ අත ගස්සා සොළවමින් ආචාර කරන විට ඇගේ සුදු පැහැති අත්වල වූ වළලු නද දුන්නේ ය. ඈ මෙලෙස සිනාසෙන්නේ අසන්තෝෂයෙන් සිටින නිසා බවත්, එය තමන්ගෙන් ද අන්‍යයන්ගෙන් ද වසන් කිරීමට බවත් ලාප්තෙෆ්ට වැටහිණි. පෙනුමෙන් සාෂා මෙන් වූ අවුරුදු පහක් ද තුනක් ද වයසැති කුඩා ගැහැණු ළමුන් දෙදෙනෙකු ද ඔහු දුටුවේ ය. සුප්, ශීත කළ වහු මස්, කැරට් හා අවුළුපත් සඳහා චොකලට් යනාදී සිත් නොගන්නා නීරස දේවලින් දවල් කෑම යුක්ත විය. එහෙත් මේසය, රත්තරන් ගෑරුප්පුවලිනුත්, සාස් සහ ගම්මිරිස් කුඩු දමන කුඩා බෝතල්වලිනුත්, කැටයමින් මනාව අලංකාර වුණු කුඩා භාජනයකින් හා ගම්මිරිස් කුඩු දමන රත්තරන් භාජනයකිනුත් ඔප වැටී තිබුණි.

මෙතැනට පැමිණීම කොහෙත් ම නොගැලපෙන බව ලාප්තෙෆ්ට වැටහුණේ සුප් බීවාට පසුව ය. කාන්තාව දුෂ්කර අවස්ථාවකට මුහුණ පා සිටින බව පැහැදිලිව ම පෙනුණේ ය. ඈ නිතර ම මඳ සිනා පාමින් දත් පෙන්නුවා ය. මේ අතර පනවූරෆ් ආලය ගැන ද, එහි ආරම්භය ගැන ද ශාස්ත්‍රීය විග්‍රහයක යෙදෙන්ට විය.

"මේ ගැන මං කියන්නේ" යි ඔහු කාන්තාව ප්‍රංශ බසින් අමතමින් කීවේ ය. "ඒක එහෙම පිටින් ම විදුලි බලයෙන් වෙන ස්වභාවික දෙයක්. අප හැම එක්කෙනෙකුගේ ම හමේ තියෙනවා විදුලි බලය උපදවන සියුම් ග්‍රන්ථි. විදුලි බලය සමානව ගමන් කරන දෙන්නෙකුගෙ හමු වීමෙන් තමයි ප්‍රේමය ඇති වෙන්නේ."

ආපසු ගෙදර ගිය විට සහෝදරිය ඔහුගෙන් කොහේ ගියාදැයි ඇසූ නමුත් ලාප්තෙෆ් ලජ්ජාවෙන් පිළිතුරු නොදුන්නේ ය.

විවාහයට පෙර සති කීපය තුළ ම තමාගේ ව්‍යාජ ගති පැවතුම් ගැන සිතන්ට විය. දවසින් දවස ම ඔහුගේ ප්‍රේමය වැඩි වුණේ ය. යුලියා, කාව්‍යමය උත්කෘෂ්ට තැනැත්තියක බවත්, එහෙත් ඇය තමාට ප්‍රති ප්‍රේම නොකළා ය යන සත්‍යය තවම එසේ ම පවතින බවත්, ඇය විසින් ම තමන්ට විකුණනු ලැබූ බවත් ඔහු සිතුවේ ය. ඇතැම් විට මෙසේ සිතීම හේතුකොට ගෙන ඔහු තුළ කලකිරීමක් ඇතිවිය. කීප වතාවක් ම ඔහුට මේ සියල්ල අත් හැර දැමීමට පවා සිත් විය.

ඔහුට නිදා ගත නොහැකි විය. ඔහු සිතමින් මුළු රෑ ම වැතිර සිටියේ ය. තම යාළුවන්ට ලියුම් ලියද්දී 'අරයා' යනුවෙන් හැඳින්වූ මොස්කව් නුවර කාන්තාව තමා විවාහ වූ පසු හමු වූ විට ඇයට කුමක් කියන්න ද? එකඟ වීමට දුෂ්කර ඔහුගේ පියා සහ සහෝදරයා, විවාහය ගැනත්, යූලියා ගැනත් කුමක් සිතයි ද ? ඔවුන් පළමුවෙන් පියා හමු වූ විට ඔවුහු යූලියාට අපහාස මුඛයෙන් කතා කරති යි සිතූ ලාප්තෙෆ් බිය විය. මෑතක සිට ඔහුගේ සහෝදර ෆියදෝර් තුළ පුදුමාකාර වෙනසක් ඇති වී තිබේ. හොඳින් නිරෝගීව සිටීමේ වැදගත් කමත්, රෝගී බව හිතට බලපාන සැටිත්, ආගමේ මුලත් සඳහන් කරමින් ඔහු ලාප්තෙෆ්ට දිග ලියුම් ලියයි. මොස්කව් ගැන හෝ වෙළෙඳ කටයුතු ගැන හෝ එක වචනයක් ඒ ලියුම්වල සඳහන් කරන්නේ නැත. මෙම ලියුම් ලාප්තෙෆ් තුළ කෝපයක් ඇති කළේ ය. තම සහෝදරයාගේ ගතිගුණ වඩාත් නරක අතට හැරෙන්නාක් මෙන් ඔහුට දැනිණි.

ඔවුහු සැප්තැම්බර් මාසයේ දී සාන්ත පීටර් හා පෝල් පල්ලියේ පැවැත්වුණු දේව මෙහෙයෙන් පසු විවාහ වූ හ. නව යුවල එදින ම මොස්කව් නුවර බලා පිටත් වූහ. ලාප්තෙෆ් හා කලු ඇඳුමකින් සැරසී සිටි, තව දුරටත් ළාබාල කෙල්ලක සේ නොපෙනෙන ඔහුගේ බිරිඳ, නීනා ෆියෝදරව්නාට ආයුබෝවන් කී විට රෝගී ඇගේ මුහුණ ඇකිළිණි. එහෙත් ඇගේ නෙත් කඳුලෙන් තෙත් නොවිණි.

"මං මැරුණොත් මගේ පුංචි ඇයො බලාගන්ඩ ඕන."

"ආ, මං ඒක කරන්නම්, මම ඔයාට පොරොන්දු වෙනවා." යි යූලියා සෙර්ගේයෙව්නා පිළිතුරු දුන්නා ය. ඇගේ තොල් ද ඇසිපිය ද ගැහෙන්ට විය.

"මම ඔක්තෝබර් මාසයේ දී අක්කව බලන්ඩ එනවා. අක්කා ඉක්මණට සනීප වෙන්ට ඕන." යි ලාප්තෙෆ් බලවත් දුකින් කීවේ ය.

ඔවුන් ගමන් ගත්තේ පුද්ගලික රියමැදිරි කාමරයක ය. දෙදෙනා ම අසන්තෝෂයෙනුත් අපහසු ගතියකිනුත් පෙළුණා හ. ඈ මුල්ලක වාඩි වී, තොප්පිය පැළඳගෙන අඩ නින්දට වැටුණු බව බොරුවට හඟවමින් සිටියා ය. ඔහු ඇයට විරුද්ධ පසින් කවිච්චියේ වාඩි වී නිමක් නැති කරදරකාරී සිතුවිලි, එනම් තම පියා ගැනත් 'අරයා' ගැනත්, මොස්කව් නුවර මහල් ගෙයට යූලියා කැමති වේ ද නොවේ ද යන්න ගැනත් සිතන්ට විය. ඉතින්, ඔහු තමාට ප්‍රේම නොකරන තම බිරිඳ දෙස බලමින් "මෙය සිදු වුණේ මන්ද?" යි කලකිරුණු විලාසයෙන් සිතුවේ ය.

# V

මොස්කව් නුවර ෆියෝදර් ලාප්තෙෆ් සහ පුත්‍රයෝ සමාගම වනාහි ගෙත්තම්, පටි, රේන්ද, කපු නූල්, බොත්තම් ආදිය තොග ගණනේ වෙළඳාම් කරන තැනකි. අවුරුද්දකට ඔවුන්ගේ වෙළඳාම රූබල් විසි ලක්ෂයක් පමණ විය. ඔවුන්ගේ පියා හැර අන් කිසිවෙක් ශුද්ධ ලාභය කොතෙක්දැයි නොදත් හ. ඔහුගේ පුත්තු ද වෙළෙඳ සේවකයෝ ද එය තුන් ලක්ෂයක් පමණ වෙතැ යි තක්සේරු කළෝ ය. පියා මුදල් අපතේ නොහරින්නේ නම්, වෙන වචනවලින් කියතොත් හිතුමතේට ණයට නොදෙන්නේ නම් ලාභය තව ලක්ෂයක් පමණ වැඩි වනු ඇතැයි ඔවුහු කී හ. පසුගිය දහ අවුරුද්ද ඇතුළත වෙළඳ ආයතනයේ රූබල් දශ ලක්ෂයක පමණ වැඩකට නැති බිල් ගොඩ ගැසී තිබිණි. මේ ප්‍රශ්නය පැන නැගුණු විට ප්‍රධාන ලිපිකරු ඉඟියක් කොට රහසින් මෙසේ කියයි.

"මේ ශත වර්ෂයේ මානසික තත්වයේ විපාක."

ප්‍රධාන වෙළඳ කටයුතු පැවතුණේ නගරයේ කඩපෙළේ පිහිටි බඩු ගබඩාව නමින් හැඳින්වූ තැන ය. අඳුරු මිදුලකින් ළඟා විය හැකි එතැනින් ගෝනිවලින් නගින ගඳ දූනේ; අසුන්ගේ කුර ගැටීමෙන් නගින දෝංකාරය ඇසේ. මිදුලෙන් තිබුණු යකඩ දොරින්, යකඩ පොලුවලින් යුක්ත ජනේලයක් ඇති, අඟුරුවලින් කුරුටු ගාන ලද, පැල්ලම් ගැසුණු බිත්ති ඇති පටු කාමරයකට පිවිසිය හැකි ය. වම් පැත්තෙන් තවත් කාමරයකි. කාර්යාලය වන එය විශාල ය; පිරිසිදු ය. යකඩ උදුනකුත් මේස දෙකකුත් එහි ඇත. එහෙත් එහි ද අර වගේ ම හිර කුඩුවක වැනි ජනේලයක් තිබේ. මෙතැනින් ප්‍රධාන වෙළෙඳ කටයුතු පවතින උඩ තට්ටුවට යාමට පටු ගල් පඩි පෙළක් ඇත. මෙම කාමරය විශාල ය; එහෙත් අඳුරු ය. පහතින් සීලින් ගසා ඇති මෙහි ලී පෙට්ටි ගොඩවලුත් බඩු පොදිත් තබා ඇත. මිනිස්සු කඩිමුඩියේ එහා මෙහා යති. පාත මාලයේ අනික් කාමර දෙක මෙන් ම මෙය ද සිත් නොගන්නා එකකි. මිටි බැඳි බඩු පොදි, රාක්කවලත්, කාඩ්බෝඩ් පෙට්ටිවලත් අහුරා තිබේ. කඩදාසි පොදිවල ඇති හිල්වලින් එළියට පෙනෙන රතු කපු රෙදි කෑලි, සේද පටි, ගෙත්තම් කෑලි ආදියෙන් විනා අන් කිසිවකින් මෙහි විකුණන්නේ කුමන විදියේ ද්‍රව්‍ය දැයි කිසිවකුට කිව නොහැකි ය. ගොඩ ගැසුණු බඩු මිටිවලින් හා අවුල් ව තබන ලද පෙට්ටිවලින් ධනය කෙසේ ලැබෙන්නේ දැයි ඇදහීම පවා අමාරු ය. ගනුදෙනුකාරයන් ඇරුණු කොට පනහක් විතර මිනිස්සු

හැමදාම මෙතන වැඩෙහි නිරතව සිටිති.

මොස්කව් නුවරට ආ ලාප්තෙෆ් පහුවදා දවල් මෙහි පැමිණියේ ය. පෙට්ටි සාදන කම්කරුවන්ගේ මිටිවලින් නැගෙන ඝෝෂාව ඔහුට ඇසෙන්නට විය. පාත මාලයේ කාමරයේ හෝ කාර්යාලයේ හෝ කිසිවකුට ඔහුගේ පැමිණීම නොඇසුණේ ය. පාත මාලයට ලියුම් මිටියක් ගෙන ආ තැපැල් කරුවා ද ඔහුගේ පැමිණීම දුටුවේ නැත. උඩු මහලේ දී ඔහුට පළමුවෙන් මුණ ගැසුණේ, තමා මෙන් වූ, බොහෝ විට නිවුන් සහෝදරයන් මෙන් සලකන සිය සොහොයුරා වූ ෆියෝදර් ය. තම සහෝදරයා කෙරෙහි පවතින මේ සමාන පෙනීම හේතුකොට ගෙන ලාප්තෙෆ්ට නිතර ම තමාගේ පෙනීම සිහියට නැගේ. රෝස පාට කම්මුල් ද මඳ හිසකේ ද, වැහැරුණු උකුලක් ද ඇති, කොට, හැඩකට වැඩකට නැති සාමාන්‍ය පෙනුමකින් යුතු වූ මේ මිනිසාගේ දැකීමෙන් "හැබෑට ම මං මේ වගේ ද?" යි ඔහු තමාගෙන් ම ඇසුවේ ය.

"දකින්ඩත් ආසයි" ෆියෝදර් තම සොහොයුරා සිඹිමින් ද ඔහුගේ අත පිරිමදිමින් ද කීවේ ය. "අයියා ඒවි කියලා මම හැමදාම බල බලා හිටියා. උඹ කසාද බඳිනවයි කියල ලියා එවපු දවස්වල ඉඳල ම මම කුතුහලයෙන් හිටියෙ. ඉතින් මටත් උඹ හම්බ වෙන්න බැරුව ගියා. අපි දෙන්නා අන්තිම වතාවට හම්බ වෙලා දැන් හය මාසයක් විතර වෙනවා. හොඳයි, මොනවද ආරංචි හෙම, තීනාට කොහොම ද? හුඟක් අමාරුයි ?"

"ඔව්, හුඟාක් අමාරුයි."

"ඒක දෙයියන්තෙ කැමැත්ත" යි ෆියෝදර් හූල්ලමින් කීවේ ය. " දැන් ඉතින් උඹේ බිරිඳ ගැන මට කියාපන්. මං හිතන්නේ එයා ලස්සන ඇති? මං එයාට දැන්ම ම කැමතියි. දැන් එයා මගෙ පුංචි සහෝදරිය. එයාගෙ සැප පහසුකම් බලන්න මං උඹට උදව් වෙන්නම්."

තම පියා වූ ෆියෝදර් ස්තෙපානිච්ගේ වක ගැසුණු පළල් පිට ලාප්තෙෆ්ගේ දෙනෙතට හසු විය. මහලු මිනිසා, බංකුවක වාඩි වී ගනුදෙනුකාරයෙකු සමග කථා කරමින් සිටියේ ය.

"තාත්තේ, මේ බලන්නකෝ" යි ෆියෝදර් කෑ ගැසුවේ ය. " දෙයියෝ අලෙක්සේයිව එවලා."

ෆියෝදර් ස්තෙපානිච් වනාහි ශක්ති සම්පන්න අඟපසඟවලින් හෙබි, නිරෝගී පෙනුමක් ඇති උස මිනිහෙකි. අවුරුදු අසූවක් වයස ගිය ද, ගත රැළි වැටුණ ද ඔහු හැඩි දැඩි ය. පීප්පයකින් නැගෙන්නාක්

වැනි, පළල් පපුවෙන් නැගෙන බැරෑරුම් බොල් හඬකින් ඔහු කථා කරයි. සොල්දාදුවෙකුගේ වැනි කුඩා උඩු රැවුලක් හැරුණු විට ඔහුගේ රැවුල සහමුලින් මුඩු කොට ඇත. ඔහු සුරුට්ටු බොයි. ඔහු නිතර ම උෂ්ණයෙන් පෙළෙන බැවින් අවුරුද්දේ හැම දාම බුරුල්, ලිනන් කබායක් අඳියි. ඇස්වල පොල ඉසිරීම නිසා ළඟදී සිට ඔහුගේ පෙනීම දුර්වල ය. ඔහු දැන් වෙළඳ කටයුතුවල නොයෙදෙයි. ඔහුගේ කාරිය, ගනුදෙනුකාරයන් සමඟ අල්ලාප සල්ලාපයෙහි යෙදීමටත් ජෑම් සමග තේ බීමටත් සීමා වී ඇත.

ලාප්තෙෆ් නැමී තම පියාගේ අත ද අනතුරු ව තොල් ද සිම්බේය.

"හුඟාක් කාලෙකින් නෙවැ ළමයා උඹව දැක්කේ." යි මහළු මිනිසා කීවේ ය. "සත්තකට හුඟාක් කාලෙකින්. මං හිතන්නේ උඹ එන්න ඇත්තෙ උඹේ විවාහයට මගේ ආශිර්වාදය ලබා ගන්න වෙන්නැති. බොහොම හොඳයි. මං බොහොම සතුටුයි."

ඔහු තම මුහුණ එසෙව්වේ ය. ලාප්තෙෆ් නැමී ඔහු සිඹ ගත්තේ ය.

"උඹ හාමිනේවත් කැන්දාගෙන ද ආවේ?" යි ඇසූ මහළු මිනිසා ඊට පිළිතුරක් ලැබෙන තෙක් නොසිට ගනුදෙනුකාරයෙකු දෙසට හැරෙමින් මෙසේ කියන්ට විය. "දයාබර පියාණනි, මම අහවලා සරණ කරගත් බව ඔබට දන්වනවා. ඔව්, පියාගේ අවවාදයත් ආශිර්වාදයත් ඕන නෑ. දැන් කාලෙ උදවිය බොහොම දක්ෂයි. මං කරකාර බඳිනකොට මුන්නැහෙට කියන්නේ මහ හතළිහත් පැනල. ඒත් මම තාත්තා ළඟ දණින් වැටිල අවවාද ලබා ගත්තා. එහෙව් ඒවා දැන් නෑ."

මහළු මිනිසා තම පුතා දැකීමෙන් සන්තෝෂ විය. එහෙත් කවර විදියකින් හෝ තම සතුට පළ කිරීම නොමනා යයි ඔහු සිතුවේ ය. ඔහුගේ කඩහඬත්, කථා ලීලාවත්, 'උඹේ හාමිනේ' යන්නත් මීට පෙර ලාප්තෙෆ් බඩු ගබඩාවට පැමිණි හැමවිටදී ම ඇති වන දුක්බර හැඟීම ඇති කරවීමට හේතු විය. මෙහි සිටින කල තමන්ට තැලූ සැටි, පානුයි වතුරයි විතරක් දුන් සැටි යනාදී සෑම දෙයක් ම ඔහුට මතක් විය. මෙහි සිටින ළමුන් අදත් එසේ ම තැලුම් කන බවත්, මුළුවලට තල්ලු කර දමන බවත් ඔහු දනියි. ඉතින් මේ ළමුන් වැඩුණු විට ඔවුන් ද නොනිසි අන්දමට අනික් අයට සලකනු ඇත. කොයි මොහොතේ කාගෙන් බැනුම් අසන්නට හෝ කම්මුල් පහරක් කන්ඩ හෝ වේදෝ යන හැඟීම ඔහු තුළ ඇති වීමට මේ බඩු ගබඩාවේ

විනාඩි පහක් සිටීම සෑහේ.

"මෙන්න අලෙක්සේයි" යි හිටි අඩියේ ගනුදෙනු කාරයාගේ පිටට පහරක් දෙමින් ෆියෝදර් කීවේ ය. "මෙන්න අපේ තම්බෝෆ් කොන්ත්‍රාත්කාර ග්‍රිගෝරි තිමොෆේයිච්. එයා අපේ දැන් ඉන්න තරුණ උදවියට ආදර්ශයක්. පනහ පැනලා. ඒත් තාම ඉන්නෙ අත දරුවො."

වෙළෙඳ සේවකයෝ සිනාසුණහ. සුදුමැලි මුහුණක් ඇති, හම්පඩ මහල්ලෙකු වූ ගනුදෙනු කාරයා ද සිනාසුණේ ය. 'ස්වභාව ධර්මයාගෙ අපූරු වැඩක්' යි කවුන්ටරය ළඟ සිටි ප්‍රධාන ලිපිකරුවා කීවේ ය." ඇතුළට යන ඒවා කොහොම හරි එළියට එනවා."

ප්‍රධාන වෙළෙඳ සේවකයා වනාහි කළු රැවුලක් ඇති, කන්නාඩි පැළඳ ගත්, පනහක් විතර වයසැති නිතර ම කනේ පැන්සලක් ගසා ගෙන සිටින උස මිනිහෙකි. කාරණයට අදාළ නොවන, නොපැහැදිලි දේවල්, කපටි ලෙස සිනාසෙමින් අවධාරණයෙන් කීමේ පුරුද්දක් ඔහුට තිබේ. පොතට ම පමණක් සීමා වුණු නොපැහැදිලි අර්ථ, සිය මතයේ හැටියට පැහැදිලි කිරීමට ඔහු මහත් ළැදිකමක් දක්වයි. විශේෂ හැඟීමකින් යුක්තව, සාමාන්‍ය වචන පවා, උදාහරණයක් වශයෙන් 'ඇරත්' යන වචනය ඔහු භාවිත කරයි.

නිශ්චිත කිසිවක් පළ කරන විට ඔහු තම දකුණත දිගු කරමින් 'ඇරත්' කියනු ඇත.

පුදුමය නම් අනික් ලිපිකරුවන් ද ගනුදෙනුකාරයන් ද ඔහුව මනාව තේරුම් ගෙන සිටීම යි. ඔහුව හැඳින්වූයේ ඉවාන් වසීලිච් පොචත්කන් යනුවෙනි. ඔහු කශීරාහි සිට පැමිණියෙකි.

"ගැහැනු හිත ගැන සලකල බලන කොට මහත්මයා වික්‍රමාන්විත වැඩක් දහිරියෙන් කරල තියෙනවා." ලාප්තෙෆ්ට තම සතුට පළ කරන නියායෙන් ඔහු කීවේ ය.

බඩු ගබඩාවේ සිටි අනෙක් සැලකිය යුතු පුද්ගලයා නම් මකේයිචෙෆ්ය. තට්ට හිස වටේට ලස්සන කෙස්රොදවල් ඇති, කම්මුල් දෙපස රැවුල් ඇති ඔහු මහත දෙහෙත තරබාරු මිනිසෙකි. ඔහු ලාප්තෙෆ් කරා ගොස් ගෞරවාන්විත සිහින් හඬකින් මෙසේ කීවේ ය.

"තමුන්නාන්සෙට මම දිවුරල කියන්නං.... දෙවියන් වහන්සේ ඔබතුමාගෙ පියාගෙ යාඥාවලට ඇහුම්කන් දීල තියෙනවා. දෙවියන්ට මහිමය අත් වේවා."

ඉන් පසු වෙළෙඳ සේවකයෝ එක එකා බැගින් තරුණ ස්වාමියාට

සුබ පැතීමට පැමිණියහ. අලුත් පත්තරයේ ඇඳුම් පැළඳුම්වලින් සැරසී සිටි ඔවුන්ගෙන් හැදිච්ච, වැදගත් පෙනුමක් පළ විය. ඔවුන් 'ආශිර්වාද' යන වචනය බර කොට උච්චාරණය කිරීමේ දී කසයක් ලෙලවන විට නැගෙන 'ස්ස්' වැනි හඬක් නිකුත් විය.

මෙහි සිටීම වෙහෙස ගෙන දෙන්නක් වූයෙන් ලාප්තෙෆ්ට ගෙදර යාමට සිත් විය. චාරිත්‍රානුකූලව ඔහුට සුබ පතන්නට එන මිනිසුන් නිසා යටත් පිරිසෙයින් තව පැය දෙකක්වත් නතර වීමට සිදුවනු ඇත. ඔහු මකේයිචෙෆ් සමග කථා කරනු පිණිස කවුන්ටරය ළඟින් ඉවතට ගියේ ය. ග්‍රීෂ්ම ඍතුව සතුටුදායකද, තොරතුරු හෙම කොහොමද යනාදී දේවල් ඔහු මකේයිචෙෆ්ගෙන් අහන්ට විය. මකේයිචෙෆ් ගෞරවයෙන් ස්වාමියාගේ මුහුණ දෙස නොබලමින් එම ප්‍රශ්නවලට උත්තර දුන්නේ ය. අළුපාට කමිසයක් ඇඳි කොණ්ඩය කොටට කපා තිබුණු ළමයෙක් පීරිසියක් නැතුව ලාප්තෙෆ්ට තේ වීදුරුවක් ගෙනැවිත් දුන්නේ ය. මඳ වේලාවකට පසු තව ළමයෙක් එතැනින් යන්ට යන විට පෙට්ටියක හැපී වැටෙන්නට ගියේ ය. එකෙණෙහි ම සන්සුන් ගති ඇති මකේයිචෙෆ් ඔහු දෙසට හැරී සැඩ පරුස මුහුණක් පෙන්නාගෙන මෙසේ ගිගුරුවේ ය.

"උඹ කොහෙ බලාගෙන ද යන්නෙ!"

තරුණ ස්වාමියා විවාහ වී ගෙදර පැමිණීම ගැන ලිපිකරුවෝ සතුටට පත් ව සිටිති. ඔවුන් ඔහු දෙස බලන්නේ හිතවත් බවින් යුතුව මහත් ඕනෑකමිනි. ඔහු පසුකොට යන සෑම කෙනෙක් ම ගෞරවාන්විත ප්‍රිය උපදවන කිසිවක් කීමට වෑයම් කරති. එහෙත් මේ සියල්ල ම වංක යයි ද ඔවුන් මෙසේ තමන් ඉදිරියෙහි චාටු බස් දොඩන්නේ තමාට තියෙන බය නිසා යයි ද ඔහුට ඒත්තු යන්ට විය. මීට අවුරුදු පහළොවකට පමණ පෙර සිහි විකල වුණු එක් වෙළෙඳ සේවකයෙක්, යට ඇඳුම් පිටින් ම පාරට දුව ගොස් හාම්පුතාගේ ජනේලය දෙසට මිට මොළවා අත දිගු කොට සොළවමින් සාප කළ සැටි ඔහුට අමතක කළ නොහැකි ය. අසරණ මිනිහා අසනීප වූ විට ඔහු හාම්පුතුන්ට 'සූරා කන්නන්' කියනවා වෙනුවට 'සූරා දෙන්නන්' යනුවෙන් කී බව කියමින් සෑම කෙනෙක් ම විනෝද වූහ. ලාප්තෙෆ් සහ සමාගම වෙළඳ ආයතනයේ සේවකයන්ට සලකන ලද්දේ ඉතාමත් නරක අන්දමට බව මුළු කඩ පෙළම බොහෝ කලක සිට දනී. මහලු පියෝදර් ස්තෙපානිච්ගේ සේවකයින් පිළිබඳ ප්‍රතිපත්තිය අභිරහසකි. කොටින්ම ඔහුගේ හොඳම සේවකයින් වන පොචට්කින්ට හා

මකේයිවෙෆ්ට කෙතෙක් ගෙව්වේ දැයි කිසිවෙක් නොදනී. අවුරුදු පතා වැඩි වන මුදලත් සමග ඔවුන්ට අවුරුද්දකට ලැබුණේ තුන් දාහකට නොවැඩි මුදලකි. එහෙත් ඔහු ඔවුනට හත්දාහක් ගෙවන බව සිතා ගැනීමට ඉඩ හළේ ය. සියලුම ලිපිකරුවන්ට සෑම අවුරුද්දේ ම පඩි වැඩි කරනු ලැබේ. එහෙත් එය කෙරෙන්නේ රහසේ ය. මේ නිසා ඔවුන් සෑම කෙනෙක් ම තමන්ට නියම වශයෙන් ලැබෙන මුදලට වඩා වැඩි මුදලක් ලැබන බව ආඩම්බරයෙන් කියති. වැඩ පුහුණුවන්නෙකු කවදා උසස් තත්වයට පත් කරනු ලබන්නේ දැයි දන්නේ නැත. වෙළෙඳ සේවකයෙකු නම් හාම්පුතා තමන් ගැන සතුටු වීද නොවී ද යනු නොදනී. කිසිවක් තහනම් කර නොතිබුණත් කුමකට ඉඩ දී තිබුණේ ද යනු කිසිවෙක් නොදත්හ. ඔවුන්ට විවාහ වීම තහනම් කර තිබුණේ නැත. එහෙත් හාම්පුතා අසතුටු වේ ය හෝ රක්ෂාව නැති වේය හෝ යන බියෙන් ඔවුහු විවාහ නොවූ හ. මිතුරන් ඇති කරගැනීමටත්, මිතුරන් බලන්ට යාමටත් ඔවුන්ට අවසර දී තිබුණි. එසේ වුවත් නවයට දොරටු අගුළුලනු ලැබේ. ඔවුන්ගෙන් එකකුවත් මත්පැන් නොබිවූ බව සහතික කොට දැන ගැනීමට, හාම්පුතා සෑම උදේකම ඔවුන් එක එකා ළඟට කැඳවා තම මුහුණ හුස්ම හෙළන්ට කියයි. පල්ලියේ සෑම මංගල්‍ය දිනක ම පාන්දර පූජාවට ඔවුන් යා යුතු ය. පල්ලියට ගොස් ඔවුන් සිටිය යුත්තේ හාම්පුතාට පෙනෙන තැනක ය. එක්වරු ඇල්ලීම ගැන තරයේ සළකනු ලැබේ. හාම්පුතාගේ නැත්නම් පවුලේ කිසිවකුගේ උපන්දින උත්සවයකදී හෝ වෙනයම් උත්සව අවස්ථාවකදී වෙළෙඳ සේවකයන් එකට එකතුව කේක් ගෙඩියක් නැතහොත් පින්තූර අලවන පොතක් තෑගි කළ යුතු ය. ඔවුන් වාසය කළේ පියත්නිත්ස්කයා වීදියේ පිහිටි ගෙයි කොටසක හා පාත මාලයේ ය. ඔවුන් තුන්දෙනෙකුට නැත්නම් හතර දෙනෙකුට එක කාමරයක් බැගින් තිබිණි. ඔවුන් එක එකාට වෙන වෙන ම පිඟාන බැගින් තිබුණත් සියල්ලෝ ම පොදු භාජනයක ආහාර අනුභව කළහ. කෑම ගනිද්දී හාම්පුතුන්ගෙන් කෙනෙක් පැමිණියහොත් ඔවුහු සියල්ලෝ ම නැඟී සිටිති.

මහලු මිනිසාගේ පුහුණුවෙන් විකෘති වූ ඇතැමෙක් ඔහු තමන්ගේ හිතවතකු වශයෙන් ඇත්තට ම සැලකූ අතර අනික් උදවිය නියතයෙන් ම ඔහු තමන්ගේ හතුරකු වශයෙන් සැලකූ හ. තමා මෙහි නොසිටි හය මස ඇතුළත වෙනසක ලකුණකුදු පහළ වී නොමැති බව ලාප්තෙෆ් දුටුවේ ය. එහෙත් අසුබ නිමිත නම් පහළව තිබිණි. පෙර දී සන්සුන්,

කල්පනාකාරී, ශූර මිනිසෙකු ව සිටි තම සහෝදර ෆියෝදර් දූන් පැන්සලක් කනේ ගසාගෙන සම්පූර්ණයෙන් වෙන කල්පනාවක ගැලුණු ලීලාවකින්, ගනුදෙනුකාරයින්ගේ පිටට ගසමින්, ලිපිකරුවන්ට 'හාදයිනේ' කියමින් කඩිමුඩුයේ එහා මෙහා අවිදියි. ඔහු නාට්‍යයක කොටසක් රඟපාන්නාක් මෙනි. අලෙක්සේයිට ඔහු හඳුනාගැනීම පවා බෙහෙවින් අපහසු විය.

මහලු මිනිසාගේ ගැඹුරු කටහඬ අතරක් නැතුව ඇසේ. කළ යුතු කිසිවක් නොමැති බැවින් ඔහු, ජීවත් වන සැටිත්, තම තමන්ගේ කටයුතු බලා කියා ගන්නා සැටිත් පිළිබඳව තමා ම උදාහරණයක් කොට දක්වා ගනුදෙනුකාරයන් සමග දේශනා පවත්වමින් විනෝද වෙයි. මෙම මහන්තත්වයේ පුරසාරම් හඬ ලාප්තෙෆ් අවුරුදු දහයක්, පහළොවක්, විස්සක් අසා ඇත. මහලු මිනිසා තමන් ගැන උදාරම් ලෙස සිතන්නෙකි. ඔහුගේ කථාවට කන් දුන් කෙනෙකුට සිතෙන්නේ ඔහුගේ මිය ගිය බිරිඳටත්, ඇගේ නෑදෑයන්ටත් ඔහු බොහෝ සතුට ලබා දුන් බවත්, දරුවන්ට සැප සලසා දුන් බවත්, සේවයක්නට යහපත සැලසූ බවත් ය. තව ද එම වීදියේ වසන අයගේත් සදාකාලික කෘතඥතාව ලැබීමට කරුණු ඇති බවයි. ඔහු කරන හැම දෙයක් ම යහපත් ය. අනික් උදවිය තම තමන්ගේ ව්‍යාපාර ගැන කරදරවලින් පෙලෙන්නේ අනිකක් නිසා නොව ඔහුගෙන් අවවාද ලබා ගැනීම ඉවත හල හෙයිනි. ඔහුගේ අවවාද නොමැතිව කිසිවක් සාර්ථක කරගත නොහැකි ය. පල්ලියේ දී ඔහු සෑම කෙනෙකුට ම ඉදිරියෙන් සිට ගනියි. දේව මෙහෙය නියම විදියට නොකරන්නේ යයි ඔහු පූජකයන්ට පවා බැන වදියි. තමා දෙවියන්ට මෙහෙ කරන්නේ යයි ද ඒ හේතුකොට ගෙන තමා දෙවියන්ගේ අනුකම්පාවට පාත්‍රවන්නේ යයි ද ඔහු විශ්වාස කළේ ය.

දෙක වන විට, නොකඩවා ගැඹුරු හඬ නංවන මහළු මිනිසා හැර, අනෙක් සෑම කෙනෙක් ම වැඩපොළවල නිරත වෙති. කිසිවක් නොකෙට නිකම් සිටීමට නොකැමති වූ ලාප්තෙෆ් ඇඳුම් මහන්නියකගෙන් රේන්ද පටියක් ගත්තේ ය. අනතුරු ව වෙලොන්ඩා හි සිට පැමිණි ගනුදෙනුකාර වෙළෙන්දෙකු සමග කථා කොට ඔහු වෙළඳ සේවකයෙකු වෙත යැව්වේ ය.

"ටී.වී. ඒ!" යන මුළු හඬ ගබඩාව පුරා දෝංකාරය නගයි. (බඩුවල මිල ගණන් හා නොම්මර සඳහා යොදන අකරු) "ආර්. අයි. ටී.!"

තමා පිටත් වීමට පෙර ලාප්තෙෆ් ආයුබෝවන් කීවේ ෆියදෝර්ට

පමණි.

"මම හෙට බිරිඳත් කැන්දගෙන පියාත්නිත්ස්කයාවලට එන්නම්." ඔහු කීවේ ය. "නමුත් මං උඹට දැන්ම කියන්නං. තාත්ත එහෙම එයාට තරහ යන එක වචනයක්වත් කිව්වොත් මම එවේලේ ම යන්ඩ යනවා."

"උඹ තාම ඒ වගේම යි." ෆියෝදර් සුසුම් ලෑවේ ය. "කසාද බැන්දත් වෙනස් වෙලා නෑ. උඹ තාත්තව සතුටු කරන්න ඕන, අලෙක්සේයි, හා හොඳයි, හෙට උදේ එකොළහට විතර අපි බලාපොරොත්තුවෙන් ඉන්නවා. පූජාවට ගොහිල්ල ඒ ගමන් ම මෙහාට එන්න."

"මම පූජාවට යන්නෙ නෑ."

"හොඳයි, ඒකට කමක් නෑ. වැදගත් ම දේ එකොළහට වැඩියෙ පරක්කු නොවී මෙහාට එනේක. යාඥා කරන්නයි, එකට එකතු වෙලා උදේ කෑම ගන්නයි වෙලා තියෙන්න ඕන. පුංචි සහෝදරිය මතක් කළයි කියන්න. මං හිතන්නෙ මම එයාට කැමති වේවි!" ෆියෝදර් සම්පූර්ණ අවංක බවකින් කීවේ ය. "උඹ ගැන මට හරි ඉරිසිය යි." අලෙක්සේයි පහළට යද්දී ඔහු කීවේ ය.

"එයා හරියට නිරුවතින් ඉන්න කෙනෙක් වගේ ඇඹරෙමින් ඉන්නෙ මොකද?" යි ලාප්තෙෆ් ෆියෝදර්ගේ වෙනස් වීම ගැන සිත සිතා නිකෝල්ස්කයා වීදිය දිගේ යමින් තමාගෙන් ම ඇසුවේ ය." මොන විකාර විදියට ද ඔහු කථා කළේ, අයියෙ, දයාබර අයියේ, දෙවියන් වහන්සේ කරුණාවන්තයි. දෙවියන්ට යාඥා කරන්න. හරියට ෂෙඩ්රින්ගෙ කථාවෙ එන ජුදාස් වගේ."

# VI

ඉරු දිනයක් වූ පහුවදා උදේ එකොළහට විතර ලාප්තෙෆ් ද ඔහුගේ බිරිඳ ද කුඩා අශ්ව කරත්තයකින් පියාත්නිත්ස්කයා වීදිය දිගේ යමින් සිටිය හ. ෆියෝදර් ස්තෙපානිච් කුමක් කරාවි දැයි යන බිය නිසා මෙම ගමන ඔහු තුළ ප්‍රීති සහගත බව ඇති කෙළේ නැත. තම සැමියාගේ නිවසෙහි රාත්‍රී දෙකක් ගත කිරීමෙන් පසු, තම විවාහය වැරදීමකින් සිදු වූ බවත්, එය විපත්තියක් බවත් යූලියා සෙර්ගේයෙව්නා සිතුවා ය. මොස්කව් ඇර වෙන කිසියම් නගරයක විසීමට ඇයට සිදුවුණි නම් එය ඇයට කිසි සේත් ඉවසිය නොහැකි වනු ඇත. මොස්කව් නගරයට ඈ වශී වූවා ය. එහි වීදි, ගෙවල්, පල්ලි

ඇ ප්‍රිය කළා ය. වටිනා අසුන් විසින් ඇදගෙන යනු ලබන විශ්මයජනක හිම කරත්තයක උදේ පටන් රෑ වන තෙක් සරත් සමයේ සිහිල් වාතය ආශ්වාස කරමින් යාමට ඇත්තම් මෙතරම් අසන්තෝෂයක් ඇය තුළ ඇති නොවනු ඇත.

අළුතෙන් හුණු ගාපු දෙමහල් ගෙයක් ළඟ රිය කරු කරත්තයේ වේගය අඩු කොට දකුණට හරවා මිදුලකට පිවිසුවේ ය. පොලිස් නිලධාරීන් දෙදෙනෙක් ද, අලුත් කබායකිනුත් උස් සපත්තුවලිනුත් අත් මේස්වලිනුත් සැරසුණු දොරටුපාලකයෙක් ද දොරටුවව ළඟත්, වීදියට පිටතිනුත් ඔහුගේ පැමිණීම ස්ථිරව ම බලාපොරොත්තුව සිටියෝ ය. පඩි පෙළ තෙක් මිදුල පුරා සුදු වැලි අතුරා තිබිණි. දොරටුපාලයා තම තොප්පිය ඉවත් කෙළේ ය. පොලිස් නිලධාරීහු ආචාර කළහ. ෆියෝද්ර්, දොර ළඟ දී නව යුවල පිළි ගත්තේ ය. ඔහුගේ මුහුණෙහි බැරෑරුම් පෙනුමක් විය.

"ඔයා දකින්න බොහොම සන්තෝසෙන් හිටියා පුංචි සහෝදරියේ"යි ඔහු යූලියාගේ අත ඉඹිමින් කීවේ ය. "ආයුබෝවන්."

ඔහු ඇය ඉස්සර කරගෙන පඩි පෙළ උඩට නැඟ සෙනඟ පිරි ඉස්තෝප්පුව දිගේ ගියේ ය. ශාලාව මිනිසුන්ගෙන් පිරිලා. සුවඳ දුමින් සුවඳ පැතිරෙයි.

"මං දැන් ඔයාව අපේ තාත්තාට අඳුන්නලා දෙන්ඩ ඕනෑ." යි දැඩි නිහඬතාව මැද ෆියෝද්ර් කෙඳිරුවේ ය. "හුඟාක් වයස එක්කෙනක්. pater familias (ගෙදර ලොක්කා)."

දේව මෙහෙය සඳහා පිළියෙල කර තිබුණු විශාල ශාලාවේ මේසය අසල, ෆියෝද්ර් ස්තෙපානිච් සිටගෙන සිටියේ ය. පූජකයාත්, ඔහුගේ උපස්ථායකයාත් එහි සිටියහ. මහළු මිනිසා වචනයකුදු නොදොඩා තම අත යූලියාට දුන්නේ ය. සැම කෙනෙක් ම නිශ්ශබ්ද වූහ. යූලියා වික්ෂිප්ත ව සිටියා ය.

පූජකයාත්, උපස්ථායකයාත් තම ඇඳුම් ඇඳ ගත්හ. දුම් කබලින් ගිනි පුපුරු විසිරෙයි. සුවඳ දුමින් වහනය වන සුවඳ පැතිරෙයි. ඉටි පන්දම් දල්වන ලදී. වෙළෙඳ සේවකයෝ හෙමින් හෙමින් ඇඟලි තුඩින් ශාලාවට පැමිණ බිත්තිය ළඟින් දෙපේළියට සිට ගත්හ. දැඩි නිසලතාවක් ඇති විය. කහින හඬක් පවා නෑසුණේය.

"දෙවියන් වහන්සේ අපට ආශිර්වාද කරන සේක්වා."

දේව මෙහෙය ගම්භිර ලෙස පවත්වන ලදී. ජේසුටත්, දේව මෑණියන්ටත් යාඥා දෙකක් කියවන ලදී. ගායක පිරිස බොහෝ

වේලාවක් කොළයක් බලාගෙන ගීතිකා ගායනය කළෝ ය. ලාප්තෙෆ් ලජ්ජාශීලී ව සිටින තම බිරිඳ දෙස සෝදිසියෙන් බලන්ට විය. යාඥා කියවන අතරතුරේ දී ගායක කණ්ඩායම "දෙවියනි, අපට කරුණා කළ මැනව." යන්න තුන් ආකාරයකට ගායනය කරද්දී තම පියා කොයි මොහොතේ ආපසු හැරී "උඹට සාන්ත කුරුසෙවත් අඳින්න දන්නේ නෑ." යි යනාදී වශයෙන් කිසිවක් කියා බැණ වදීදෝ යි ඔහු සැක කෙළේ ය. එක් රැස් වී සිටි සියලුම මිනිසුනුත්, බැණ වදීදෝ යි ඔහු සැක කෙළේ ය. එක් රැස් වී සිටි සියලුම මිනිසුනුත්, පූජකයන් ඇතුළු මෙම උත්සවයත්, ගායක පිරිසත් ඔහු තුළ ප්‍රිය මනාප බවක් ඇති කළේ නැත. එය ඉතාමත් මෝඩ යල් පැනපු අන්දමේ උත්සවයක් විය. යූලියා, මහලු මිනිසා සමඟ බයිබලය දෙසට හිස නමා ගෙන සිටින සැටිත්, කීප සැරයක් දණ ගැසූ සැටිත් ඔහු දුටු විට මේ සියල්ල ඇය තුළ සිත් ගන්නා බවක් ඇති කරන බව ඔහුට වැටහුණේ ය. එය ඔහු තුළ තරමක සහනයක් ඇති කිරීමට හේතු විය.

දේව මෙහෙය හමාර කරනු පිණිස "සදා දිනේවා" යන ගීතිකාව ගායනය කළ පසු පූජකයා, මහලු මිනිසාට ද අලෙක්සේයිට ද කුරුසිය සිඹීමට දුන්නේ ය. එහෙත් යූලියා සෙර්ගේයෙව්නා ළඟට පැමිණි විට ඔහු තම අතින් කුරුසය වසා ගෙන තමා ඇයට කථා කිරීමට කැමති බව ඇඟවී ය. කිසිවෙක් අත වනා ගායක පිරිසට නිහඬවන්ට කීවේ ය.

"සාමුවෙල් දිවැස්වරයා" යි පූජකයා ඇරඹුවේ ය."දෙවි ස්වාමීන් වහන්සේගේ ආඥාවෙන් බෙත්ලෙහෙමට පැමිණියා. නුවර වැඩිමහල්ලෝ වෙව්ලා ගිහින්, 'ඔබ සාමදානයෙන් එන්නෙහි' දැයි විචාලා. එවිට දිවස්වරයා කීවා. 'සාමදානයෙන්, ස්වාමීන් වහන්සේට යාග කරන්ට ආවෙමි. ශුද්ධ වූ යාගයට නුඹලාත් මා සමඟ වරෙල්ලා. යූලියා, දෙවියන් වහන්සේගේ මෙහෙකාරියක වූ නුඹත් මේ ගෘහයට සමාදානයෙන් පැමිණෙන්නේ ද?"

බලවත් උද්වේගය හේතුකොට ගෙන යූලියාගේ මුහුණ රතු විය. කථාව හමාර වූ පසු පූජකයා ඇයට කුරුසය සිඹීමට දී අනතුරුව සම්පූර්ණ වෙනස් ලීලාවකින් මෙසේ කීවේ ය.

"ඉතින් ෆියෝදර් ෆියෝදරිච්ට දැන් කසාදයක් බඳින්ඩ හොඳයි, හොඳම කාලේ."

ගායක කණ්ඩායම යළිත් ගායනය ඇරඹූහ. සෙනඟ ප්‍රබෝධමත්

වූහ. ශාලාවේ නොයෙක් ශබ්දයන් ද එහා මෙහා යාම් ඒම් ද ඇති විය. මහළු මිනිසා බලවත් හැඟීමෙන් කඳුළු පිරි දෙනෙතින් යූලියා තෙවිටක් සිඹ ඇගේ මුහුණෙහි කුරුසය ලකුණු කොට මෙසේ කීවේ ය.

"මේක උඹේ ගේ. මම නාකි මිනිහෙක්. මට මොකුත් ඕන නෑ."

වෙළෙඳ සේවකයෝ සුබ පැතීමට ඉදිරියට පැමිණියහ. ගායක කණ්ඩායමේ හඬින් ඔවුන්ගේ කටහඬවල් යටපත් විණි. දිවා භෝජන සංග්‍රහයේ දී ෂැම්පේන් දෙන ලදී. යූලියා ඉඳ ගත්තේ මහලු මිනිසා ළඟිනි. වෙන් ව විසීම හොඳ නැති බවත්, ඔක්කෝම එක ගෙයි එකමුතුව විසිය යුතු බවත්, වෙන්ව ඉඳීම එකමුතු නැති කම නස්පැත්තියට මුල බවත් ඔහු ඇයට කීවේ ය.

"මම සල්ලි හම්බ කරනවා. දරුවො ඒවා වියදම් කරනවා." යි ඔහු කියන්ට විය. "දැන් ඉතින් උඹ මේ ගෙදර ඉඳගෙන මට උදව් පදව් වෙන්ඩ ඕන. මට වයසයි. මම දැන් නිවී හැනහිල්ලෙ ඉන්ඩ ඕන කාලෙ."

හරියට ම ඇගේ සැමියා මෙන් වූ එහෙත් සැමියාට වඩා ඉක්මනින් කලබල වන, කුලැටි ෆියෝදර් හැම තිස්සේ ම ඇය ගැන සුනංගු වෙමින් එහා මෙහා ගියේ ය. නිතරම ඇගේ අත ගෙන සිම්බේ ය.

"අපි චාන් මිනිස්සු." යි ඔහු කීවේ ය. ඔහුගේ මුහුණ රතු විය. "අපි චාන් විදිහට ඉන්නෙ. නිහතමානි රුසියන්කාරයො වගේ. ක්‍රිස්තියානි කරායො වගේ."

සියලු දේම ඉතාමත් හොඳින් සිදු වීම ගැන ගෙදර යන ගමන් මහත් සහනදායක හැඟීමක් ලාප්තෙෆ් තුළ ඇති විය. තමා තුළ හට ගත් බිය නිකරුණේ ඇති වූවකැයි සිතූ ඔහු තම බිරිඳට මෙසේ කියන්ට විය.

"අපේ තාත්තා වගේ විශාල, ශක්ති සම්පන්න මිනිහෙකුට ෆියෝදරුයි, මමයි වගේ පුංචි පුත්තු දෙන්නෙක් ඉඳීම ගැන ඔයා සමහර වෙලාවට පුදුම වෙන්න පුළුවනි. ඊට හේතුව බොහොම පැහැදිලියි. කසාද බඳින කොට තාත්තගෙ වයස හතලිස් පහයි. අම්මගෙ වයස දහහතයි. අම්මා තාත්තට හරි බයයි. ඉස්සෙල්ලාම ඉපදුණේ නීනා. එතකොට අම්මා හොඳ සනීපෙන් හිටියා. අන්න ඒකයි, නීනා අපි දෙන්නාටම වැඩියෙ සනීපෙනුයි. ශක්තියෙනුයි වැඩී. ෆියෝදරුයි මමයි ඉපදුණේ අම්මා නිතරම බයෙන් ඉඳල අබල්න් වෙච්ච කාලේ. මට යන්තම් අවුරුදු පහ විතර වෙන කොට තාත්තා

මට උගන්වන්න, නැත්නම් ගහන්න පටන් ගත්තු හැටි මට මතකයි. තාත්තා මට කසෙන් තැලුවා. කන්වලින් ඇද්දා, ටොකු ඇන්නා. හැමදාම උදේ පාන්දර මට ඉස්සෙල්ලාම හිතෙන්නෙ ඒ දවසෙ තාත්තා මට ගහයිද නැද්ද යන්නයි. ෆියෝද්ර්ට හා මට සෙල්ලම් කරන්නවත් එහෙ මෙහෙ ඇවිදින්නවත් ඉඩ දුන්නේ නෑ. අපි පාන්දර පූජාවට යන්න ඕනෑ. ගිහින් පූජකයන්ගෙයි අනික් පැවිදි ගොල්ලන්ගෙයි අත් ඉඹින්න ඕනෑ. ගෙදරදී යාඥා කියවන්න ඕනෑ. ඔයා භක්තිමත් කෙනෙක්. ඔයා නම් ඔය ඔක්කොටම කැමතියි. නමුත් මට ආගම ගැන බයයි. පල්ලියක් ළඟින් යන කොට මට මතක් වෙනව මගේ ළමා කාලය. එතකොට මගේ හිතේ ලොකු බයක් ඇති වෙනවා. වැඩ පණිවිඩ කරන කොල්ලෙක් හැටියට ගබඩාවෙ වැඩ පටන් ගන්න කොට මගෙ වයස අටයි. ඒක මට හරි දුකක්. මට හැමදාම ගුටි කන්න වෙනවා. මාව ඉස්කොලෙ ඇරියට පස්සෙ දවල් කෑම කනකල්ම පාඩම් කරන්න ඕන. ඉතුරු කාලෙ ගබඩාවෙ ඉන්න ඕන. ඉතින් මට විසි දෙකක් වෙනකල් ම මෙහෙම ගත වුණා. මම විශ්ව විද්‍යාලෙට ගියා ම එහෙදි හම්බ වුණා යාර්ත්සෙෆ්. එයා තමයි මට ගෙදරින් බේරෙන හැටි කියල දුන්නේ. මට හුඟක් පිහිට වුණේ යාර්ත්සෙෆ් තමයි. මං කියන්නෙ." යි ලාප්තෙෆ් සන්තෝසෙන් සිනාසෙමින් කීවේ ය. "අපි දූන් එයා හම්බ වෙන්න යමු. එයා මං දන්න උදවියගෙන් බොහොම හොඳ කෙනෙක්. අප දකින්න එයා සතුටු වේවි."

## VII

නොවැම්බර් මාසයේ එක් සෙනසුරාදාවක ඇන්ටන් රුබින්ස්ටෙන් වෘන්ද වාදක කණ්ඩායමක් මෙහෙයවමින් සිටියේ ය. ශාලාව මිනිසුන්ගෙන් පිරී තිබුණි. හුස්ම ගැනීම පවා අමාරු ය. ලාප්තෙෆ් වාඩි වූයේ කුළුණුවලට පිටුපසිනි. ඔහුගේ බිරිඳත් කෝස්ත්‍යා කොචෙවොයිත් ඈතට වෙන්න ඉදිරියෙන් තුන් වැනි පේළියේ නැත්නම් හතර වැනි පේළියේ වාඩි වූහ. විවේක කාලය පටන් ගත් කෙණෙහි ම ලාප්තෙෆ් 'අරයා' එනම්, පොලීනා නිකොලායෙව්නා රස්සූදිනා හදිසියෙන්ම දුටුවේ ය. විවාහ වූ තැන් පටන් ඇයගේ හමු වීම ඔහු සැලකුවේ මහත් බිය ගෙනදෙන්නක් හැටියට ය. ඇගෙන් සැඟවෙන්ට ඕනෑ කළාක් මෙන්. කරුණු පැහැදිලි කොට මිත්‍ර ලීලාවෙන් කෙටි ලියුම් කෑල්ලක්වත් තමා ඇයට නොලියූ බව මතක්

වූයේ දූත් ඇය එක එල්ලේම හමු වූ විටයි. ඔහු ලජ්ජාවෙන් රතු විය. ඈ දැඩි උනන්දුවකින් ඔහුට අතට අත දී මෙසේ ඇසුවා ය.

"යාර්ත්සෙෆ් හෙම දක්කෙ නැද්ද?"

ඔහු පිළිතුරු දීමටත් පෙර පිටුපසින් කිසිවෙකු තල්ලු කළාක් මෙන් ඈ දුර අඩි තබමින් හනික ඉදිරියට ආවා ය.

ඈ ඉතා කෙට්ටු ය. චාන් ය. ඇගේ නහය දික් ය. ඇගේ මුහුණෙන් පළ වුණු විඩාවෙන් ඈ නෙත් නැරීමටත්, ඒවා පහතට යොමු කොට තබා ගැනීමටත් මහත් වෑයමක් ගන්නාක් මෙන් පෙනිණි. කරුණාවන්ත බවකුත් බුද්ධිමත් ගතියකුත් පෙන්වන කදිම නිල් නෙත් සඟලක් ඇයට තිබුණේ ය. එහෙත් ඇගේ රළු පරළු හැසිරීම් නිසා ඇය සමඟ ආශ්‍රය කිරීම දුෂ්කර ය. ඈ මඳ ලෙස ඇහුම්කන් දෙන්නියක බැවින් ඇය සමග කථා කිරීම පහසු නොවේ. ඇයට සත්සුන් ලෙස කථා කළ නොහැකි ය. ඇයට ප්‍රේම කිරීම අමාරු කාරයකි. ඈ තම මුහුණ දෑතින් ම වසාගෙන, බොහෝ වේලාවක් හඬ නඟා සිනාසෙමින් ප්‍රේමය තම ජීවිතයේ ප්‍රධාන දෙයක් නොවේ යයි කියනුඇත. සිඹීමට පෙර, අවුරුදු දහ හතක කෙල්ලක මෙන් ඈ සියලුම ඉටි පන්දම් නිවා දමන්ට කියනු ඇත. දැනටම ඇගේ වයස තිහකි. ඈ පාසල් ගුරුවරයෙකු සමඟ විවාහ වූවා ය. එහෙත් සැමියාගෙන් වෙන් වී දැන් අවුරුදු ගණනකි. සංගීතය උගන්වමින් හා ගායක කණ්ඩායම්වලට සහභාගී වෙමින් ඈ තම ජීවිකාව කර ගනියි.

බිතෝවන්ගේ නව වැනි වෘන්ද වාදනය පවතිද්දී ඈ ඔහු අහම්බෙන් පසු කරගෙන ගියා ය. එහෙත් කුළුණුවලට පිටුපසින් තද බද වූ සෙනඟ අතරින් ඇයට යා නොහැකි විය. ගිය අවුරුද්දේ හා එපිට අවුරුද්දේ ඈ ඇඳ සිටි විල්ලුද සැට්ටයත් අලුත් අත් මේසුත් අලුත් වුව ද ලාබ පවන් පතකුත් රැගෙන සිටිනු ලාප්තෙෆ් දුටුවේ ය. ඈ හොඳින් ඇඳීමට පැළඳීමට ආශා කරන්නියකි. එසේ ඇඳ පැළඳීමට නොදත් ඈ ඇඳුම් පැළඳුම් සඳහා මුදල් වියදම් කිරීමට ද ලෝබ කමක් දක්වයි. ඒ නිසා ඇගේ ඇඳුම්වල පිළිවෙලක් නැත. ඈ ඉගැන්වීම සඳහා කඩිමුඩියේ වීදිය දිගේ යනු කිසිවකු දුටුවොත් ඇය වැඩකාර තරුණියක මෙන් ගණන් ගනු ඇත.

රැස්ව සිටියෝ අත්පොළසන් දීමෙන් වාදනය ගැන තම සතුට පළ කරමින් තව වරක් එය වාදනය කිරීමට ඉල්ලා සිටිය හ.

"ඔයා අද හවස මා එක්ක ඉන්න ඕනෑ."යි පොලීනා නිකොලායෙව්නා ලාපේතෙෆ් කරා යමින් ඔහු දෙස තියුණු බැල්මක්

හෙලා කීවා ය. "අපි දෙන්නා මෙහෙන් ගිහිල්ලා දෙන්නා එක්ක තේ බොමු. ඇහුණ ද? ඔයා එන්නම ඕනෑ. ඔයා මට හුඟක් ණයගැතියි. මේ ආරාධනාවට බැහැයි කියන්න ඔයාට යුතුකමක් නෑ."

"හා හොඳයි." ලාප්තෙෆ් එකඟ විය.

වෘන්ද වාදනය හමාර වීමෙන් පසු වාදකයින්ට බොහෝ වේලාවක් ප්‍රශංසාත්මක ඔල්වරසන් දෙන ලදී. රැස් වූවෝ ශාලාවෙන් පිටතට යාමට කඩිනමක් නොදැක්වූහ. එහෙත් තම බිරිඳට කිසිවක් නොකියා ලාප්තෙෆ්ට ඉවත යා නොහැකි ය. එහෙයින් ඔහු දොරකඩ නතර වී බලාගෙන සිටියේ ය.

"මට නම් තේ කෝප්පයක් බොන්නම ඕන." යි රස්සූදිනා මැසිවිලි කියන්ට වූවා ය. "මාව නිකං පිච්චෙනවා වගේ."

"තේ මෙහෙ තියෙනවා." යි ලාප්තෙෆ් කීවේ ය. "අපි අවන්හලකට යමු."

"මට ඔහොම සල්ලි විසි කරන්න බෑ. මම පොහොසත් මුදලාලි කෙනෙක් නෙමෙයි."

ඔහු ඇයට තම අත දුන් නමුත් කරදරයක් මෙන් ඈ එය ප්‍රතික්ෂේප කළා ය. ඈ තමා ගැහැනු ගණයට අයත් නොවන්නියක සේ සලකන බැවින් කිසිම මිනිසෙකුගේ ආධාරයක් අනවශ්‍ය බව දන් මෙන් ම මීට පෙරදීත් කීප වතාවක් ම ඔහුට දැනී ඇත.

ඈ කථා කරන ගමන්, තමා දන්නා හඳුනන අයටත්, වැඩි වශයෙන්ම එකට ඉගෙන ගත් අයටත් ගෝලයන්ටත් ආයුබෝවන් කීවා ය. ඈ ඔවුන්ට අතට අත දුන්නේ කලබලයෙන් ගස්සමිනි. එවිට ඈ උණෙන් පෙළෙන්නියක සේ වෙවුලුවා ය.

"ඔයා කාවද කසාද බැන්දෙ?" යි අන්තිමේ දී ඈ බයෙන් ඔහු දෙස බලමින් කෙඳුරුවා ය. "කොහෙද මොට්ටයෝ බලාගෙන ඉන්නෙ ? අර මොට්ට වැදගැම්මකට නැති තිරිසනීගෙ මොනවද බලන්න තියෙන්නෙ? ඔයාගෙ හිත වෙනුවෙන්, ඔයාගෙ ආත්මය වෙනුවෙන් මම ඔයාට ප්‍රේම කළා. නමුත් අර ජපන් බෝනික්කිට මොකුත් ඕන නෑ. ඔයාගෙ සල්ලි මිසක්!"

"අනේ පොලීනා, නිකා ඉන්න." යි ඔහු බැගෑපත්ව කීවේ ය. "මගේ විවාහය ගැන ඔයා කියන දේවල් මම ම හුඟාක් සැරයක් හිතල තියෙනවා. අනේ මට නිකරුණේ දුක් දෙන්න එපා."

යූලියා සෙර්ගේයෙව්නා පැමිණියා ය. ඈ සැරසී සිටියේ දේව මෙහෙයෙන් පසු තම මාමණ්ඩිය විසින් එවන ලද ලොකු දියමන්ති

හාරිච්චියකින් යුක්ත කලු ඇඳුමකිනි. ඇය සමඟ කෝස්ත්‍යා කොචෙවොයි ද, යහළු දොස්තරවරු දෙදෙනෙක් ද නිලධාරියෙක් ද ශිෂ්‍ය ඇඳුම් කට්ටලයකින් සැරසුණු කිශ් නම් තරබාරු තරුණ හාදයෙක්ද පැමිණියහ.

"කෝස්ත්‍යා ඔයාව ගෙදර එක්කගෙන යාවි." යි ලාප්තෙෆ් තම බිරිඳට කීවේ ය.

යූලියා හිස වනා කලබලයෙන් මෙන් ගියා ය. පොලීනා නිකොලායෙව්නා පිළිකුලෙනුත් ඊර්ෂ්‍යාවෙනුත් වේදනාවෙනුත් පිරුණු දෑසින් වෙව්ලමින් ඈ දෙස බලා සිටින්නට වූවා ය.

ප්‍රිය නොඋපදවන දර්ශනයක්, කඳුළු, තද වචන ආදිය පිළිබඳ ඉවක් වැටුණු බැවින් ලාප්තෙෆ් ඇගේ ගෙදරට යාමට කැමති නොවී ය. කිසියම් හෝටලයකට යාමට ඔහු ඇයට යෝජනා කළේ එබැවිනි.

"නෑ, නෑ" යි ඈ තදින් කියා සිටියා ය. "යමු අපේ ගෙදර, හෝටල් ගැන මා එක්ක කතා කරන්න එපා."

ඈ හෝටලවලට කැමති නැත. දුම්කොළවලිනුත් මිනිසුන්ගේ අශ්වාස ප්‍රශ්වාස කිරීමෙනුත් වාතය විෂ වී ඇතැයි ඈ සිතන බැවිනි. තමා නාඳුනන සියලුම මිනිසුන්ට ඈ විරුද්ධ වූවා ය. සුළු ඉඩක් ලැබුණු විට පවා ඔවුහු තමාට අඩන්තේට්ටම් කරති යි යන බියක් ඇය තුළ විය. තව ද හෝටලවල සංගීතය ඇය තුළ හිසරදයක් ඇති කරයි.

ප්‍රභූන්ගේ සමාජ ශාලාවේ සිට කුලී රථයකින් ඔස්ටොශෙන්කාවලට යන ගමන් ඔහු සිතුවේ ඇය ගැන ය. අනතුරුව ඔවුහු රස්සූදිනා වසන සව්ලොව්ස්කි වීදියට පිවිසියහ. ඔහු ඇයට හුඟාක් ණයගැතිය යනුවෙන් ඈ කී කීම ඇත්ත ය. ඔහුට ඇය හමු වුණේ ඈ සංගීතය ඉගැන්වූ ඔහුගේ මිතුරකු වන යාර්ත්සෙෆ්ගේ ගෙදරදී ය. ඔහු කෙරෙහි වූ ඇගේ ප්‍රේමය අවංක, ආත්මාර්ථකාමීත්වයෙන් තොර වූවකි. ඔවුන් එකට ජීවත් වීමට පටන් ගත් විට පවා ඈ වෙහෙස මහන්සි වී ඉගැන්වීම දිගටම කරගෙන ගියා ය. සංගීතයට ඇල්ම දක්වන්නටත්, එය තේරුම් ගන්නටත් ඔහුට ඉගැන්වූයේ ඇය විසිනි.

"තේ කෝප්පයක් ඇත්නම් රටක් වටිනවා." යි ඈ සෙම්ප්‍රතිශ්‍යාව නොවැළඳෙනු පිණිස තම මුව සළුවෙන් වසා ගනිමින් ගැඹුරු හඬකින් කීවා ය. "මම අද පාඩම් පහක් දුන්නා. කෙහෙම්මල්. එහෙම මොට්ට උන් ටිකක් එහෙම ගුඩ්ඩො ටිකක්. මට මැරෙන තරමට තරහයි. මේ වහල්කම කවදා ඉවර වෙයිද කියල මම දන්නේ නෑ. රූබල් තුන්සීයක්

හොයා ගත්ත ගමන් මේ ඔක්කෝම අල්ලා දාලා මම යනවා ක්‍රිමියාවට, මුහුදු වෙරළෙ වැතිරිලා, ඉඳගෙන අම්ලකර වාතය ආශ්වාස කරන්න. මම මුහුදට පෙම් කරන හැටි!"

"ඔයා කොහෙවත් යන්නේ නෑ" යි ලාප්තෙෆ් කීවේ ය. "පළමුවෙන් ඔයාට කවදාවත් සල්ලි ඉතුරු කරගන්න ලැබෙන්නේ නෑ. දෙවනුව ඔයා සල්ලි වියදම් කරන්න ආස නෑ. සමා වෙන්න. මම ආයෙමත් මේක කියන්න ඕන. හුඟාක් දුක් විඳල ඔයා පාඩම් දෙන කම්මැලි මිනිසුන්ගෙන් කොපෙක් එක එක අරගෙන රූබල් තුන්සියයක් එකතු කර ගන්නවට වැඩියෙන් හොඳ නැද්ද ඔයාගෙ යාළුවන්ගෙන් ඒ මුදල ඉල්ල ගන්න එක ?"

"මට යාළුවො නෑ!" යි ඈ කෝපයෙන් තෙපළා ය. "අනේ ඔයා මනස්ගාත නොදොඩා ඉන්න. මම අයිති කම්කරු පන්තියට ඒ පන්තියට තියෙනවා එක්තරා නම්බුවක්. ඒ තමයි දූෂණයෙන් තොර බව. ගසාකන මුදලාලිලාගෙන් ණය නොගෙන උන් පිළිකුල් කිරීම. නෑ මහත්මයා, ඔයාට මාව සල්ලිවලට ගන්න බෑ. මම යූලියා නෙමෙයි."

ලාප්තෙෆ් කුලී රියකරුට මුදල් ගෙව්වේ නැත. ඔහු එසේ කළේ මීට පෙර බොහෝ වතාවක් අසා ඇති තවත් වචන ගොඩකට එය හේතු විය හැකි බැවිනි. ඔහු එම ගාස්තු ඇයටම ගෙවීමට ඉඩ හැරියේ ය.

ඈ වාසය කෙළේ මහල් ගෙයක් අයිති කාන්තාවකගෙන් කුඩා කාමරයක් කුලියට ගෙන කෑම බීම ද ඇගෙන් ම ලබා ගෙන ය. ඇගේ විශාල බෙකර් පියානාව බොල්ශායා නිකිත්ස්කායා වීදියේ පිහිටි යාර්ත්සෙෆ්ගේ නිවසෙහි තබා ඇත. පියානෝ වාදනය පුහුණු වීමට ඈ සැමදාම එහි යයි. කාමරය, කවර දැමූ පුටුවලිනුත්, තුනී සුදු ඇඳ ඇතිරිල්ලක් දැමූ ඇඳකිනුත්, ගේ අයිතිකාරියට අයත් මල් පෝච්චිවලිනුත් සමන්විත ය. බිත්තිවල මුද්‍රිත චිත්‍ර එල්ලා තිබුණේ ය. ගැහැනියක් - පෙරදී ශිෂ්‍යාවක් - වසන බවට කිසිම ලකුණක් මේ කාමරය තුළ නැත. කන්නාඩි මේසයක්, පොත් පත්, ඒ හැර ලියන මේසයක් පවා එහි නැත. ඈ ගෙදර පැමිණි විට ම නිදාගන්නා බවත්, උදේ නැගිට්ට හැටියේ ම ගෙයින් පිටවන බවත් පැහැදිලි ලෙසම පෙනෙන්නට තිබිණි.

කුස්සි අම්මා කේත්ලය ගෙනාවා ය. පොලීනා නිකොලායෙව්නා තේ හැදුවා ය. කාමරය තුළ ශීතල බැවින් ඈ තවම වෙව්ලයි. අනතුරුව

ඈ බිතෝවන්ගේ නම වැනි වෘන්ද වාදනයට සහභාගී වූ ගායකයන් විවේචනය කරන්නට පටන් ගත්තා ය. ඇගේ ඇසි පිය, වෙහෙස නිසා මැලවී තිබුණි. ඈ තේ වීදුරුවක් බීවා ය. ඉක්බිති තව එකක් බී, තෙවන වරට ද තේ වීදුරුවක් බීවා ය.

"ඉතින් ඔයා කසාද බැඳල." යි ඈ කියන්නට වූවා ය. "මම දුක් වෙනවයි කියල කරදර වෙන්න එපා. ඔයාව මගේ හිතෙන් අහක් කරන්න පුළුවන්. මට ලොකු වේදනාවක් ඇති වෙන්නෙ අනිත් ඔක්කොම මිනිස්සු වගේ ඔයත් තරක් වෙච්ච එකටයි. ඔයාට ඕනෑ කරන්නේ ගෑනියකගේ හිත නෙවී. ඇගේ ශරීරය, ඇගේ ලස්සන, ඇගේ තරුණකම ... තරුණකම!" කෙනෙකුට ඔච්චම් කරන්නාක් මෙන් මොස හඬකින් කී ඈ සිනාසුණා ය. "තරුණකම! ඔයාට ඕනෑ පිරිසිදුකම, Reinheit! Reinheit (කන්‍යාභාවය) ඒක තමයි, කන්‍යාභාවය" ඈ තම පුටු ඇන්දේ හේත්තු වෙමින් මහ හඬින් සිනාසෙන්ට වූවා ය....

සිනහව නැවැත්වූ විට ඇගේ ඇස්වල කඳුළු පිරී තිබුණි.

"අඩු ගානෙ ඔයා සන්තෝසෙන් ඉන්නවා ද?" ඈ විචාලා ය.

"නෑ."

"ඔයාට එයා ප්‍රේම කරනවා ද?"

"නෑ."

මහත් කලබලයටත් අසන්තෝෂයටත් පත් ලාප්තගේ නැගිට ඔබ මොබ සක්මන් කරන්ට විය.

"නෑ" යි ඔහු නැවතත් කීවේ ය. "ඇත්ත වශයෙන්ම පොලීනා මම හරි දුකෙන් ඉන්නේ. නමුත් මම මොකද කරන්නෙ? මම ලොකු මෝඩකමත් කරගත්තා. දැන් ඒකට කරන්න දෙයක් නෑ. මම ඒ ගැන කම්පාවෙන්න හොඳ නෑ. ඈ මා එක්ක විවාහ වුණේ ප්‍රේම නොකර, මෝඩ විදියට, බාග දා සල්ලිවලට ආශාවෙන් වෙන්නත් පුළුවන්. නමුත් සම්පූර්ණයෙන්ම එහෙමත් නෙවී. කරපු වරද වැටහිලා දැන් ඇත් දුක් විඳිනවා. මට ඒක පේනවා. දවල් කාලෙදි එයා මා එක්ක විනාඩි පහක්වත් ඉන්න බයයි. ඉතින් ඈ විනෝද වෙන්ඩ උදවිය සොයනවා. මා එක්ක ඉන්න බයයි, ලජ්ජයි."

"නමුත් ඔයාගේ සල්ලි ගන්න නං ලජ්ජා නෑ?"

"ඒක මෝඩ කතාවක් පොලීනා." යි ලාප්තෙෆ් කෑ ගැසුවේ ය. " එයා මගෙන් සල්ලි ගන්නවා. එයාට සල්ලි ඇතත් එකයි. නැතත් එකයි. ඈ හොඳ පිරිසිදු හිතක් ඇති ගැහැනියක්. ඈ මාව බැන්දෙ

ඇගේ තාත්තගෙන් වෙන් වෙන්ඩ ඕන වුණ හින්දා. එච්චරයි."

"සල්ලි නැත්නම් එයා බඳීවි කියල ඔයාට සහතික ද?" යි රස්සූදිනා ඇසුවා ය.

"මට මොකුත් සහතික කරන්න බෑ." යි ලාප්තෙෆ් දුකෙන් පිළිතුරු දුන්නේ ය. "මොකත් නෑ. මට මේ ලෝකෙ දෙයක් තේරුම් ගන්න බෑ පොලීනා. දෙයියන්ගෙ නාමෙට අපි මේක අල්ලල දාමු."

"ඉතින් ඔයා ප්‍රේම කරනව ද?"

"ඔව්, තදින් ම."

බොහෝ වේලාවක් නිශ්ශබ්දතාවෙන් ගෙවී ගියේ ය. ඈ හතර වෙනි තේ වීදුරුව බොමින් සිටියා ය. ඒ අතර ඔහු තම බිරිඳ ගැන සිතමින් - සමහර විට ඈ මේ වේලාවේ දොස්තරගේ සමාජ ශාලාවෙහි රෑ කෑම ගන්නවා ඇතැයි සිතමින් කාමරයේ ඔබ මොබ සක්මන් කරන්ට විය.

"නමුත් කිසි කාරණයක් නැතුව ආලය කරන්න පුළුවන් ද?" යි රස්සූදිනා තම දෙවුර හකුලමින් ඇසුවා ය. "නෑ මේක තිරිසන් රාගය මිසක් වෙන මොකුත් නෙමෙයි. ඔයාව මෝහයෙන් මුලා කරලා. ඒ.... Reinheit කන්‍යාභාවයෙන්! ඒ ලස්සන සිරුරෙන්. පලයන් යන්න මෙතනින්. උඹ මහ කැත මිනිහෙක්. පලයන් ඒකි ගාවට."

ඈ දොර දෙසට ඇඟිල්ල දිගු කොට ඔහුගේ තොප්පිය ගෙන ඔහු දෙසට වීසි කළා ය. ඔහු නිහඬව කබාය දමා ගෙන පිටතට ගියේ ය. එහෙත් ඈ ඔහු පසුපස දුව ගොස් ගැහෙමින් ඔහුගේ උරය බදාගෙන ඉකි බිඳිමින් වැළපෙන්ට වූවා ය.

"අනේ පොලීනා අඬන්න එපා." යි ඔහු ඇගෙන් මිදීමට නිෂ්ඵල ලෙස වෑයම් කරමින් කීවේ ය. "ඔයා සැනසෙන්න. මං ඉල්ලා හිටිනවා."

දෑස පියාගත් ඈ සුදුමැලි වූවා ය. ඇගේ දික් නහය ඉටියෙන් තැනුවාක් වැනි අප්‍රියජනක මළ මිනියක පැහැයට හැරුණි. ලාප්තෙෆ්ට ඇගේ බදාගත් ඇඟිලි ඉවත් කිරීමට නොහැකි විය. ඈ ක්ලාන්ත වූවා ය. ඔහු ඇය සෙමින් ඔසොවාගෙන ගොස් ඇඳ උඩ තබා ඇයට ප්‍රකෘති සිහිය ලැබෙන තුරු විනාඩි දහයක් විතර ඇය පසෙකින් වාඩි වී සිටියේ ය. ඇගේ අත් සීතල විය. නාඩි වැටීම දුබල විය.

"ගෙදර යන්න" යි ඈ ඇස් අරිමින් කීවා ය. "යන්න. නැත්නම් මම ආයෙමත් අඬන්ඩ පටන් ගන්න පුළුවන්. මං මාව බලා ගන්නම්."

ඔහු ඇයගෙන් වෙන් වී තමා එනතෙක් අනික් උදවිය බලාපොරොත්තුව සිටින දොස්තරවරුන්ගේ සමාජ ශාලාවට යනවා

වෙනුවට ගෙදර ගියේ ය. තමාට සැබෑ ලෙසම ප්‍රේම කරන, වරක් තමාගේ බිරිඳ ද මිතුරියක්ව ද සිටින මේ ගැහැනිය සමග තමා විවාහ නොවූයේ මන්දැයි ඔහු ගෙදර යන ගමන් මහත් ශෝකයෙන් තමාගෙන් ම අසන්ට විය. ඔහු කෙරෙහි ප්‍රේමයෙන් වෙළුණු එකම තැනැත්තිය ඇය පමණකි. ඇරත් වෙහෙස මහන්සි වී වැඩ කරන, අහංකාර, ශූර මේ ස්ත්‍රියට නිවසකුත්, සාමකාමී ජීවිතයකුත් ප්‍රීතියකුත් ලබා දීම ශ්‍රේෂ්ට කාරියක් නොවන්නේ ද? සුන්දරත්වයටත්, තරුණ බවටත් ළඟා කර ගත නොහැකි ප්‍රීතියටත් අයිතිවාසිකම් කීමට තරම් තමා කවරෙක්දැයි ඔහු තමාගෙන් ම ඇසුවේ ය. දඬුවමකට නොහොත් සරදමකට භාජන කරනු ලැබුවාක් මෙන් අඳුරු දුක්බර තත්වයක මෙසේ මාස තුනක් තමා තබාගෙන සිටියේ කවරෙක් ද? ඔහුගේ මධුසමය ඉකුත් වී දැන් බොහෝ කල් ය. එහෙත් තම බිරිඳ කෙබඳු විධියේ තැනැත්තියක් දැයි තවම තමා නොදැනීම විහිළුවක් මෙන් ඔහුට පෙනිණි. ඈ ඇගේ පාසල් මිතුරන්ට ද ඇගේ පියාට ද පිටු පහක් පමණ දිග ලියුම් ලියයි. ඇයට බොහෝ දේවල් ලියන්ට තිබෙන්නාක් මෙනි. එහෙත් ඈ ඔහු සමග කථා කරන්නේ කාලගුණය ගැන නැත්නම් කෑම වේලාව හරි යන්න පමණකි. ඈ යාඥා අවසන් කිරීමටත්, කුඩා කුරුසය හා දේව රූප සිඹීමටත් පෙර ඇය දෙස බලා දෙස බලා "මොකටද මේ යාඥා කරන්නේ?" යනුවෙන් ද්වේෂ සහගතව ඔහුට සිතා නොසිටිය නොහැකි ය. ඔහු ඇය වැළඳගෙන නිදාගන්ට යන විට තමා ඇය මිළයට ගත් බවත්, ඊට දැන් වන්දි ගවන බවත් කියමින් ඇයට සිතින් නින්දා කරයි. එහෙත් ඉන් උද්ගත වන හැඟීම භයානක ය. ඈ සජීපවත්, නිර්භීත, පච්කාර ගැහැනියක වූවා නම් එය වෙනම කරුණක් වන ඇත. එසේ වුවත් ඈ බෙහෙවින් තරුණ ය. භක්තිමත් ය. බැගෑපත් ය. ඇයට ඇත්තේ කෙතරම් අහිංසක නෙත් සඟලක් ද? ඇය ඔහුගේ මනාලිය වීමෙන් ඔහු කෙරෙහි කිසියම් භක්තියක් ඇය තුළ පැවතිණි. එහෙත් දැන් ලෝක සම්මත අදහස් ද, හැඟීම් ද පවුරක් මෙන් සත්‍යය වට කොට සිටින්නාක් මෙන් පෙනේ. ඔහුගේ ජීවිතය දැනට ම වදයකි. ඔහු තම බිරිඳ සමග නාට්‍ය ශාලාවේ වාඩි වී සිටිය දී සුසුම්ලන විට නැත්නම් ප්‍රීතියෙන් සිනාසෙන විට ඇය විඳි සතුට විඳීමට ඔහු හවුල් කර නොගැනීම ඔහු තුළ වේදනාවක් ඇති කෙළේ ය. පුදුමය නම් ඈ ඔහුගේ ම මිතුරන් සමග මහත් ප්‍රීතියෙන් කල් ඇරීම යි. ඔහුගේ මිතුරෝ දැනටම ඈ මනාව වටහා ගෙන සිටිති. නමුත් ඔහු ඇය ගැන මොකුත් දන්නේ

නැත. ඔහුට කළ හැක්කේ නිහඬව, ඊර්ෂ්‍යාවෙන්, දුකෙන් හා කනස්සල්ලෙන් පසු වීම පමණකි.

ලාප්තෙෆ් ගෙදර පැමිණ රැ ඇඳුම ද සෙරෙප්පු ද දමා ගෙන තම කාමරයට ගොස් නවකථාවක් කියවීමට වාඩි විය. ඔහුගේ බිරිඳ තවම ගෙදර පැමිණ නැත. පැය බාගයකට විතර පසු සීනුව වදිනවාත්, පියෝත්‍ර් කඩිමුඩියේ ගොස් දොර අරිනවාත් ඔහුට ඇසුණේ ය. ඒ යූලියා ය. ඈ ලොම් කබාය දමා ගෙන ඔහුගේ කාමරයට පැමිණියා ය. අධික ශීතල නිසා ඇගේ කම්මුල් රෝස පාටට හැරී තිබිණි. "ප්‍රේස්නයාවල මහ ගින්නක්." යි ඈ හති දමමින් කීවා ය. "ගිනි ජාලාවෙන් ආකාසෙ රතු වෙලා. මම කෝස්ත්‍යාත් එක්ක ඒක බලන්න යනවා."

"ඕන නම් යන්න."

ඇගේ සතිපදායක ප්‍රාණවත් පෙනුම හා ඇගේ ඇස්වල පැවැති ළාමක බියජනක විලාසය ලාප්තෙෆ් තුළ ඇති කළේ සන්සුන් ගතියකි. ඔහු තවත් පැය බාගයක් කියවා නිදාගන්ට ගියේ ය.

පහුවදා, පොලීනා නිකොලායෙව්නා වරක් ඔහුගෙන් ඉල්ලා ගත් පොත් දෙකක්, ඔහුගේ සියලුම ලියුම් හා ඡායාරූප වෙළඳහලට එවා තිබුණේ ය. එහි වූ ලියුම් කැබැල්ලක 'ඔක්කොම සුන්' යන වචනය පමණක් ලියා තිබිණි.

## VIII

ඔක්තෝබර් මාසයේ අන්තිම හරියේ දී නීනා ෆියෝදරව්නාගේ තත්වය හොඳටම නරක අතට හැරුණේ ය. ඇගේ බර සීඝ්‍රයෙන් අඩුවන්ට විය. ඇගේ පෙනුමේ වෙනසක් ඇති විය. තදබල වේදනාවෙන් පෙළුණත් තම රෝගය සුව වෙතැයි ඈ සිතුවා ය. සෑම උදයකම ඈ ඇඳ පැළඳගන්නේ සම්පූර්ණ සුවයෙන් සිටින්නියක ලෙසිනි. අනතුරුව ඒ ඇඳුම් පිටින් ම ඇඳ මත වැතිරීගෙන මුළු දවසම ගත කරයි. අවසානය ළං වෙත්ම ඇගේ කථාව වැඩි ය. ඈ උඩුබැල්ලෙන් වැතිරීගෙන හති දමමින් පහත් හඬකින් කථා කරයි. හදිස්සියෙන්ම මරණය පැමිණියේ ය.

ඒ පැහැදිලි සඳපාන ඇති රැයකි. නගරයේ ජනයා අලුත් හිම මතුපිට හිම යානවල නැගී යමින් ක්‍රීඩා කරති. වීදියෙන් නැගෙන හඬ කාමරයට ද ඇසේ. නීනා, ෆියෝදරව්නා ඇඳෙහි වැතිරී සිටියි. දත් පිහිට වෙන්ඩ කාත් කවුරුවත් නැති සාෂා ඇය පසෙකින් වාඩි

වී නිදා වැටේ.

"මට එයාගෙ පෙළපත් නාමය මතක නෑ" යි නීනා ෆියෝදරව්නා සන්සුන් හඬින් කියන්ට වූවා ය. "නමුත් එයාගෙ බවුතීස්ම නම ඉවාන්. උප නාමය කොචෙවොයි, එයා ආණ්ඩුවේ නිලධාරියෙක්. නමුත් හරි දුප්පත්. භයානක බේබද්දෙක්. දෙයියෝ එයාගෙ ආත්මයට සැනසීම දෙන්ඩ ඕන. එයා අපේ ගෙදරට නිතරම එනවා. හැම මාසෙකම අපි සීනි රාත්තලකුයි තේ කොළ පැකට් එකකුයි දෙනවා." සමහරදාට සල්ලිත් දෙනවා. ඉතින් එක අපූරු දවසක කොචෙවොයි හුඟාක් බීවා. බීලා ඒකෙන්ම මළා. එයා වොඩ්කාවලින් ම නැති වෙලා ගියා. මිනිහට පුතෙක් හිටියා, අවුරුදු හතක විතර පුංචි කොල්ලෙක්. පුංචි අසරණ අනාථයෙක්. අපි මේ කොළුවාව අරගෙන වෙළඳ සේවකයින්ගේ නිවාසයේ හැංගුවා. සම්පූර්ණ අවුරුද්දක් යනකල් ම තාත්තා මේ ගැන මොකුත් දන්නේ නැහැ. ඉතින් තාත්තා දැනගත්තයින් පස්සෙ මොකුත් කීවෙ නෑ. කෝස්ත්යාට - අනත් දරුවාට - නවය වෙනකොට - මම එතකොට විවාහ ගිවිසගෙන - හැම ඉස්කෝලයක් ගානෙම අරගෙන ගියා. නමුත් කවුරුවත් භාර ගත්තේ නෑ. ඉතින් අසරණ කොළුවා ඇඬුවා. "මෝඩ පැංචා මක්කට ද අඬන්නෙ" යි මම කීවා. "ඊට පස්සේ මම එයාව රස්ගුලායිහි ඉස්කෝලෙට අරන් ගියා. දෙයියන්ට පින් සිද්ද වෙන්ඩ ඒගොල්ල භාර ගත්තා. ඉතින් හැමදාම මේ පුංචි කොලුවා පියාත්නිත්ස්කයාවල ඉඳලා රස්ගුලායිවලටයි, රස්ගුලායිවල ඉඳල පියාත්නිත්ස්කයාවලටයි පයින් යන්ඩ ඕන. එයාගෙ ඉස්කෝලෙ කාසි අලෝෂා ගෙව්වා. දෙයියන්ට ස්තෝත්‍ර වෙන්ඩ ළමයා බොහොම අමාරුවෙන් හොඳට ඉගෙන ගත්තු අලෝෂාගේ යාළුවෙක්. අසරණ කොළුවව අපි අරගෙන රැකවරණයක් දීපු එක හොඳ දෙයක්. දැන් එයා යාඥා කරන කොට සමහර විට අපව මතක් කරනව ඇති .... ඔව් ...."

ඇගේ කටහඬ එන්න එන්නම දුර්වල විය. ඇත හිටවීම වැඩිවන්ට විය. අනතුරුව මඳ නිහඬතාවයකින් පසු ව ඈ හදිසියෙන් ම වාඩි වූවා ය.

"මට හුඟාක් .... අමාරුයි" ඈ කීවා ය. "දෙයියනේ මට අනුකම්පා කරන්න. මට හුස්ම ගන්න බෑ."

තම මව ඉක්මණින් මැරෙන බව සාෂා දත්තා ය. කම්මුල් වල ගැසී තිබෙන හැටි දුටුවාම අවසානය හදිසියෙන් ම ළං වී ඇති බව අනුමාන කළ ඈ බිය වූවා ය.

"අනේ අම්මේ එපා." යි ඇ ඉකිබින්දා ය. "එපා."

"දරුවා, කුස්සියට දුවලා කාට හරි කියන්න තාත්තට එන්ඩ කියන්න කියල. මට හුඟාක් අමාරුයි."

සාෂා වැඩකාරයන්ට අඬ ගසමින් සියලුම කාමර පුරා දිව්වා ය. එහෙත්, සම්පූර්ණයෙන්ම ඇඳුම් ඇඳ ගෙන, කෑම කන කාමරයේ පෙට්ටියක් උඩ කොට්ටයක් නැතිව නිදා සිටි ලීදා හැර ගෙදර කිසිවෙක් නොසිටියහ. සාෂා තම කබායවත්. සපත්තුවත් දමාගන්ට නතර නොවී, මිදුලට ද එතැනින් වීදියට ද දිව්වා ය. ආයා දොරටුව පිටතින් බංකුවක් මත වාඩි වී හිම යානාවල යන මිනිසුන් දෙස බලාගෙන සිටියි. ගඟ පහල හිම ක්‍රීඩා කරන තැන යුද හමුදා බෑන්ඩ් කණ්ඩායමක් තූර්ය වාද පවත්වති.

"ආයා, ආයා, අම්මා මැරෙන්න යනවා." සාෂා ඉකි බිඳිමින් කෑ ගැසුවා ය. "හනික තාත්තා එක්කරගෙන එන්න ඕනැ."

ආයා උඩු මහලේ නිදන කාමරයට ගොස් රෝගී ගැහැනිය දෙස බැල්මක් හෙලා ඉටිපන්දමක් දල්වා එය ඇගේ අත්වලින් අල්ලා ගන්ට සැලැස්සුවා ය. කවුරු හරි තම පියා කැඳවා ගෙන ඒමට යා යුතු යයි ඉල්ලමින් සාෂා පිස්සුවෙන් මෙන් එහා මෙහා දුවන්ට විය. ඉක්බිති ඈ තම කබායත් සාලුවත් දමාගෙන පිටතට දිව්වා ය. තම පියා වෙන බිරිඳකුත් කුඩා ගෑනු ළමයින් දෙදෙනෙකුත් සමග බසර්නයා වීදියේ වසන බව වැඩකාරයන් කියනවා ඇය අසා තිබිණි. ඈ වැලපෙමින් ද, හිම දහරවල වැටෙමින් ද මිනිසුන් මග හරිමින් ද සීතලෙන් ගැහෙමින් ද වීදිය පහළට දිව්වා ය.

වීදිය පහළට කුලී රථයක් පැමිණියේ ය. එහෙත් ඈ එහි නොගියේ, කුලී රියකරු තමා නගරයෙන් බැහැරට පැහැරගෙන ගොස් සොහොන් බිමට විසි කරාවි යන බිය නිසා ය. (මෙවැනි සිද්ධියක් තේ බොන වේලාවක දී වැඩකාරයන් කියනවා ඇය අසා ඇත.) ඈ ඉකි බිඳිමින් ද වෙහෙස නිසා හති දමමින් ද නොනැවතී ම කඩිනමින් ගියා ය. බසර්නයා වීදියට පැමිණි විට, තමා පසු කරගෙන යන ගැහැනියකගෙන් පනවූරෆ් මහතා වසන ගේ කොහේදැයි ඇසීමට ඈ නතර වූවා ය. ගැහැනිය එහි යන සැටි බොහෝ විස්තර ඇතිව දිගටම කියන්ට විය. එහෙත් තමා කී කිසිවක් ළමයාට නොතේරුණු බව වැටහුණෙන් ඈ ළමයා අතින් අල්ලාගෙන එක් මහල් ගෙයක් ළඟට කැඳවාගෙන ගියා ය. ඉස්සරහ දොර වසා නොතිබිණි. සාෂා ශාලාව මැදින් දිව ගොස් ඉස්තෝප්පුවට ද, අනතුරුව දීප්තිමත් ව

ආලෝක කරන ලද උණුසුම් කාමරයකට ද පිවිසුණා ය. එහිදී තම පියා වාඩි ගෙන, කාන්තාවකුත් කුඩා ගෑනු ළමුන් දෙදෙනෙකුත් සමග තේ බොමින් සිටිනු ඇයට දක්නට ලැබිණි. දැන් ඇයට කථා කිරීම පවා නොහැකි ය. ඇයට කළ හැක්කේ ඉකි බිඳීම පමණකි. පනවූරෆ් එක පාරටම ඇය පැමිණි කාරණය අනුමාන කෙළේ ය.

"අම්මා ද? අම්මට අමාරු ද?" යි ඔහු ඇසුවේ ය. "කියන්න දරුව, අම්මට අමාරු ද?"

ඔහු හනික නැගිට කුලී රථයක් ගෙනෙන්ට යැව්වේ ය.

ඔවුන් පැමිණෙන විට කොට්ටවලින් වට කරන ලද නීනා ෆියෝද්‍රව්නා ඇඳෙහි වාඩි වී ඉටි පන්දමක් අල්ලාගෙන සිටියා ය. ඇගේ මුහුණ අඳුරු ය. ඇස් දෑනටම පියවිලා ය. නිදන කාමරය මිනිසුන්ගෙන් - ආයා, කුස්සි අම්මා, කෑම මේසයේ ආවතේව කරන මෙහෙකාරි, ප්‍රොකොෆි, කුලී රියැදුරා ආදීන්ගෙන් පිරී තිබිණ. දොරකඩ නාඳුනන කීප දෙනෙක් රැස්ව සිටියහ. ආයා කිසියම් උපදෙස් වගයක් කොඳුරමින් කීවා ය. එහෙත් ආයා ඔවුන්ගෙන් කුමක් බලාපොරොත්තු වන්නේ දැයි කිසිවකුට නොවැටහිණි. ලීදා, තවමත් නිදිමත, සුදුමැලි මුහුණකින් යුතුව මහත් ඕනෑකමින් මව දෙස බලාගෙන කාමරයේ ඈත කෙළවරේ ජනේලය ළඟ සිටගෙන සිටියි.

පනවූරෆ්, ඉටිපන්දම නීනා ෆියෝද්‍රව්නා අතින් ගෙන අප්‍රසන්න ගතියකින් එය මේසය උඩට විසි කළේ ය.

"මේක භයානකයි." කී ඔහු උරහිස් සෙලවී ය. "නීනා, ඔයා හාන්සි වෙන්ඩ ඕන." ඔහු සෙමින් කීවේ ය. "හාන්සි වෙන්න සිදේවි."

ඈ ඔහු දෙස බැලුවා ය. එහෙත් ඇයට ඔහු හඳුනාගන්ට පුළුවන් වුණේ නැත. ඔවුහු ඇයට හාන්සි වීමට උදවු කළහ.

පූජකයාත්, සෙර්ගේයි බොරීසිච් දොස්තරත් පැමිණෙන විට සේවකයන් සිටියේ තම ස්වාමිදුවගේ ආත්මය වෙනුවෙන් මහත් භක්තියෙන් කුරුසය ලකුණු කරමිනුත්, කොඳුරමින් යාඥා කරමිනුත් ය.

"බොහොම කණගාටුයි." දොස්තර විසිත්ත කාමරයට යමින් කල්පනාවක් නැතිව මෙන් කීවේ ය. "එයා තාම තරුණයි. තාම හතලිහකුත් නෑ."

කුඩා ගෑනු ළමුන් ශෝකයෙන් ඉකිබිඳින හඬ ඇසේ. පනවූරෆ් සුදුමැලිව, තෙත් වුණු දෑසින් යුතුව දොස්තර ළඟට පැමිණ දුර්වල නොපැහැදිලි හඬකින් මෙසේ කීවේ ය.

"අනේ මහත්මයා, මා වෙනුවෙන් මොස්කව් නුවරට විදුලි පණිවිඩයක් අරින්න. මට මොකුත් කරන්න බැහැ."

දොස්තර තීන්ත ටිකක ගෙන තම දියණියට විදුලි පණිවුඩයක් ලිවේ ය. පනවූරවා ඊ අටට මළා. සැමියාට කියන්න ඩ්වොරන්ස්කායාහි ගේ, ණය ගෙවන්න විකුණූ බව. වෙන්දේසිය දොළොස් වෙනිදා. වරද්දන්න එපා.

## IX

ලාප්තෙෆ් වාසය කෙළේ මලයා දිමිත්‍රොව්කා වීදියට මඳක් ඈතින් කුඩා වීදියක සාන්ත පීමන් පල්ලියට නුදුරිනි. වීදියට මුහුණ ලා පිහිටි විශාල ගෙය ඇරුණු කොට ඔහු තම යාළුවා වූ කෝස්ත්‍යා කොචෙවොයි සඳහා එම ගෙට යාබද ව දෙමහල් ගෙයක් කුලියට ගත්තේ ය. කොස්ත්‍යා වනාහි තරුණ නීතිඥයෙකි. ලාප්තෙෆ් පවුලේ සියලුදෙනාම බාල කාලයේ සිටම ඔහු දන්නා හඳුනන බැවින් ඔවුන් ඔහු අමතන්නේ නිකම්ම කෝස්ත්‍යා යනුවෙනි. අනික් පැත්තේ පිහිටි එවැනි ම ගෙයක සැමියාත් බිරිඳත් දූවරු පස් දෙනෙකුගෙනුත් යුත් ප්‍රංශ පවුලක් වාසය කළහ.

ඒ බෙහෙවින් සීතල දවසකි. ජනේල මීදුමින් වැසී ගොසිනි. උදේ රැයින් ම නැගිට්ට කෝස්ත්‍යා කරදරකාරී පෙනුමකින් යුතුව කිසියම් බෙහෙතකින් බින්දු පහළොවක් පමණ බීවේ ය. අනතුරුව රාක්කයෙන් බර යෙදූ පොලු දෙකක් ගෙන ව්‍යායාම කෙළේ ය. ඔහු උස ය. බොහෝ සෙයින් කෙට්ටු ය. ඔහුට දුඹුරු පාට ලොකු උඩු රැවුලක් තිබුණේ ය. එහෙත් ඔහු කෙරෙහි වූ අතිශයින් පුදුම උපදවන දෙය නම් අසාමාන්‍ය ලෙස දික් වූ ඔහුගේ කකුල් ය.

කබායකුත් කපු කලිසමකුත් ඇඳ, උස් සපත්තු දමාගෙන සිටි පියෝතර් නම් මැදිවියේ සේවකයා කේතලය ගෙනැවිත් තේ හදන්ට විය.

"හොඳ අපූරු දවසක් මහත්තයා." යි ඔහු කීවේ ය.

"වෙන්ඩ පුළුවන් යාළුවා. නමුත් උඹටයි මටයි ඒකෙන් සන්තෝස වෙන්ඩ බැරි එකයි දුක."

පියෝතර් ආචාරශීලීව අමාරුවෙන් සුසුමක් හෙළුවේ ය.

"කෝ පුංචි ගෑනු ළමයි දෙන්නා." කොචෙවොයි ඇසුවේ ය.

"තාම පූජකයා ආවෙ නෑ. අලෙක්සෙයි ෆියෝදරවිච් මහත්තයා ළමයින්ට පාඩම් කියල දෙනවා."

කෝස්ත්‍යා ජනේලයේ මීදුමෙන් නොවැසුණු තැනක් සොයා

තම ඔපරා කන්නාඩියනේ ප්‍රංශ පවුල වසන ගෙයි ජනෙල දෙස බලන්ට විය.

"මොකවත් පෙන්න්න නෑ." යි ඔහු කීවේ ය.

මේ අතර අලෙක්සේයි ෆියෝදරවිච් සාෂාටත්, ලීදාටත් ආගම පාඩම කියා දෙමින් සිටියේ ය. ඔවුන් දැන් මොස්කව් නුවර වාසයට ඇවිත් සති හයකි. ඔවුන් වසන්නේ ආයාත් සමග ගෙයි පාත මාලයේ ය. නගරයේ පාසලේ ගුරුවරයෙක් ද, පූජකයෙක් ද ඔවුන්ට පාඩම් කියා දීමට සතියට තෙවර බැගින් පැමිණෙති. සාෂා අලුත් ගිවිසුම ඉගෙන ගනියි. ලීදා පරණ ගිවිසුම පටන් ගත්තේ මෑතකදී ය. ගිය වර පාඩමේ දී ලීදාට ආබ්‍රහම් දක්වා ඇති පාඩම් ඉගෙනගෙන එන්ට කියා තිබිණි.

"ඉතින් ආදම්ටයි ඒවටයි පුත්තු දෙදෙනෙක් හිටියා." යි ලාප්තෙෆ් කීවේ ය. "හා හොඳයි. මොනවද ඒගොල්ලන්ගේ නම්? ඔයාට මතකද?"

ලීදා සිරිත් පරිදි බැරෑරුම් මුහුණකින් මේසය දෙස බලා සිටින්ට විය. ඇගේ තොල් සෙලවිණි. වැඩිමල් ගෑනු ළමයා - සාෂා - ඇය දෙස නොඉවසිල්ලෙන් බැලුවා ය.

"ඔයා හොඳට දන්නවා. කලබල වෙන්න එපා." යි ලාප්තෙෆ් කීවේ ය.

"ඔව්, ආදම්ගෙ පුතාල කවු ද?" "ආබෙල් හා කාබෙල්" යි ලීදා කෙඳුරුවා ය.

"කායින් හා ආබෙල්" ලාප්තෙෆ් වරද නිවැරදි කළේ ය.

ලොකු කඳුළු බින්දුවක් ලීදාගේ කම්මුල දිගේ ගලාගෙන විත් පොත උඩ වැටුණේ ය. අඬන්න ඕන මෙන්න කියා සිටි සාෂා ද දෙනෙත් පහතට හැරෙව්වා ය. ඇගේ මුහුණ රතු විය. දුක නිසා ලාප්තෙෆ්ට කථා කළ නොහැකි විය. ඔහු නැගිට සිගරැට්ටුවක් පත්තු කරගත්තේ ය. එවෙල් ම කොචෙවොයි පත්තරයක් අතේ තියාගෙන උඩු මාලේ සිට පැමිණියේ ය. කුඩා ගෑනු ළමෝ නැගිට ඔහු දෙස නොබලා ම හිස හා දණ නමා ආචාර කළහ.

"කෝස්ත්‍යා, දෙයියන්ගෙ නාමෙට මේ ළමයින්ගේ පාඩම ගන්න, කරුණාකරල." යි ලාප්තෙෆ් ඔහුගෙන් ඉල්ලා සිටියේ ය. "මං අඬන්න ඉස්සෙල්ලා. මට ගබඩාවට යන්නත් තියෙනවා."

"ඒවා හරි"

අලෙක්සේයි ෆියෝදරිච් බැහැරට ගියේ ය. කොස්ත්‍යා බැම හකුළමින් බැරෑරුම් පෙනුමක් ඇතිව මේසය ළඟ වාඩි වී බයිබලය

තමන් වෙතට ළං කරගත්තේ ය.

"ඉතින්" ඔහු කීවේ ය. "දැන් ඔයාල කොයි හරියෙ ද?"

"නංගි ජල ගැල්ම ගැන දන්නවා." යි සාෂා කීවා ය.

"එයා දන්නව ද? හොඳයි. අපි එහෙනං ජල ගැල්ම ගැන කථා කරමු. පටන් ගන්න ජල ගැල්ම ගැන." කෝස්ත්යා ජල ගැල්ම ගැන පොතෙන් සුළු කොටසක් කියවා මෙසේ කියන්ට විය. "මං ඔයාලට කියන්නං. ඔය මේකෙ තියෙන හැටියට ගං වතුරක් තිබුණේ නෑ. නොආ කියල මිනිහෙක් හිටියෙත් නෑ. ක්‍රිස්තුස් වහන්සේ උපදින්න අවුරුදු දහස් ගණනකට ඉස්සෙල්ලා ඇත්තටම විශාල ජල ගැල්මක් තිබුණා.ඒක හීබ්‍රෑවරුන්ගෙ බයිබලයේ විතරක් නෙමෙයි ග්‍රීක්, චැල්ඩින්ස්, හින්දු ඔය වගේ පුරාණ මිනිසුන්ගෙ පොත්වල හිටන් තියෙනවා. ඒක කොච්චර ලොකු ජල ගැල්මක් වුණත් මේ මුළු පොළොව නම් යට කරන්න පුළුවන් වෙන එකක් නෑ. බාගදා තැනිතලා යට වෙන්න ඇති. නමුත් කඳු නෙමෙයි. මේ පොත කීවට කමක් නෑ. නමුත් ඒකේ තියෙන ඔක්කෝම විශ්වාස කරන්ඩ ඕන නෑ."

ආයෙමත් ලීදාගේ දෑසින් කඳුළු වැක්කෙරෙන්ට විය. ඈ ඉවතට හැරී එක පාරටම මහත් හඬින් අඬන්ට පටන් ගත්තා ද යත් කොස්ත්යා බයෙන් ගැස්සී පුටුවෙන් උඩ ගියේ ය.

"මට ගෙදර යන්න ඕන." ඈ ඉකි බින්දා ය. "තාත්තයි ආයයි ළඟට යන්න ඕන."

සාෂා ද අඬන්ට පටන් ගත්තා ය. කෝස්ත්යා උඩු මහලට ගොස් යූලියා සෙර්ගේයේව්නාට ටැලිෆෝන් කළා ය.

"යූලියා, ළමයි ආයෙමත් අඬනවා. මං දන්නේ නෑ මොනවා කරන්ඩ ද කියල."

යූලියා සෙර්ගේයෙව්නා ලොම් සාලුවක් ඇඳුමට උඩින් දමාගෙන සීතලෙන් මඳ ලෙස වෙව්ලමින් මහ ගෙයි සිට ඉක්මණින් ආවා ය.

"මේ අහන්න, අහන්න." යි ඈ ඔවුන් තමන්ට තුරුළු කර ගනිමින් කීවා ය. "අද ඔයාලගේ තාත්තා එනවා. එයා මට විදුලි පණිවිඩයක් එව්වා. අම්මා ගැන හරි දුකයි. ඔයාල දෙන්නා ගැනත් මට හරි දුකයි. නමුත් අපි මොකද කරන්නෙ? අපිට දෙවියන් වහන්සේට විරුද්ධ වෙන්න බෑ."

ඔවුන් ඇඬීම නැවැත්වූ පසු යූලියා ඔවුන් සමග ඇවිදින්ට පිටතට ගියා ය. ඔවුහු මලයා දිමිත්‍රොව්කා වීදියටත්, එතැනින් ස්ත්‍රස්නෝයි බුල්වාඩ් පසුකර ගෙන ත්වෙර්ස්කයා වීදියටත් ගියහ. ඉවේර්ස්කි

පල්ලියේදී ඔවුන් සෑම කෙනෙක් ම දේව රූප ඉදිරියේ ඉටිපන්දම් දල්වා දණ ගසාගෙන යාඥා කළෝ ය. ආපසු එද්දී ෆිලිපොෆ් සාප්පුව ළඟදී රථයෙන් බැස පොපි ඇට සහිත පාන් වළලු මිලයට ගත්හ.

ලාප්තෙෆ් නිවසේ සෑම දෙනෙක් ම දෙකටත් තුනටත් අතර දවල් කෑම ගත්හ. පියෝතර් කෑම මේසයේ ආවතේව කළේ ය. පියෝතර් සෑම දෙයක් ම කරයි. දවාලට ඔහු තැපැල් කන්තෝරුවට දුවයි; ගබඩාවටත් දිස්ත්‍රික් උසාවියේ කෝස්ත්‍යාටත් පණිවිඩ ගෙන යයි; සවස සිගරැට් සාදයි; රෑ දොර දෙසින් සීනු හඬ ඇසෙන විට දොර ඇරීමට යයි. උදේ පහට උදුන් රත් කරයි. ඔහු නිදාගන්නා වේලාව කිසිවෙක් නොදනිති. ඔහු සෝඩා බෝතලවල මූඩි ඇරීමට මහත් කැමැත්තක් දක්වන්නෙකි. බින්දුවක්වත් අපතේ නොයන විදිහට මහත් දක්ෂ කමකින් ඔහු එය කරයි.

"එහෙනං" කෝස්ත්‍යා තම සුප් බීමට පෙර වොඩ්කා වීදුරුව ඔසවමින් කීවේ ය.

යූලියා සෙර්ගේයෙව්නා මුලදී කෝස්ත්‍යාට කැමති නොවූවා ය. ඔහුගේ ගොරෝසු කටහඬ, 'එයාට පයින් ගහල එලවන්න.', 'මූණට එකක් දෙන්න', 'සවුත්තුයි' 'දූන්ම සමොවාරය හදන්න', වීදුරු එකටෙක ගැසීමේ පුරුද්ද, වයින් බොන හැම විටම කතා පැවැත්වීම යනාදී කීම් හා හැසිරීම් ග්‍රාම්‍ය දේවල් මෙන් ඇයට වැටහිණි. එහෙත් ඈ ඔහු හොඳින් තේරුම් ගත් විට ඔහු සමග ආශ්‍රය ඇයට එතරම් අපහසු නොවී ය. ඔහු ඇය සමග කුළුපග විය. සවස් කාලයේ ඇය සමග තිවීහැනේ කථා කර කර ඉන්ට ඔහු කැමති ය. තමන්ගේ ළඟම මිතුරන් වන ලාප්තෙෆ්ටත්, යාර්ත්සෙෆ්ටත් තවමත් රහසක් වශයෙන් තබා ගෙන සිටින තම නවකථා පවා ඇයට කියවන්ට දෙයි. ඈ ඒ නවකථා කියවා ඒවාට ප්‍රශංසා කරන්නේ ඔහුගේ හිතට වේදනා ගෙන දීමට නොකැමැත්තෙනි. ඔහු එයින් විඳින්නේ මහත් සන්තෝෂයකි. කවදා හෝ තමා කීර්තිමත් ලේඛකයෙකු වනු ඇතැයි ඔහු සිතයි. ඔහු ගමකට යන්නේ තම යහළුවන් බලන්ට යන විටදී පමණක් වුවද, ඔහු වලව්වකට ගොස් තිබෙනුයේ තම ජීවිතයේ එකම වතාවකදී, එනම් නීතිය පිළිබඳ කටයුත්තක් සඳහා වොලොකොලොම්ස් නගරයට ගිය විට පමණක් වුව ද ඔහු ගැමියන් ගැනත්, උසස් පැළැන්තියේ උදවිය ගැනත් ලියයි. ප්‍රේමය තමා තුළ ව්‍යාකූලත්වයක් ඇති කළ නිසාදෝ ඔහු එම මාතෘකාව ගැන ලිවීමෙන් වැළකී සිටියි. එහෙත් ඔහු 'කඳු මුදුන්වල මායාකාරී රේඛා', 'වලාකුළුවල

පුදුම හැඩය, 'විශ්මයජනක ගීත සංකලනයක්' යනාදී විදියට ස්වභාවධර්මය විස්තර කිරීමට මහත් ආශාවක් දක්වයි. ඔහුගේ නවකථා කවදාවත් මුද්‍රණය කර නැත. ඔහු එහි වරද පැවරුවේ පොත් පත් පරීක්ෂා කරන්නන් පිට ය.

තමා නීතිඥයෙකු වීම ගැන ඔහු කැමති ය. එහෙත් තමන්ගේ වෘත්තිය නීතිය නොව සාහිත්‍යය යැයි ඔහු විශ්වාස කරයි. ඔහු හැම විටම කලාවෙන් මහත් ආස්වාදයක් විඳියි. සෞන්දර්ය ප්‍රිය භාවය ගැන තමාට සහජ වාසනා ගුණයක් ඇතැයි ඔහු නිසැකවම සිතයි. ඔහුට ගායනය කිරීමටවත්, කිසිම තූර්ය භාණ්ඩයක් වාදනය කිරීමටවත් නොහැකි ය. සංගීතයට හුරු පුරුදු කනක් ඔහුට කොහොමවත් නැත. එසේ වුවද සෑම තූර්ය වාදනයකට ම ඔහු යයි. සියලුම වර්ගයේ පුණ්‍ය කටයුතු පිණිස විවිධ ප්‍රසංග ඔහු සංවිධානය කරයි. සංගීතඥයින්ට තමන්ව හඳුන්වා දෙනු ලබයි.

දවල් කෑම ගනිද්දී බෙහෙවින් කතා බහ පැවතුණේ ය.

"අපේ ෆියෝදර් අලුත් යෝජනාවක් කරනවා" යි ලාප්තෙෆ් කීවේ ය. "නම්බු නාමයක් ගන්න කටයුතු පටන් ගන්න. අපේ ආයතනයට ශත වර්ෂයක් පිරෙන්නෙ කවද්ද කියල හොයාගන්ට ඕන. එයා බොහොම බැරෑරුම් විදියටයි, ඒ ගැන හිතන්නෙ. මම දන්නෙ නෑ මොනව කරන්න ද කියල. ඇත්තට, මං දැන් හරි බයෙන් ඉන්නෙ."

ෆියෝදර් ගැනත්, මේ දවස්වල බොරු උජාරුකම් බලපාන හැටිත් ඔවුහු කථා කළහ. උදාහරණයක් වශයෙන් ෆියෝදර් තමා වෙළෙන්දෙක් නොවූවත් සාමාන්‍ය රුසියන් වෙළෙන්දෙක් බව පෙන්නන්ට වෑයම් කරයි. මහලු ලාප්තෙෆ් විසින් ගෙන යනු ලබන පාසලේ ගුරුවරයා පඩි ගන්ට ආ විට ෆියෝදර් ඔහු පහත් කොට සලකා කථා කරයි.

දවල් කෑමෙන් පසු කිරීමට තරම් සැලකිය යුතු දෙයක් නොවූ බැවින් ඔවුහු පොත් ගුළට ගියහ. ඔවුහු 'ඕර්ලින්ස් හි තරුණිය' ගැනත් කලාවේ පිරිහුණු යුගය ගැනත් කථා කළෝ ය. යෙර්මෝලවා උච්චාරණය කරන සැටි අනුකරණය කරමින් නාට්‍යයකින් දිග හරියක් කොස්ත්‍යා හඬ නගා කියවන්ට විය. ඉක්බිති ඔවුහු 'වින්ට්' නම් කඩදාසි ක්‍රීඩාව කිරීමට වාඩි ගත්හ. කුඩා ගෑනු ළමයි තම කාමරවලට නොගොස් අත් පුටුවක දුක්බරව සුදුමැලිව එකට වාඩි වී සිටිති. ඔවුහු පාරේ යන කරත්ත හඬක් ඇසෙන හැම විටම තම තාත්තා ඒවි යන බලාපොරොත්තුවෙන් සිටිති. ඔවුන් විශේෂයෙන් සවස් කාලයේ,

ඉටිපන්දම් දැල් වූ විට පවා සිටින්නේ මහත් දුකිනි. කඩදාසි සෙල්ලම් කරන මේසය ළඟ කෙරෙන වැඩිමහල්ලන්ගේ කථාවත්, පියෝතර්ගේ අඩි ශබ්දයත් ලිපේ දර 'පට පට' ගා පිච්චෙන හඬත් ඔවුන් තුළ නොසන්සුන් ගතියක් ඇති කරයි. ගිනි දළු දෙස බැලීම ඔවුන්ට මහත් දුකක් ගෙන දෙන්නකි. ඔවුන්ට තව දුරටත් හැඬීම පවා කළ නොහැකි ය. සියලු දේ ම ඔවුන් බියට පත් කරයි. ඔවුන්ගේ හදවත් දුකින් බර ය. අම්මා මළ කල්හි කිසිවකු කථා කරන්නේ හෝ සිනාසෙන්නේ හෝ කෙසේ ද යනු ඔවුන්ට තේරුම් ගත නොහැකි ය.

"අද මොනවද ඔයා ඔපරා කන්නාඩියෙන් දැක්කෙ ?" යි යූලියා සෙර්ගේයෙව්නා කෝස්ත්යාගෙන් ඇසුවා ය.

"අද මොකුත් දැක්කෙ නෑ. ඊයෙ නං නාකි ප්‍රංශ මිනිහා නානවා දැක්කා."

හතට යූලියා සෙර්ගේයෙව්නා හා කොස්ත්යා මාලි රඟහලට ගියහ. ලාප්තෙෆ් කුඩා ගෑනු ළමුන් සමග ගෙදර නතර විය.

"ඔයාලගෙ තාත්තා මේ වෙලාවට එන්ඩ ඕනෑ." යි ඔහු ඔරලෝසුව දෙස බලමින් කීවේ ය. "කෝච්චිය පරක්කු වෙන්ඩ ඇති."

ළමුන් දෙදෙන සීතලේ මිරිකෙන පුංචි සතුන් දෙදෙනෙකු මෙන් නිහඬව අත් පුටුවේ වාඩි වී සිටිති. ලාප්තෙෆ් සෑම මිනිත්තුවක් පාසා ම නොඉවසිල්ලෙන් තම ඔරලෝසුව දෙස බලමින් කාමරයේ ඔබ මොබ සක්මන් කරයි. ගෙය බෙහෙවින් නිසල ය. දහයට දොරේ සීනුව හඬ දුන්නේ ය. පියෝතර් දොර ඇරීමට ගියේ ය.

තම පියාගේ කටහඬ ඇසුණු කුඩා ගෑනු ළමයි කෑ ගහගෙන, මහ හඬින් ඉකි බිඳිමින් ඔහු වෙතට ඉගිලුණෝ ය. පනාවූරෆ් ඇඳ සිටියේ සුඛෝපභෝගී ලොම් කබායකි. ඔහුගේ රැවුල හා උඩු රැවුල හිමෙන් වැසී ගොස් ය.

"අඬන්න එපා." යි එක විට සිනාසෙමින් ද අඬමින් ද තම සීතල අතුත්, ලොම් කබායත්, තොප්පියත් ඉඹින ළමයින්ට ඔහු කෙඳුරුවේ ය. නිතර ප්‍රේමය ලැබූ පියකරු පෙනුමක් ඇති ඔහු ඕනෑවට එපාවට ඔවුන් හුරතල් කළේ ය. අනතුරුව පොත් ගුලට ගොස් දෑත් පිරිමදිමින් මෙසේ කීවේ ය.

"මට හුඟාක් වෙලා ඉන්ඩ බෑ. මම හෙට යනවා පීටර්ස්බර්ග් නුවරට. මට වෙන නගරයක රස්සාවකට යන්ඩ තියෙනවා."

ඔහු 'ද්‍රෙස්දන්' හෝටලයේ නතර විය.

# X

ඉවාන් ගව්රිලිච් යාර්ත්සෙෆ්, ලාප්තෙෆ් නිවසට නිතර පැමිණෙන්නෙකි. කළු හිස කේ හා ප්‍රියමනාප බුද්ධිමත් පෙනුමක් ඇති ඔහු ශක්ති සම්පන්න දේහයකින් හෙබි මිනිසෙකි. සාමාන්‍යයෙන් ඔහු සලකනු ලබන්නේ රූමත් අයෙකු ලෙසිනි. එහෙත් පසු කාලයේ දී ඔහු බොහෝ සෙයින් තර විය. කොටට කැපූ කොණ්ඩයත්, තරබාරු කමත් හේතුකොට ගෙන ඔහුගේ පෙනුම අවලස්සන විය. විශ්ව විද්‍යාලයේ ඉගෙන ගන්නා කාලයේදී ක්‍රීඩා ලෝලියෙකුගේ වැනි ඔහුගේ මනාව වැඩුණු ශක්තිමත් දේහය නිසා 'දොරටුපල්ලා' යන විහිළු නමක් ඔහුට පට බැඳ තිබුණේ ය.

ඔහු ලාප්තෙෆ් සොහොයුරන් සමඟ ම වාග් විද්‍යාව පිළිබඳ උපාධියක් ලබා ගෙන ඉන් පසු ස්වභාවික විද්‍යාවන් හැදෑරුවේ ය. දැන් ඔහු රසායන විද්‍යාව පිළිබඳ උපාධිධරයෙකි. ඔහු රසායන විධ්‍යාව පිළිබඳ මහාචාර්ය පදවියක් බලාපොරොත්තු නොවී ය. රසායනාගාරයක පවා වැඩ කළේ නැත. ඔහු වාණිජ පාසලක හා ජ්‍යෙෂ්ඨ ගැහැනු පාසල් දෙකක භෞතික විද්‍යාවත් ජීව විද්‍යාවත් උගන්වයි. ඔහු තම ගෝලයන් ගැන, විශේෂයෙන් ම ගැහැනු ළමයින් ගැන මහත් උනන්දුවක් දක්වන්නෙකි. ඔහු ඔවුන් ගැන කියන්නේ වැඩී ගෙන එන ශ්‍රේෂ්ඨ පරම්පරාව යනුවෙනි. රසායන විද්‍යාව හැරුණු කොට ඔහු සමාජ විද්‍යාවද, රුසියන් ඉතිහාසය ද හැදෑරුවේ ය. ඔහු 'යා' යන නමින් පත්‍ර සඟරාවලට කෙටි ලිපි සපයයි. ඔහු තෘණ විද්‍යාව ගැන හෝ සත්ව විද්‍යාව ගැන හෝ කථා කරන විට ඔහු ඉතිහාසඥයෙකු මෙන් කෙනෙකුට වැටහේ. ඔහු කිසියම් ඓතිහාසික ප්‍රශ්නයක් පිළිබඳව කථා කරන විට ඔහු භෞතික විද්‍යාඥයෙකු වශයෙන් ගණන් ගැනේ.

ලාප්තෙෆ්ගේ අනික් ළඟම යාළුවා වනාහි 'සදාකාලික ශිෂ්‍යයා' යනුවෙන් හඳුන්වන කිශ් නැමැත්තෙකි. ඔහු අවුරුදු තුනක් වෛද්‍ය විද්‍යාලයේ සිටියේ ය. අනතුරුව උසස් ගණිතය හැදෑරීමට පටන් ගෙන එක පාඩම් මාලාවට අවුරුදු දෙක බැගින් ගත කළේ ය. පිටිසරබද දිස්පැන්සරියක ඇපොතිකරි කෙනෙකු වූ ඔහුගේ පියා ඔහුට මසකට රූබල් හතළිහක් එවයි. ඔහුගේ මව රහසේ ම ඊට තවත් රූබල් දහයක් එකතු කරයි. ඔහුට ජීවත් වීමට මෙය සෑහේ. ඔප දැමූ ලොම් කරපටියක් සහිත උඩු කබායක්, අත් මේස්, සුවඳ විලවුන්, ඡායාරූප ගැනීම (ඔහු නිතරම තම ඡායාරූපය ගෙන

යහළුවන්ට තෑගි කරයි.) යනාදී සුඛෝපභෝගී කටයුතුවලට වියදම් කිරීමට පවා ඔහුට එය ප්‍රමාණවත් ය. මඳක් තට්ටය පෑදුණු, කන් ළඟ තඹවන් රැවුල් ගස් ඇති ඔහු විනීත ප්‍රියමනාප ගති පැවතුම්වලින් හෙබි කදිම පුංචි මිනිහෙකි. ඔහු මිනිසුන්ට නිතරම උදව් පදව් කරයි. සම්මාදම් පත්‍රයක් රැගෙන එහා මෙහා දිවීම හෝ හිතවත් කාන්තාවක් සඳහා රඟහලකට යාමට ටිකට් පතක් ලබා ගැනීම පිණිස තද සීතලෙන් රඟහල ළඟ උදේ පාන්දර සිටගෙන සිටීම හෝ කිසිවකු සඳහා මල් පොකුරක් මිලයට ගැනීමට කඩිනම් වීම හෝ කරයි. මිනිසුන් හැම විට ම ඔහු ගැන කියන්නේ කිශ් යාවි, කිශ් ඒක බලාවි, කිශ් එක මිලයට ගනීවි යනුවෙනි. ඔහු තමාට පැවැරෙන වැඩ පණිවිඩ නිතරම වරද්දා ගනියි. එවිට මිනිස්සු ඔහුට අවලාද කරති. මිනිසුන් සඳහා යම් යම් දේවල් ඔහු මිලදී ගත් විට ඒවාට ගිය වියදම් ඔහුට ගෙවීමට ඔවුන්ට නිතරම අමතක වෙයි. ඔහු ඒ ගැන සුසුමක් හෙළා නිහඬ වනවා මිස කවදාවත් මතක් කරන්නේ නැත. ඔහු ප්‍රීතිය හෝ කෝපය හෝ කිසි විටෙක පළ නොකරයි. දිගින් දිගට කරන ඔහුගේ කථා නීරස ය. ඔහු කරන විහිළුවලට මිනිසුන් සිනාසෙන්නේ ඒවා විහිළු නොවන බැවිනි. වරක් ඔහු පියෝතර්ට විහිළුවක් කළ විට සියල්ලෝම සිනාසුණහ. කවට කමෙහි තමා එතරම් සමතකු වීම ගැන ඔහු බොහෝ සෙයින් සතුටු විය. කිසියම් මහාචාර්යවරයෙකුගේ භූමදානයකදී ඔහු පන්දම්කාරයනුත් සමඟ ඉදිරියෙන් ම සිටිනු ඔබට නිසැකයෙන් ම දකින්නට ලැබේ.

යාර්ත්සෙෆ් හා කිශ් සවස තේ පානය සඳහා සිරිත් පරිදි ලාප්තෙෆ්ගේ නිවසට පැමිණෙති. ගෙදර උදවිය රඟහලට හෝ විවිධ ප්‍රසංගයකට හෝ නොගියොත් තේ බීම රෑ කෑම කන තෙක් ම පවතී. පෙබරවාරි මාසයේ එක් සැන්දෑවක ඔවුහු කෑම කන කාමරයේ වාඩි වී කලාව ගැන කථා කරන්නට වූහ.

"කලා කෘතියක වටිනාකම තියෙන්නේ ඒකෙන් කිසියම් සමාජ ප්‍රශ්නයක් ඉදිරිපත් වුණොත් විතරයි." කෝස්ත්යා යාර්ත්සෙෆ් දෙස මහත් ඕනෑකමින් බලමින් කියන්ට විය. "වහල් කමට එදිරිව නැත්නම් ඉහළ සමාජයේ දූෂණ ගැන කර්තෘගේ කෝපය කලා කෘතියකින් පළ වෙනවා නම් ඒක වැදගත්, වටිනා දෙයක්. නමුත් අපේ නවකථායි, කෙටි කථායි අනේ, අහෝ කියන වචනවලින් පිරිල. ඈ ඔහු සමඟ ප්‍රේමයෙන් වෙලුණු හැටි, ඔහු ඇයට ප්‍රේම නොකළ හැටි ඔය වගේ කථා තමයි තියෙන්නේ. මං කියන්නෙ ඒවයේ කිසිම වටිනාකමක්

නෑ. හරිම පහත්."

"කෝස්ත්‍යා, මම ඔයා එක්ක සම්පූර්ණයෙන් ම එකඟ වෙනවා." යි යූලියා සෙර්ගේයෙව්නා කීවා ය. "එක ලේඛකයෙක් විස්තර කරනව පෙම්වත්තු රහසින් හමු වන හැටි, තව කෙනෙක් ලියනවා අවිශ්වාසවන්තකම ගැන, තුන්වැන්නා කියනවා පෙම්වත්තු ආයෙමත් එකතු වුණු හැටි. ලියන්න වෙන මොකුත් ම නැද්ද? අසන්තෝසෙන් න්න දුප්පත් මිනිසුන්ට මේවා කියවීමෙන් පිළිකුලක් ඇති වෙනවා."

තවම විසි දෙකවත් නොලැබූ තම බිරිඳ මෙතරම් තර්කානුකූල ලෙස, ගණනකට නැතුව ප්‍රේමය ගැන කථා කරනු ඇසීමට ලාප්තෙෆ් කැමති නොවී ය. ඒ මන්දැයි ඔහු අනුමාන කෙළේ ය.

"ඉතින් උඹ හුඟක් වැදගත් ය කියල හිතන ප්‍රශ්න කාව්‍යයෙන් විසඳෙන්නේ නැත්නම් ඇයි, නීතිය, මුදල්, විද්‍යාව ඔය වගේ දේවල් ගැන ලියල තියෙන විද්‍යානුකූල සාහිත්‍යය ගැන නොසලකන්නෙ?" යි යාර්තසෙෆ් කීවේ ය. "රෝමියෝ සහ ජුලියට් නැමැති නාට්‍යයෙහි ප්‍රේමය ගැන හැර ඉගැන්වීමේ නිදහස ගැනයි, හිර ගෙවල විෂබීජ නැති කරන හැටියි කතා කරන්නේ මොටද ඒ විෂය ගැන ලියපු ලිපි ඕන තරම් තියෙන කොට?"

"මිනිහෝ, දැන් උඹ අන්තයටම යන්ඩයි හදන්නෙ." කෝස්ත්‍යා ඔහුට බාධා කළේ ය. "අපි කථා කරන්නෙ ෂේක්ස්පියර්, ගතේ වගේ ලොකු මිනිස්සු ගැන නොවෙයි. අපි කියන්නේ ශූරකම් තියෙන මධ්‍යම තරමේ සිය ගණන් ලේඛකයන් ගැන. ආලය ගැන විතරක් ලියන එක අතැරල මනුෂ්‍ය වර්ගයාට ඥානයත්, දයාවත් දුන්නොත් ලොකු සේවයක් කරන්න පුළුවන් උදවිය ගැන."

කිශ්, බර වචන පාවිච්චි කරමින් තමා ළඟදී කියැවූ කථාවක් ඇද ගෙන නහයෙන් කථා කරන්නට පටන් ගතියි. ඔහු කථා කරන්නේ සෙමින්, කල්පනාකාරීව බොහෝ විස්තර සහිතව ය. විනාඩි තුනක්, පහක්, දහයක් ඔහු දිගටම කතා කරගෙන කරගෙන යයි. එහෙත් ඔහු කියන්නේ කුමක්දැයි කිසිවෙකුට නොතේරේ. ඔහු දිගින් දිගට කථා කරගෙන යන විට ඔහුගේ මුහුණේ පෙනුම නීරස බවකින් යුතු වේ.

"අනේ කිශ්, ඔයාගෙ කථාව හතික ඉවර කරන්න." යි යූලියා සෙර්ගේයෙව්නා නොඉවසිල්ලෙන් කෑ ගැසුවා ය. "ඔයා අපට වදයක්."

"කිශ්, කරුණාකරල ඕක නවත්තපන්." කෝස්ත්‍යා කෑ ගැසුවේ ය.

කිශ් ඇතුලු සියල්ලෝ ම සිනාසුණහ.

ෆියෝදර් පැමිණියේ ය. ඔහුගේ මුහුණ රතු වී තිබිණ. ඔහු

කඩිමුඩියේ සියල්ලන්ට ම ආචාර කොට තම සහෝදරයා කැටුව පොත් ගුලට ගියේ ය. මැතක සිට ඔහු වැඩි දෙනෙකු එකතු වී සිටින තැන් මඟ හරියි.

"තරුණ උදවිය ඔහෙ විනෝද වුණාවේ. අපි දෙන්නා නිවිහැනේ හොඳට කථා බහ කරමු." ඔහු එළිය තියෙන හරියෙන් අත් පුටුවක් මැත් කොට එහි වාඩි වෙමින් කීවේ ය. "හොඳා, මං උඹව හුඟාක් කාලෙකින් දැක්කෙ නෑ. උඹ ගබඩාවේ අන්තිම වතාවට හිටියෙ කොයි දවස්වල ද? සුමානෙකට විතර ඉස්සරින් නේ ද?"

"ඔව්, එහෙ මට කරන්න ඇති දෙයක් නෑ. ඇරත් මං ඇත්තම කියන්නේ, අර නාකි මනුස්සයා මට මහ කරදරයක්."

"ඇත්ත තමයි, අපි කවුරුවත් නැතිවට ගබඩාව හොඳට පාලනය කරන්න පුළුවන්. නමුත් මිනිහෙක් මොනව හරි කරන්න එපායැ. උඹ දන්නව උඹේ කෑම වේල හොයාගන්නේ දහඩිය මහන්සියෙන් විත්තිය. දෙවියන් වහන්සේ වැඩ කරන උදවියට ආදරෙයි."

පියෝතර් බන්දේසියක් මත තබා ගෙන තේ වීදුරුවක් ගෙනාවේ ය. ෆියෝදර් සීනි නොදමා එය බී තව වීදුරුවක් ගෙනෙන්ට කීවේ ය. ඔහු හැම තිස්සෙම තේ හුඟාක් බොයි. සමහර විට එක් සවසකදී තේ වීදුරු දහයක් විතර බොයි.

"අලෙක්සේයි, මේ බලපන්." ඔහු නැගිට තම සහෝදරයා දෙසට යමින් කීවේ ය. "ඇයි උඹ නගර සභාව වෙනුවෙන් ඉදිරිපත් නොවෙන්නෙ? උඹට ටිකින් ටික මන්ත්‍රීවරයෙක් වෙන්න පුළුවන්. ඊට පස්සෙ උප නගරාධිපති වෙන්න පුළුවන්. උඹ හොඳට ඉගෙන ගත්තු බුද්ධිමත් මිනිහෙක්. එතකොට මිනිස්සු උඹට සලකාවි. පීටර්ස්බර්ග් නුවර නිලධාරි දැන් ගම්බද හා නගරබද වැඩ කරන උදවියට සැලකිල්ලක් දක්වන නිසා උඹට එහාට ආරාධනා කරවි. කවුද දන්නේ උඹට වයස පනහක් වෙන්නත් ඉස්සෙල්ලා සේද පටියක් උරෙහි පැළඳගත්තු මහාමාත්‍ය කෙනෙක් වෙයිද කියලා."

ලාප්තෙෆ් කිසිවක් කීවේ නැත. මහාමාත්‍යකම්, සේද පටි, ෆියෝදර්ට ම වුවමනා වී ඇති බව ඔහු දනියි. කුමක් කිව යුතුදැයි ඔහු නොදත්තේ ය.

සොහොයුරෝ දෙදෙන වාඩි වී සිටියහ. ෆියෝදර් ඔරලෝසුව ගෙන එය අතේ වැඩ කරන හැටි බලන්නට වුවමනා වූවාක් මෙන් ඇස් දල්වාගෙන බොහෝ වේලාවක් එදෙස බලා සිටින්ට විය. ඔහුගේ විලාසය ලාප්තෙෆ් පුදුමයට පත් කළේ ය.

රෑ කෑම සූදානම් බව දන්වන ලදී. ලාප්තෙෆ් කෑම කන කාමරයට ගියේ ය. එහෙත් ෆියෝදර් එම කාමරයෙහි ම නැවතුණේ ය. රෑ කෑම ගනිද්දී වාදයක් ඇති නොවිණි. ඒ වෙනුවට යාර්ත්සෙෆ් කථිකාචාර්යවරයෙකුගේ ලීලාවෙන් මෙසේ කථා කරන්නට විය.

"දේශගුණය, ශක්තිය, රුචි අරුචිකම්, වයස ආදී වෙනස්කම් හින්දා මිනිසුන් අතර සමානත්වයක් තියෙන්න බෑ. නමුත් හැදිච්ච කෙනෙකුට මේ අසමානත්වය හානියක් නොවන තත්වයකට පමුණුවාගන්න පුළුවන්. හරියට මඩ ගොහොරු ගොඩ කරනව වගේ. වලස්සු හීලෑ කරනව වගේ. අපි ඔක්කෝම දන්නවා විද්‍යාඥයෙක් බළලෙකුටයි, මීයෙකුටයි උකුස්සෙකුටයි ගිරවෙකුටයි එකම පිඟානේ කෑම කන්න උගන්නපු හැටි. මනුෂ්‍ය සංහතිය අධ්‍යාපනයෙනුත් බලාපොරොත්තු වෙන්න ඕන එවැනි දෙයක්. ජීවිතය හැම විටම දියුණුව කරා යනවා. සංස්කෘතියේ ලොකු දියුණුවක් ඇතිවෙලා තියෙනවා. වර්තමාන තත්වය වෙනස් වෙන කාලයක් ඒවි. උදාහරණයක් වශයෙන් අද පැක්ටරිවල වැඩ කරන කම්කරුවන්ගෙ තත්වය බොහොම පහත් කරල සලකන කාලයක් ඒවි. වහල්කාලෙදි ගැමි කෙල්ලන් වෙනුවට බල්ලන් මාරු කිරීම අද අපි පහත් කරල සලකනව වගේ."

"ඒක වෙන්න හුඟක් කල් යාවි." යි කෝස්ත්‍යා මඳ ලෙස සිනාසෙමින් කීවේ ය. "තමා තැන්පත් කරල තියෙන රත්තරනුත් යුක්ති සහගත නැහැයි කියල හිතන්ඩ රොත්ස්චයිල්ඩ්ට හුඟක් කල් යාවි. ඒ අතරේ දුප්පත් කම්කරුවාට කොන්ද නමාගෙන හාමතේ ඉන්න වේවි. නෑ මහත්මයා, ඒක වෙන්නෙ නෑ. අපි බලාගෙන ඉන්න හෙඳ නෑ. අපි සටන් කරන්න ඕන. බළලෙක් මීයෙක් එක්ක එකට කෑම කනවා නම් ඒකෙන් උගේ ගතිගුණ වෙනස් වුණයි කියල හිතන්න පුළුවන් ද? කොහොමවත් එහෙම එකක් නෙවි. එහෙම කරන්න ඌට බල කරල තියෙනව."

"ෆියෝදරුයි මමයි පොහොසත්. අපේ තාත්තා ධනපතියෙක්. ඒ හින්දා මිනිස්සු අපි එක්ක සටන් කරන්න ඕන." යි ලාප්තෙෆ් තම නළල පිරිමදිමින් කීවේ ය. "මා එක්ක සටන් කරන්න - ඒක මට තේරුම් ගන්න බෑ. මම පොහොසත්. ඔව්. නමුත් මගේ පොහොසත්කමෙන් මම ලබා ගෙන තියෙන්නෙ මොනව ද? මගේ ඒ බලපුළුවන්කාරකමෙන් මොන ලාබයක් ද මට තියෙන්නෙ ? ළමා කාලය මම ගත කළේ වහලෙක් වගේ. කස පහරෙන් මාව බේරගන්න

මගෙ සල්ලිවලට කවදාවත් පුළුවන් වුණේ නෑ. අපේ නීනා අසනීපව මරණාසන්නව ඉන්නකොට මගෙ සල්ලිවලින් එයාට පිහිටක් වුණේ නෑ. කවුරුවත් මට ප්‍රේම කරන්නේ නැත්නම් කෝටියක් වියදම් කරලත් ප්‍රේම කරන්න කියල බල කරන්න බෑ."

"නමුත් ඔයාට හුඟාක් හොඳ වැඩ කරන්න පුළුවන් නේ ?"යි කිෂ් කීවේ ය.

"මොන බොරු ද? ඒයෙ උඹ මට කිව්වා කවුද ගණිත විද්‍යාඥයෙකුට රක්ෂාවක් හොයල දෙන්න උදව් වෙන්ට කියල. මාව අදහනව නම් උඹට කියන්න, මට කරන්න පුළුවන් උඹ කරන තරම් ම සුළු හරියක් විතරයි. මට සල්ලි දෙන්න පුළුවන්. ඔව්, නමුත් සල්ලි නෙවි එයාට ඕනෑ. මම දවසක් ප්‍රසිද්ධ සංගීතකාරයෙකුට කිව්වා දුප්පත් වයලීන වාදකයෙකුට රස්සාවක් හොයල දෙන්න කියලා. එතකොට එයා "උඹ සංගීත කාරයෙක් නම් මගෙන් කවදාවත් මෙහෙම දෙයක් අහන්නේ නෑ" යි කියල කිව්වා. ඉතින් මටත් කියන්න තියෙන්නෙ ඒකමයි. උඹ ධනපතියෙක් වුණා නම් ඔච්චර හිතවත්ව මගෙන් උදවු ඉල්ලන්න එන්නෙ නෑ."

"මට තේරෙන්නේ නෑ ඔය සංසන්දන" යි යූලියා සෙර්ගේයෙව්නා කීවා ය. ඇගේ මුහුණ රතු විය. "ඒකට මොනවට ද ප්‍රසිද්ධ සංගීතකරායෙක්."

ඇගේ මුහුණ ද්වේෂයෙන් පොපියන්ට විය. එය වසන් කරලීමට ඈ එකෙනෙහිම තම නෙත් පහතට හරවා ගත්තා ය. ඇගේ සැමියා හෝ මේසය ළඟ සිටි අනෙකකු හෝ මෙය නොදුටුවේ නොවේ.

"ප්‍රසිද්ධ සංගීතකාරයෙක් මොනවට ද ඒකට?" යි පහත් හඬින් ඈ නැවතත් කීවා ය. "මේ ලෝකෙ තියෙන හුඟක්ම පහසු දෙය තමයි දුප්පතෙකුට පිහිට වෙන එක."

නිහඬතාවක් ඇති විය. පියෝතර් බැදපු කුකුල් මස් බෙදුවේ ය. එහෙත් සලාද හැර අන් කිසිවක් කිසිවෙක් නොකෑවේ ය. තමා කී දේවල් ලාප්තෙෆ්ට දැනටම අමතක වී ගොසිනි. ඒවා තමන්ගේ වචන නොවන බව ඔහු දනියි. එහෙත් තමා කථාවට සහභාගී වීම ඇගේ ද්වේෂයට හේතු වූ බව ඔහුට වැටහිණි.

රෑ කෑමෙන් පසු ඔහු තම පොත් ගුලට ගොස් වාඩි විය. ඔහුගේ පාද වේගයෙන් ගැහෙන්ට විය. විසිත්ත කාමරයේ කෙරෙන කථාවට ඔහු ඇහුම්කන් දුන්නේ නොඉවසිල්ලෙනි. තවත් නින්දා සහගත දේ ඔහු බලාපොරොත්තු විය. ඔවුහු නැවතත් වාද කරති. අනතුරුව

යාර්ත්සෙෆ් පියානාව ළඟ වාඩි වී බොළඳ ගීයක් ගයයි. ඔහු විවිධ සමත්කම් ඇති පුද්ගලයෙකි. ඔහුට ගායනා කළ හැකි ය. පියානාව වාදනය කළ හැකි ය. එපමණක් නොව ඇස්බැන්දුම් වැඩ පවා ඔහුට කළ හැකි ය.

"මහත්වරුනි, ඔයගොල්ලෝ ගැන මම දන්නේ නෑ. නමුත් මට නම් ගෙදර ඉන්න ආසාවක් නෑ" යි යූලියා කීවා ය. "අපි කොහාට හරි යමු."

ඔවුහු නගරයෙන් බැහැරට ඇවිදීමට යාමට තීරණය කරගත්හ. කුලී රථයක් ගෙන ඒමට වෙළෙන්දන්ගේ සමාජ ශාලාවට කිශ් යවන ලදී. ඇවිදින්ට යාම සඳහා ඔවුන් ලාප්තෙෆ්ට කථා කළේ නැත. එසේ කළේ ලාප්තෙෆ් සාමාන්‍යයෙන් නගරයෙන් බැහැරට ඇවිදින්ට නොයන නිසාත් ඔහුගේ සහෝදරයා ඔහු සමඟ සිටින නිසාත් ය. එහෙත් ඔහු එය සැළකුවේ තමා ඔවුන්ගේ සිත් නොගන්නා පුද්ගලයෙකු වශයෙනුත්, ප්‍රීතිමත් තරුණ පිරිසට නොගැලපෙන අයෙකු වශයෙනුත් තමා නොසැලකීමේ ලකුණක් හැටියට ය. ඔහුට ඇඬෙන තරම් තදබල ශෝකයක් ඇති විය. ඔවුන් තමා නොසැළකීමත් ගණන් නොගැනීමත් ගැන ඔහු තුළ වූයේ සතුටකි. තමා වැදගැම්මකට නැති මොට්ට සැමියෙකු ලෙසත්, කාලකණ්ණි සල්ලි ගෝනියක් ලෙසත් ඔහු සිතුවේ ය. බිරිඳ තමාට ළෙන්ගතු නොවන්නේ නම් එය මීට වඩා හොඳ වනු ඇත. තමාගේ හොඳම යාළුවා සමග ඈ අද රෑ ම පැන යන්නේ නම්, පසුව ඒ ගැන ද්වේෂයෙන් පිරුණු දෑසින් යුතුව කියන්නට වන්නේ නම්, එය මීට වඩා හොඳ වනු ඇත .... සෑම කෙනෙකු කෙරෙහි ම - ඇගේ ශිෂ්‍ය මිතුරන්, නළුවන්, ගායකයන්, යාර්තසෙෆ් ගැන පමණක් නොව මඟ යන එන අය කෙරෙහි පවා ඔහු තුළ ඊර්ෂ්‍යාවක් හට ගත්තේ ය. ඈ තමාට අවිශ්වාස සහගතව සිට වෙනෙකෙකු සමග සිටිද්දී අල්ලා ගන්නා සැටිත් අනතුරුව වස බී, මේ භයානක සීනය ඉවරයක් වන සැටිත් ගැන ඔහු ආසාවක් දැක්වී ය. ෆියෝත්ර් තම තේ කෝප්පය හඬ නඟා උරා බොමින් වාඩි වී සිටියි. අන්තිමේ දී ඔහු ද යාමට නැගිට්ටේ ය.

"මට බයේ බෑ. තාත්තා අන්ධ වෙයි ද කියල." යි උඩු කබාය දමා ගනිමින් ඔහු කීවේ ය. "තාත්තගෙ පෙනීම අඩු වේගෙන යනවා."

ලාප්තෙෆ් ද හිම කබාය දමාගෙන පිටතට ගියේ ය. ස්ත්‍රස්නොයි බුල්වාඩ්වලට යන තෙක් ඔහු තම සහෝදරයා සමග ගොස් එතැනින් යාර් හෝටලයට ගියේ කුලී රථයක ය.

"විවාහයේ ප්‍රමෝදය කියන්නේ මේකට තමයි." ඔහු තමාට ම සිනාසුණේ ය. "අපූරු ආලය."

ඔහුගේ දත් කට කට ගා ගැහෙන්ට විය. එසේ වන්නේ ඊර්ෂ්‍යාවෙන් ද වෙනත් කිසියම් හේතුවක් නිසා ද යනු ඔහු නොදත්තේ ය. යාර් හි සිට ඔහු තානායමට පැමිණි පසු ශාලාවේ සිංදු කියන ගායකයෙකුගේ කට හඬට කන් දෙමිනුත්, තම බිරිඳ හා ඇගේ යහළුවන් හමු වූවොත් කුමක් කිවයුතු දැයි සිතමිනුත් තානායමේ මේස අතර එහා මෙහා ඇවිද්දේ ය. ඔවුන් හමුවූවොත් තමා කරන්නේ, ශෝකී මෝඩ මඳ සිනාවක් පෑම විතරක් බව ඔහු කල් තියාම දනියි. තමා පැමිණියේ මන්දැයි සෑම කෙනෙක් ම දැන ගනු ඇත. දීප්තිමත් එළිය, සංගීත හඬ, පුයර සුවඳ, ගැහැණුන් තමා දෙස බලන විදිය ආදිය නිසා තමා ක්ලාන්ත වෙන්ට යන්නාක් මෙන් ඔහුට දැනිණි. ඔහු දොරකඩ නතර වී පුද්ගලික කාමරවල වෙන දේවල් බැලීමටත් ඒවාට ඇහුම්කන් දීමටත් තැත් කෙළේ ය. ගායකයාත් මේ ගැහැනුනුත් තමාත් යන සියල්ලන් ම එකට එකතු ව කිසියම් පහත් තරඟ ක්‍රීඩාවක යෙදෙන්නාක් මෙන් ඔහුට හැඟුණි. මඳ වේලාවකට පසු ඔහු ස්ත්‍රේල්නාවලට ගියේ ය. එහෙත් එහි තම බිරිඳ නොවූවා ය. ඔහු ආයෙමත් ආපසු යාර් හෝටලයට ළඟා වන විට හඬ නගා ගෙන ආ රථයක් ඔහු පසු කරගෙන ගියේ ය. වෙරි වුණු රියදුරාගේ අම්හිරි හඬ මැඩ ගෙන යාර්ත්සෙෆ්ගේ 'හෝ - හෝ' යන හඬ ඇසිණි.

අන්තිමේ දී ඔහු ගෙදරට ළඟා වන විට හතරට කිට්ටු ය. යූලියා සෙර්ගේයෙව්නා දැනටම නිදා ගන්ට ගිහිල්ලා. ඇයට නින්ද ගොස් නොමැති බව දුටු ඔහු ඇය ළඟට ගොස් තියුණු ලෙස මෙසේ කීවේ ය.

"ඔයාගෙ පිළිකුලයි වෛරයයි මට තේරෙනවා. නමුත් අමුත්තො ඉදිරිපිටදීවත් ඔයා ඒ බවක් නොපෙන්නා ඉන්න ඕන...."

පාද පහතට දමාගෙන ඈ වාඩි වූවා ය. දේව රූපය ළඟ වූ ලාම්පුවේ එළියෙන් ඇගේ නෙත් කළු හා විශාල වූවාක් මෙන් පෙනිණි.

"මට කණගාටුයි." ඈ කීවා ය.

කලබලය හේතු කොට ගෙන කිසිවක් කීමට නොහැකි ව ඔහු සිටගෙන සිටියේ ය. ඈ ද විපිළිසරව ඔහු ඉදිරියේ වෙව්ලමින් සිට ගෙන සිටියා ය.

"මෙහෙම දුකක්. මට ඒක ඉවසන්න බෑ." ඔහු තම හිස බදා ගත්තේ ය. "මං හිතන්නේ මට පිස්සු වැටෙන්න යනවා."

"මං පහසුවෙන් ඉන්නව කියල ද ඔයා හිතන්නෙ?" යි ඈ කෑ ගැසුවා ය.

"දෙයියෝ විතරයි දන්නෙ මං විඳින දුක."

"හය මාසයක් විතර ඔයා මගේ බිරිඳ වෙලා හිටියා. තාම අබමල් රේණුවක තරම් ප්‍රේමයක් ඔයාගේ හදවතේ මා කෙරහි ඇති වෙලා නෑ. යංතං ඇඟවිල්ලක් වත් නෑ. ඔයා ඇයි මා එක්ක විවාහ වුණේ?" යි ලාප්තගේ බලාපොරොත්තු රහිත ලීලාවෙන් කියාගෙන ගියේ ය. "ඇයි ? මොන තරම් දරුණු දුකක් ද ඔයා මට දෙන්නෙ ? ඔයා මොනවද බලාපොරොත්තු වුණේ ? ඔයාට මොනවද ඕනෑ කෙළේ."

තමා මරාවි යන බියෙන් මෙන් තැති ගත් ඈ ඔහු දෙස විශ්මයෙන් බලා ගෙන සිටියා ය.

"ඔයා මට සලකන්නේ නැද් ද? මට ප්‍රේම කරන්නේ නැද් ද?" යි ඔහු අමාරුවෙන් හුස්ම ගෙන කියන්ට විය. "නෑ, ඉතින් මොකද? මොකද? කතා කරන්න." යි ඔහු කෑ ගැසුවේ ය. "අර සල්ලිවල සාපෙ තමයි හේතුව. සල්ලිවල සාපෙ."

"මං දෙයියන් ඉදිරියෙ දිවුරන්නම් ඒක නෙවෙයි කාරණේ." යි ඈ කුරුසය ලකුණු කරමින් කෑ ගැසුවා ය. නින්දා විඳින්ට සිදු වීම ගැන ඇය තුළ භයක් ඇති විය. ඇගේ වැලපීම පළමුවැනි වතාවට ඔහුට ඇසේ. "මං දෙයියන් ඉදිරියේ දිව්රනවා ඒක නෙවෙයි කියල." යි ඈ නැවතත් කීවා ය. "මම ඔයාගෙ සල්ලි ගැන හිතුවෙ නෑ. මට සල්ලි ඕන නෑ. මං තිකං හිතුවා ඔයාගෙ යෝජනාව අහක දැමීම වරදක් කියල. ඔයාගෙයි මගෙයි ජීවිත නාස්ති වෙලා යාවි කියල මම බය වුණා. වෙච්ච වැරැද්දට දැන් මම වන්දි ගෙවනවා. මට උහුලන්න බෑ ඒක."

ඈ මහත් ශෝකයෙන් ඉකි බිඳින්ට වූවා ය. ඈ දුක් විඳින තරම ඔහුට වැටහිණි. කුමක් කිව යුතු දැහයි නොදත් ඔහු ඇය අභිමුව දණින් වැටුණේ ය.

"අඬන්න එපා, අඬන්න එපා." යි ඔහු කෙඳුරුවේ ය. "මම ඔයාට නින්දා කෙරේ ඔයාට හුඟාක් ප්‍රේම කරන හින්දා." එකෙණෙහි ම ඔහු ඇගේ පය සිඹ බලවත් හැඟීමෙන් ඇය තුරුළු කරගත්තේ ය. "මම ඉල්ලන්නෙ ප්‍රේමයෙන් බින්දුවක්." ඔහු මිමිණුවේ ය. "මාව රවටන්න, මට බොරු කියන්න එපා. ඒක වැරදීමක් කියන්න එපා."

එහෙත් ඈ දිගටම වැලපුණා ය. තම සුරතල් කිරීම කළ වරදට ලබන දඬුවමක් මෙන් ඇය සලකන බව ඔහුට වැටහිණි. ඈ ඔහු

සිපගත් තම පය ඇද කිරිල්ලියක සේ සඟවා ගත්තා ය. හදිසියෙන් ම ඔහු තුළ ඇය කෙරෙහි ශෝකයක් ඇති විය.

හිස ද වැසෙන සේ පොරවාගෙන ඈ වැතිරුණා ය. ඔහු ඇඳුම් මාරු කොට ඇය පසෙකින් වැතිරුණේ ය. උදේ ඔවුන් දෙදෙනා ම පසු වුණේ ව්‍යාකුලත්වයකිනි. කුමක් කිව යුතුදැයි කිසිවෙක් නොදත්හ. තමා සිපගත් ඇගේ පය ඈ හීන් සීරුවේ බිම තබති යි යන සිතිවිල්ලක් ඔහු තුළ ඇති විය.

දවල් කෑමට මදකට කලින් පනවූරෆ් ආයුබෝවන් කීමට පැමිණියේ ය. තමා උපන් නගරයට යාමේ ආසාවක් හදිසියෙන්ම යූලියා තුළ ඇති විය. මේ කරදරකාරී තත්වයෙනුත් වැරදි සිදුවීමෙන් වන නිරන්තර වේදනාවෙනුත් පලා යන්ට ඇත්නම් කොතරම් අපූරු දැයි ඈ සිතුවා ය. ඈ පනවූරෆ් සමග පිටත් විය යුතු යයි ද ඇගේ පියා සමඟ සති දෙකක් හෝ තුනක් ගත කළ යුතු යැයි ද දවල් කෑම ගනිද්දී ඔවුහු තීරණය කළහ.

## XI

යූලියා සෙර්ගේයෙව්නා හා පනවූරෆ්ට වෙන් වූ රිය මැදිරියක් විය. පනවූරෆ් බැටලු ලොමින් කළ පුදුම එළවන සුළු තොප්පියක් පැළඳ සිටියේ ය.

"නෑ, සාන්ත පීටර්ස්බර්ග් නගරයට මම කොහොමවත් කැමති නෑ" යි ඔහු සුසුමක් හෙළමින් කියන්ට විය. "මට ලොකු පෙරොන්දු කීපයක් ම දීලා තියෙනවා. නමුත් එකක්වත් ස්ථිර නෑ. ඔව්, යූලියා. මම සමාදාන විනිශ්චයකාරවරයෙක් ව හිටියා. ගම් සභා උසාවියේ ස්ථිර සාමාජිකයෙක්. ඒකෙම සභාපති. ඒ ඔක්කොටම පස්සේ පළාතේ මන්ත්‍රණ සභාවේ මන්ත්‍රීවරයෙක්. මම මගේ රටට හොඳින් සේවය කරල තියෙනවා. මගේ සේවයට මට සැලකිය යුතු යයි මම හිතනව. ඒ වුණත් මට වෙන නගරයකට මාරුවක් ගන්න පුළුවන් වුණේ නෑ."

ඔහු තම දෑස පියාගෙන හිස සෙලෙව්වේ ය.

"මගෙ වැදගත්කම තේරිලා නෑ." යි ඔහු සෙමින් කියන්ට විය. "මම දක්ෂ පාලකයෙක් නොවන බව ඇත්තයි. නමුත් මම අවංක, හෘදය සාක්ෂියට එකඟව වැඩ කරන මිනිහෙක්. මේ දවස්වල මේවා බොහොම දුර්ලභ ගුණාංග. සමහර වෙලාවට මම ගෑනු උදවියට විශ්වාසවන්ත නොවී ඉඳල ඇති. රුසියන් ආණ්ඩුව එක්ක මගේ සම්බන්ධකම් අතින් නම් මම හැම තිස්සෙම මහත්මයෙක්. ඒ ඇති"

යි ඔහු තම ඇස් අරිමින් කීවේ ය.

"අපි ඔයා ගැන කතා කරමු. මොකද මේ හදිසියේ ඔයාලගෙ තාත්තා හම්බුවෙන්න යන්න හේතුව?"

"ආ ඒක අපේ මහත්තය එක්ක වෙච්ච සුළු අමනාපයක්." යූලියා ඔහුගේ තොප්පිය දෙස බලමින් කීවා ය.

"ඔව්, එයා තරමක විකාර කාරයෙක්. ඔක්කෝම ලාප්තෙෆ්ලා ඔහොම තමයි. ඔයාගෙ මහත්තය ඒ තරම් නරක නෑ. නමුත් ෆියෝදර් කියන එයාගෙ සහෝදරයා හරිම මොට්ටයෙක්!"

පනවූරෆ් සුසුම් ලා මහත් සැලකිල්ලෙන් මෙසේ ඇසුවේ ය.

"ඔයාට පෙම්වතෙක් ඉන්නව ද?"

ඔහු දෙස පුදුමයෙන් බැලූ යූලියා සිනාසුණා ය.

"දෙයියන්ට ඔප්පු වෙච්චාවෙ මොනව කියන්න ද?"

එකොළහට විතර ඔවුහු විශාල දුම්රිය පොළකදී බැස එහි වූ අවන්හලින් රෑ කෑම ගත්හ. රිය මැදිරියට ආපසු පැමිණි විට පනවූරෆ් තම කබාය ද තොප්පිය ද ගලවා යූලියා පසෙකින් වාඩි විය.

"ඔයා හරි ලස්සනයි." ඔහු පටන් ගත්තේ ය. "නීරස උපමාවක් කියන එක ගැන සමාවෙන්න. ඔයාව දකින කොට මට මතක් වෙනවා අලුත්, 'කර කර' ගාන අච්චාරු දාපු පුංචි පිපිඤ්ඤා ගෙඩියක්. එය හුඟක් අලුත් වුණත් එයින් ලූණුවලයි සුදුදුරුවලයි සුවඳ එනවා. ඔයා හොඳ අපූරු ගැහැනියක්. ප්‍රිය උපදවන ලස්සන ගැහැනියක්. අවුරුදු පහකට ඉස්සර අපි මෙහෙම ගමන් කළා නම්." ඔහු සුසුම්ලෑවේ ය. "ඔයාව අගය කරන කට්ටියට මටත් එකතු වෙන්න ලැබුණා නම් ඒක සතුටට කාරණයක් වෙන්න තිබුණා. නමුත් අයියෝ මම දැන් දුබලයෙක්."

ඔහු දුක්බර වුව ද දයාන්විත මඳ සිනාවක් පා තම අත ඇගේ ඉඟ වටා යැව්වේ ය.

"ඔයාට පිස්සු ද?" යි කී ඇ, අමාරුවෙන් හුස්ම ගත්තා ය. ඇගේ මුහුණ රතු විය. බියෙන් හිරි වැටිණි. "ග්‍රිගොරි නිකොලායෙව්ච් මගේ පාඩුවේ ඉන්න දෙන්න."

"මොකද අනේ බය වෙන්නෙ?" යි ඔහු සෙමින් ඇසුවේ ය. "මොකද මේ? ඔයා නිකං පුරුදු නැතුව වගේ."

තම ආදරය කිරීම්වලට ගැහැනියක් විරුද්ධ වුවහොත් එය නිසැකයෙන් ම තම ජයග්‍රහණයේ ලකුණක් කොට ඔහු සලකයි. ඔහු ඉඟටියෙන් ඇය තරයේ අල්වා ගෙන, මහත් විශ්වාසයෙන් ඇයට

සම්පූර්ණ ආස්වාදයක් ගෙන දෙන්නේ යැයි සිතමින්, ඇගේ කම්මුල් හා තොල් සිඹිබේ ය. බියෙන් හා ව්‍යාකූලත්වයෙන් මිදුණු යූලියා සිනාසෙන්ට පටන් ගත්තා ය.

"දුබලයෙකුගෙන් ඔයාට බලාපොරොත්තු වෙන්න පුළුවන් මෙච්චරයි." ඔහු ඇය තව වරක් සිඹ තම විහිළු තොප්පිය පැළඳගනිමින් කීවේ ය.

"එකමත් එක කාලෙක කදිම වයසක තුර්කි පාෂා කෙනෙක් හිටියා. තෑගි හම්බවුණු නැත්නම් පරම්පරාවෙන් ලැබිච්ච අන්තඃපුරයක් එයාට තිබුණා. මට හරියට මතක නෑ කොහොම ලැබිච්ච එකක් ද කියලා. එයාගෙ ලස්සන ගෑනු පේලියට හිටියාම එක් එක්කෙනාව ඉඹ ඉඹ කියනවා. 'මට දැන් උඹලට දෙන්න පුළුවන් මෙච්චරයි' කියල. අන්න ඒකයි මමත් කීවේ."

මේ සියල්ලම මෝඩ විකාර වැඩ මෙන් ඇයට පෙනිණි. එහෙත් අයට විනෝදයක් ගෙන දීමට එය හේතු විය. දඟකාර ලෙස හැසිරෙන්නට ඇයට සිතිණි. ඈ ආසනයට නැග 'හ්ම් - හ්ම්' ගාමින් රාක්කයෙන් පැණි රස පෙට්ටියක් ගෙන ඔහුට චොකලට් එකක් විසි කළා ය. "අල්ලන්න."

ඔහු එය ඇල්ලුවේ ය. ඈ මහත් සන්තෝසෙන් සිනාසෙමින් තව එකක් ද අනතුරුව තවත් එකක් ද විසි කළා ය. ඔහු ඒ සියල්ල ම අල්ලා, ආයාචනය කරන්නාක් මෙන් ඇය දෙස බලමින් ඔක්කෝම කටේ ඔබා ගත්තේ ය. කිසියම් ළාමක ගෑනු පෙනුමක් ඔහුගේ මූණේත් හැසිරීමේත් පවතින බව ඇයට නොසිතා සිටිය නොහැකි විය. ඇය හනි දමමින් නැවතත් වාඩි වූවා ය. ඇය විනෝදයෙන් යුතු ව ඔහු දෙස බලා සිටින විට ඔහු තම ඇඟිලි දෙකින් ඇගේ කම්මුල අල්ලා "මොකද දඟකාර දරුවා" යි බොර කලබල ගතියකින් කීවේ ය.

"මේක ගන්න." යි ඈ කීවේ පෙට්ටිය ඔහු දෙසට දිගු කරමිනි. " මම කැමති නෑ පැණිරසවලට"

ඔහු චොකලට් සියල්ල ම ගිජු ලෙස ගිල දමා හිස් පෙට්ටිය තම සූට්කේසය තුළ දමා ගත්තේ ය. පින්තූර සහිත පෙට්ටිවලට ඔහු මහත් ආසාවක් දක්වයි.

"දැන් ඇති විගඩම් කෙරුවා." යි ඔහු කීවේ ය. "දැන් වළංගු නැති හාදයා නිදියව වෙලාව."

ඔහු රැට අඳින බොකාරා ඇඳුම ඇඳ කොට්ටය ද ගෙන වැතිරුණේ ය.

"ආයුබෝවන් සීදේවී." මුළු සිරුරේ ම වේදනාවක් ඇති වූවාක් මෙන් ඔහු හූල්ලා කෙඳුරුවේ ය.

විනාඩි කීපයක දී ඔහු ගොරවන්ට විය. යූලියා ද කිසිම ලජ්ජාවක් නොමැති ව වැතුරුණේ එකෙනෙහි ම නිදන්ට වූවා ය.

පහුවදා උදේ ඈ දුම්රිය පොළේ සිට තම ගෙදර බලා යන්ට වූ විට තමා උපන් නගරයේ වීදි පාළුවට ඇරී හිමෙන් වැසී තිබෙන්නාක් මෙන් ද කුඩා ගෙවල් සමතලා කොට තිබෙන්නාක් මෙන් ද ඇයට දැනිණි. ගෙදර යද්දී පල්ලියේ කොඩිවලින් සැරසූ මිනී දෙනක් මත විවෘත කළ මිනී පෙට්ටයක් තබා ගෙන යන අවමගුල් පෙරහැරක් ඇය පසු කරගෙන ගියහ.

"අවමගුල් පෙරහැරක් මුණු ගැහෙන එක සුබ ලකුණක් කියනවා නේ." යි ඈ සිතුවා ය.

නීනා ෆියෝදරව්නා විසූ ගෙයි ජනේලයේ 'කුලියට දීමට තිබේ.' යනුවෙන් දැන්වීමක් ගසා තිබෙනු ඇයට දැක්ක හැකි විය.

වේගයෙන් ගැහෙන හදින් යුතුව ඈ තම නිවසට ගොස් සීනුව හැඬෙව්වා ය. නිදිබර ඇස් ඇති, පොරු දැමූ උණුසුම් ගෙන ගෙන හැට්ටයක් ඇඳ සිටි තරබාරු අලුත් මෙහෙකාරිය විසින් දොර අරින ලදී. ඈ අතු නොගෑ අපිරිසිදු පඩිපෙළ නගින විට ලාප්තෙෆ් තමාට විවාහ යෝජනා කළේ මෙහිදී බව ඇයට මතක් විය. උඩු මාලේ උණුසුම් රහිත ඉස්තොප්පුවේ තම පියාගෙන් ප්‍රතිකාර ගැනීමට පැමිණි රෝගීහු තමන්ගේ වාරය පැමිණෙන තෙක් ගණ උඩු කබායවල් දමා ගෙන තෙරපි තෙරපී සිටිති. කිසියම් හේතුවක් නිසා ඇගේ හද වේගයෙන් ගැහෙන්ට විය. කකුල් පණ නැතිව යන්නාක් මෙන් දැනිණි.

දොස්තර දැන් ඉස්සරට වඩා මහත ය. ඔහුගේ මුහුණ ගඩොලක් මෙන් රතු ය. හිස නොපීරා තිබුණි. ඔහු තේ බොමින් සිටියේ ය. ඇය දකින්ට ලැබීම ගැන ඔහු තුළ වූයේ සතුටකි. ඔහු ටිකක් ඇඬුවේ ය. මේ මහලු මිනිසාගේ ජීවිතයේ ,එකම ප්‍රීතිය ඇය පමණි. ඈ මහත් ප්‍රේමයෙන් ඔහු වැළඳගෙන තමා ඔහු සමඟ හුගාක් කාලයක් - පාස්කුව තෙක් නතර වීමට පැමිණි බව කීවා ය. ඈ ඇඳුම් මාරු කොට තේ බොන්ට කෑම කන කාමරයට පැමිණියා ය. ඔහු තම අත්, සාක්කුවල ඔබාගෙන 'රූ - රූ - රූ' ගාමින් කාමරයේ ඔබ මොබ සක්මන් කරමින් සිටියේ ය. මෙය ඔහු තුළ කිසියම් අසතුටුදායක හැඟීමක් පහළව තිබීමේ ලකුණකි.

"උඹ මොස්කව් නුවර සන්තෝසයෙන් ජීවත් වෙනවා." යි ඔහු

කීවේ ය. "මට බොහොම සන්තෝසයි උඹ ගැන. ඉතින් මා ගැන, මං වගේ නාකි මිනිහෙකුට මොනවද ඕනෑ. මං ඉක්මනින් ම මැරේවි. හැම කෙනෙකුට ම සහනය ලැබේවි. පුදුම වැඩේ මගේ පණ තාම හයිය එකයි. මම තාම ජීවත් වෙනවා. පුදුමයි."

තමා හරියට, බර වැඩ කරන, හැමෝම පිට උඩ යන නාකි බූරුවෙකු වැනි යයි ඔහු කීවේ ය. නීනා ෆියෝද්‍රව්නාට සාත්තු සප්පායම් කළේත් ඇගේ දරුවන් රැක බලා ගත්තේත්, ඇගේ අවමඟුල් කටයුතු පිළියෙල කළේත් ඔහු විසිනි. අර ජේත්තුකාර පනවූරොෆ් කිසිවක් කෙළේ නැත. ඔහු දොස්තරගෙන් රූබල් සීයක් ණයට ගත්තේ ය. ඒ ණය තවම ගෙව්වේ නැත.

"උඹ මාව මොස්කව් නුවරට එක්කරගෙන ගිහිල්ලා පිස්සන් කොටුවක දානවා නම් හොඳයි." දොස්තර කීවේ ය. "මම පිස්සෙක්. නෝන්ජල් ළමයෙක්. මම තාම ශක්තියත් යුක්තියත් විශ්වාස කරනවා."

ඉක්බිති ලාබයට තිබුණු ගෙවල් මිලයට නොගැනීමෙන් කළ අදූරදර්ශී වැඩය ගැන ඔහු ඇගේ සැමියාට අවලාද කීවේ ය. මේ මහලු මිනිසාගේ එකම ප්‍රීතිය තමා ය යන හැඟීම යූලියා කෙරෙන් පහ විය. ඔහු ලෙඩුන් බලන්ට ගිය විට ඈ සෑම කාමරයකම ඉවක් බවක් නැතිව ඉබාගාතේ ඇවිද්දා ය. තමා උපන් නගරයත් තමාගේ නිවසත් කොතරම් උදාසීන බවක් උසුලන්නේ ද යනු ඇයට දැනිණි. බැහැරට යාමේ හෝ කිසිවකු හමු වීමට යාමේ හෝ ආසාවක් ඇය තුළ නොවී ය. තම ළමා කාලයත් මිතුරියනුත් විවාහයට පෙර ජීවිතයත් ගැන සිතන විට ඇය තුළ ශෝකයවත් සිත් තැවුලක්වත් ඇති නොවේ.

සවස ඈ තමන්ගේ හොඳම ගවුම ඇඳ ගෙන දේව මෙහෙයට ගියා ය. එහෙත් පල්ලියේ සාමාන්‍ය ගම්බද ජනයා හැර කිසිවෙක් නොසිටියහ. ඇගේ අගනා ලොම් කබායත්, තොප්පියත් කිසිම හැඟීමක් ඇති නොකළේ ය. පල්ලියේත් තමා තුළත් කිසියම් වෙනසක් ඇතිව තිබෙන්නාක් මෙන් ඇයට දැනිණි. සන්ධ්‍යා දේව මෙහෙයේ දී කියවන යාඥා හා ගායක කණ්ඩායමේ භක්ති ගී ගායනය - විශේෂයෙන් ම 'මම මගෙ හඬ ඔසොවමි' යන ගීතිකාව ඇසීමටත්, පූජකයන් සිටගෙන සිටින පල්ලියේ මැදට සෙනඟ කැටුව සෙමින් ගමන් කොට ශුද්ධ වූ තෙල් ටිකක් තම නළලේ ආලේප කර ගැනීමටත් ඈ එවකට බෙහෙවින් ආශා කළා ය. එහෙත් දැන් දේව මෙහෙය හමාර වන්නේ කොයි වේලේ දැයි ඈ නොඉවසිල්ලෙන් බලා සිටී. පල්ලියෙන් පිටතට පැමිණි විට හිඟන්නන් පිනට යමක් නොඉල්ලාවි යනු ඇගේ එකම

බලාපොරොත්තුවයි. ඒ සඳහා නතර වී තම සාක්කුව අතපත ගෑම ඇයට කරදරයකි. ඇරත් දැන් ඈ රූබල් මිස තඹ කාසි ගෙනියන්නේ නැත.

ඈ වේලපහින් නිදා ගන්ට ගියා ය. එහෙත් බොහෝ වේලාවක් යන තුරු ඇයට නින්ද ගියේ නැත. නින්ද ගිය විට කිසියම් රූප රැසක් ද, උදේ දුටු අවමඟුල් පෙරහැර ද ඈ සීනෙන් දුටුවා ය. විවෘත කළ මිනී පෙට්ටිය තම වත්තට ගෙනැවිත් බොහෝ වේලාවක් ඉස්සරහට හා පස්සට ගෙන යනවාත්, අනතුරුව එක පාරටම එයින් දොරට දමා ගසනවාත් ඇයට සීනෙන් පෙනිණි. ඈ පිබිද බියෙන් ඇඳෙන් පැන්නා ය. පාත මාලයේ කිසිවකු දොරට ගසන හඬ ඇසේ. දොරේ සීනුවේ කම්බිය බිත්තියේ වැදීමෙන් හඬක් නැගේ. එහෙත් සීනුව වදින්නේ නැත.

දොස්තර කසින හඬත්, මෙහෙකාරිය පහත මාලයට ගොස් ආපසු එන හඬත් ඇයට ඇසුණේ ය. කිසිවෙක් ඇගේ කාමරයේ දොරට තට්ටු කරන්නට විය.

"නෝනා මහත්තයා" මෙහෙකාරියගේ කටහඬ ඇසිණි. "නෝනා මහත්තයා."

"මොකද ?" යූලියා ඇසුවා ය.

"නෝනා මහත්තයට ටෙලිගරන් එකක් ඇවිල්ලා."

යූලියා ඉටිපන්දම දල්වාගෙන ඉස්තෝප්පුවට ගියා ය. දොස්තර රැ අඳින කමිසයට උඩින් කබායක් දමාගෙන මෙහෙකාරියට පිටුපසින් සිටගෙන සිටියේ ය. ඔහු අතේ ද ඉටිපන්දමක් විය.

"සීනුව වදින්නෙ නෑ." යි ඔහු ඇනුමක් අරිමින් කීවේ ය. "ඒක කැඩිලා හුඟාක් කල්."

යූලියා විදුලි පණිවිඩය දිග හැරියා ය. "ඔයාට සව්දිය පුරමින් අපි බොනවා. - යාර්ත්සෙෆ්, කොචෙවොයි." ඈ කියෙව්වා ය.

"මොන මෝඩයොද" කී ඈ මහ හඬින් සිනාසෙන්ට විය. හදිසියෙන් ම ඇය තුළ මහත් ප්‍රීතියක් හා සැහැල්ලු බවක් ඇති විය.

ආපසු තම කාමරයට වන් ඈ සෙමින් මූණ කට සෝදා, ඇඳ පැළඳගෙන රාත්‍රියෙන් ඉතිරි හරිය ගත කළේ බඩු අස්පරස් කිරීමෙනි. පහුවදා දවල් ඈ මොස්කව් නුවර ගියා ය.

# XIII

පාස්කු සතියේ එක දවසක ලාප්තෙෆ් පවුලේ උදවිය කලා භවනයේ පැවැති චිත්‍ර ප්‍රදර්ශනයක් නැරඹීම පිණිස ගියෝ ය. මොස්කව් නුවර සිරිත අනුව කුඩා ගැනු ළමුන් දෙදෙනාත්, ඔවුන්ගේ ආයාත්, කෝස්ත්‍යාත්, ඇතුළු මුළු පවුල ම එහි ගියහ.

ලාප්තෙෆ් සියලුම ප්‍රසිද්ධ කලාකරුවන්ගේ නම් දන්නෙකි. ඔහු සෑම ප්‍රදර්ශනයක්ම නරඹන්ට යයි. ඔහු උෂ්ණ සෘතුවේ දී පිටිසරබද වාසයට ගිය විට භූමි දර්ශන චිත්‍ර අඳී. තමාට උසස් රුචියක් ඇතැයි ද තමා කලාව හැදෑරුවේ නම් හොඳ කලාකරුවෙකු වෙන්ට තිබුණේ යයි ද ඔහු අදහයි. පිටරට ගිය විට පැරණි බඩු තිබෙන සාප්පුවලට ඔහු පිවිසෙයි. පිවිස, රසිකයෙකුගේ ලීලාවෙන් භාණ්ඩ එකිනෙක බලා තම අදහස් පළ කරයි. අන්තිමේ දී සාප්පුකාරයා එවේලේ කී කවර ගණනකට වුව ද කිසිවක් මිලයට ගනියි. ඉක්බිති ඒ ගත් භාණ්ඩය කරත්ත මඩුවේ බඩු තබන පෙට්ටියක තැන්පත් කර තබනු ලැබේ. කිසිවෙකුට සොයාගන්ට බැරි විදියට එතනින් අතුරුදහන් වන තුරුම එය එතන තිබෙන්ට හරියි. නැත්නම් ඔහු කිසියම් කැටයම් කරුවෙකුගේ සාප්පුවකට ඇතුළු වෙයි. එහිදී මුද්‍රිත කිසිවක් හෝ ලෝහ තහඩුවක කැටයමක් හෝ ඕනෑකමින් පරීක්ෂා කොට බලා ඒ කෘතිය ගැන කිසියම් විවේචනයක් කොට ලාබ කුඩා රාමුවක් නැත්නම් වැඩකට නැති කඩමලු පෙට්ටියක් මිලයට ගනියි. ඔහුගේ නිවසෙහි තිබෙන සියලුම චිත්‍ර ප්‍රමාණයෙන් ලොකු ඒවා ය. එහෙත් ඒවා බොහෙවින් පහත් චිත්‍ර ය. ඔහු ළඟ ඇති හොඳම චිත්‍ර එල්ලා ඇත්තේ නොසැලකිලි ලෙස ය. ඔහු චිත්‍ර සඳහා මහත් මුදල් වැය කරයි. එහෙත් ඒවා පහත් ලෙස කොපි කරපු චිත්‍ර බව පසුව හෙළි වේ. පුදුමය නම් බොහෝ දේවල් ගැන ඔහු අතිශයින් බියසුළු බවක් දක්වතත් කලා ප්‍රදර්ශනවලදී අසාමාන්‍ය නිර්භීත බවකුත්, ආත්ම විශ්වාසයකුත් දැක්වීම ය.

යූලියා සෙර්ගේයෙව්නා තම සැමියා කරන්නාක් මෙන් ඔපරා කන්නාඩියෙන් හෝ අඟිලිවලින් කවයක් සාදා ඒ තුළින් හෝ චිත්‍ර නැරඹුවා ය. විශාලෙට දැක්වෙන චිත්‍රවල මිනිසුන් පණ පිටින් සිටින්නාක් මෙන් ද ගස් සැබෑ ගස් මෙන් ද පෙනිණි. එහෙත් බොහෝ චිත්‍ර එක හා සමාන පෙනීම ගැන යූලියා පුද්මා වූවා ය. කලාවේ නියම කාරිය නම්, චිත්‍රවල දැක්වෙන මිනිසුනුත්, ද්‍රව්‍යයනුත් එක් ඇසක් වසා ඒ දෙස බලන විට සැබෑ ද්‍රව්‍ය මෙන් පෙනෙන්ට සැලැස්වීම යයි ඈ

සිතයි.

"ඒක ෂිෂ්කින්ගෙ කැලයක්." සැමියා ඇයට කීවේ ය. "එයා මොකුත් පෙන්නල නෑ..... අර හිම දිහා බලන්න. හිම කොහොමවත් ඔය වගේ දම් පාට නෑ .... අර ළමයගෙ දකුණු අතට වැඩිය වම් අත කොටයි."

අවසානයේ ඔවුහු සියල්ලෝ ම වෙහෙසට පත් වූහ. ඔවුන් ගෙදර යෑමට පෙර ලාප්තේෆ් කෝස්ත්යා සෙවීමට ගියේ ය. යූලියා හදිසියේ ම කුඩා භූමි දර්ශන චිත්‍රයක් ඉදිරියේ නතර වූවා ය. එහි ලී පාලමක් සහිත ගංගාවකි. ගඟේ එක් පසෙක ඉවුරේ වූ පටු පාර අඳුරු තණ බිමකින් වැසී ඇති අතර දකුණු පස වන තීරයකි. එහි ගොපළුන් විසින් සෑදූවා සේ සිතිය හැකි ගිනි මැලයක් ඇත. ක්ෂිතිජයේ අහස නිසලව, ගිනි දළු නොවිහිදී ගින්නෙන් දැවෙන්නාක් බඳු ය.

මේ පාලම හරහා යන සැටි යූලියා සිතෙන් මවා ගනියි. ඇත පෙනෙන ගින්නක් බඳු වූ රතු පාටින් ද, කුඹුරුවල නිදිබර ලෙස හඬ දෙන කුරුල්ලන්ගේ නාදයෙන් ද යුක්ත නිසල හැන්දෑවේ ඈ පටු මග දිගේ දිගට ම යයි. වලාකුළු කැලෑව හා තණ බිම තමන්ට පුරුදු ඇතුවාක් මෙනුත් බොහෝ කලකට පෙර කීප වතාවක් මේවා දැක ඇතුවාක් මෙනුත් ඇයට දැනෙයි. අප්‍රමාණ හුදෙකලා බවික් ඇය ගිල ගනියි. හිරු බැස යන දෙසට මෙන් ම ගුප්ත අහස් ගැබ දෙසට ද ඒ පටුපාර දිගේ යාමට ඇයට සිතෙයි.

"මොන තරම් අපූරු චිත්‍රයක් ද" චිත්‍රය තේරුම් ගැනීමෙන් පුදුම වෙමින් ඈ කීවා ය. "බලන්න අලෝෂා, ඒකෙ නිසන්සලකම ඔයාට දැනෙන්නේ නැද්ද?"

භූමි දර්ශන චිත්‍රයට කැමති මන්දැයි පහදා දීමට ඈ වෑයම් කළා ය. එහෙත් අගේ සැමියාටවත්, කෝස්තයාටවත් ඈ කී දෙය වටහා ගත නොහැකි විය. එම චිත්‍රයේ සැලකිය යුතු කිසිවක් කිසිවෙක් නොදුටු බැවින් ඈ එදෙස දුක්බර මඳ සිනාවකින් යුතුව බලාගෙන සිටියා ය. ඈ නැවතත් ශාලාවේ තිබුණු චිත්‍ර බලමින් යන්ට විය. ඒවා සියල්ලම එක වගේ යැයි ඈ තවදුරටත් නොසිතුවා ය. ඈ ගෙදර පැමිණි විට, විසිත්ත කාමරයේ පියානාවට ඉහළින් එල්ලා තිබුණු විශාල චිත්‍රය, පළමු වතාවට ඇගේ සැලකිල්ලට යොමු විය.

"මේ වගේ චිත්‍ර තියාගෙන ඉන්නෙ මොනවට ද?" එකෙණෙහිම ඇති වූ පිළිකුලකින් යුක්තව ඈ කීවා ය.

ඊට පසු මල් මෝස්තර සහිත ඔප දැමූ ලීස්තර ඇති වැනිෂියන් කැටපත් හා පියානාවට ඉහළින් එල්ලා තිබුණු පින්තූරය වැනි අනික්

පින්තූර කෙරෙහි ද, තම සැමියා කෝස්ත්යා සමග කලාව ගැන කරන සාකච්ඡාව කෙරෙහි ද ඇය තුළ පිළිකුලකුත්, නුරුස්නා ගතියකුත්, සමහර විට ද්වේෂයකුත් ඇති විය.

වැදගත් කිසිවක් නොමැති ව අනාගත බලාපොරොත්තුවක් නොමැති ව ජීවිතය දවසින් දවස ගලා ගෙන යයි. නෘත්‍ය රඟ දක්වන කාලය අවසන් වී ඇත. උෂ්ණ කාලය ලබා ඇත්තේ ය. කදිම කාලගුණය ඇති සමයකි. එක් උදයක ලාප්තෙෆ් පවුල, ගෙවල් බිඳුම් නඩුවක විත්තිකරුවකු වෙනුවෙන් කෝස්ත්යා පෙනී සිටින දිස්ත්‍රික් උසාවියේ නඩුවක් බැලීමට ගියෝ ය. ඔවුන් ගෙදරින් පිටත් වූයේ තරමක් පමා වෙලා ය. උසාවියට පැමිණෙන විට සාක්කි විභාගය පැවතුණේ ය. එහි සාක්කි කරුවෝ බොහෝ දෙනෙක් සිටියහ. ඔවුහු සියල්ලෝම රිදී නැන්දලා ය. විත්තිකරු ඔවුන්ගේ ස්වාමිදුව වන ලොන්ඩරිය අයිතිකාරිය බැලීමට නිතර පැමිණෙන බවට ඔවුහු සාක්කි දුන්හ. ශුද්ධ වූ කුරුසියේ මංගල්‍ය දා රෑ බෝ වූ පසු ඔහු බීගෙන ඇවිත් තවත් බොන්ට යාමට සල්ලි ඉල්ලුවේ ය. එහෙත් මුදල් නොලැබිණි. පැයකට පසු ඔහු බීර ද, ගැනු ළමුන්ට ඉඟුරු විස්කෝතු ද රැගෙන ආපසු පැමිණියේ ය. ඔවුහු සියල්ලෝ ම සින්දු කියමින් රෑ ය ගත කළ හ. අටුව කඩා දමා ඇති බවත්, කමිස තුනක් ද, ගවුමක් ද, ඇඳ ඇතිරිලි දෙකක් ද රෙදි වැලෙන් සොරකම් කර ඇති බවත් පසුවදා උදේ ඔවුන්ට දැක ගත හැකි විය. ශුද්ධ වූ කුරුසියේ මංගල්‍යය දා සවස, විත්තිකරු ගෙනා බීර බීවේ දැයි කෝස්ත්යා සරදම් සහිත මඳ සිනාවක් පාමින් ඔවුන් එක එකාගෙන් ඇසුවේ ය. රිදී නැන්දලා විසින් ම රෙදි සොරකම් කළ බව ඔප්පු කිරීමට ඔහු වෑයම් කරන බව පැහැදිලිව ම පෙනිණි. ඔහු මඳ වූ චකිතයක්වත් නොමැති ව, ජූරි සභාව වෙත තම ඇස් තරයේ රඳවාගෙන දේශනය කරගෙන ගියේ ය.

ඔහු ගෙවල් බිඳුමකත්, සාමාන්‍ය හොරකමකත් වෙනස පැහැදිලි කරන්නට විය. ඔහු බැරෑරුම් ලීලාවෙන් අපූරු සමත්කමක් විදහා පාමින්, කවුරුත් දන්නා දේවල් බොහෝ වේලාවක් උනන්දුවෙන් කියා ගෙන ගියේ ය. එහෙත් ඔහු කීවේ කුමක් දැයි තේරුම් ගැනීම අපහසු විය. හොරකම් කළ රෙදිවලින් රිදී නැන්දලාට බීර ගැනීම නිසා එය හොරකමක් නොව ගෙවල් බිඳුමක් බවත්, එහි හොරකමක් වූයේ නම් එය ගෙවල් බිඳුමක් විය නොහැකි බවත් ඔහුගේ කථාවෙන් ජූරි සභාව ගන්නා එකම තීරණය වනු ඇත. ජූරි සභාවටත්, බලා සිටි

උදව්යටත් ඔහුගේ කථාව බෙහෙවින් සාර්ථක වූවාක් මෙන් පෙනිණි. විත්තිකාරයා නිවැරදිකාරයා යයි උසාවිය තීන්දුව දුන් විට යූලියා කෝස්ත්යා දෙස බලා හිස සැලුවා ය. පසුව ඈ මහත් උනන්දුවෙන් ඔහුට අතට අත දුන්නා ය.

ලාප්තෙෆ් පවුල මැයි මාසයේ දී සොකොල්නිකි හි පිහිටි ගම්බද නිවාසයේ පදිංචියට ගියෝ ය. එවකට යූලියා ගර්භනීව සිටියා ය. අවුරුද්දක් විතර ගෙවී ගියේ ය. යූලියා හා යාර්ත්සෙෆ් යාරොස්ලව්ල් රේල් පාරට නුදුරින් සොකොල්නිකි ගමේ තණ බිස්සක් මත වාඩි වී සිටියෝ ය. කෝස්ත්යා, හිස අත් බැඳගෙන, අහස දෙස නෙත් රඳවාගෙන ඊට යාර කීපයක් ඈතින් උඩු බැල්ලෙන් වැතිරී සිටියේ ය. ඇවිදීම නිසා ඔවුහු සියල්ලෝ ම වෙහෙසට පත් ව සිටිති. ඔවුන් මෙතන නතර ව සිටින්නේ හයේ කෝච්චිය ආ විට ගෙදර ගොස් තේ පානය කිරීමට ය.

"අම්මල හැම තිස්සෙම හිතන්නේ තමන්ගෙ දරුවන් අපූරුයි කියල. ඒක ස්වභාවිකයි." යූලියා කියන්ට විය. "බබාගෙ පුංචි ඇස්, කන්, නහය දිහා බලාගෙන බබාගෙ පුංචි ඇඳ ළඟ ඉඳගෙන අම්මලාට ඉන්න පුළුවන් පැය ගණනක් වුණත්. තමාගෙ දරුවා ඉඹීමෙන් හැම කෙනෙකුට ම ලොකු සතුටක් ලැබේවි කියලා ඈ හිතනවා. ඉතින් බබා ඇර වෙන මොකුත් ගැන අම්මට කතා කරන්න බෑ. අම්මලාගෙ තියෙන ලොකුම ආසාව මම දන්නව. අම්මලාගෙ මේ දුර්වලකම් මම දන්න හින්ද මම බොරු වර්ණනා කරන්නේ නෑ. ඒ වුණත් මගේ පුංචි ඔල්ගා ඇත්තට ම හරි අපූරුයි. ඒකිට තියෙනවා හොඳ බුහුටි පුංචි මූණක්. ඒකි කිරි උරන හැටි, හිනා වෙන හැටි. එයාට තාම මාස අටයි. නමුත් එච්චර බුද්ධිමත් ඇස් තුන් අවුරුද්දක දරුවෙකුටවත් තියෙනවා මම කවදාවත් දැකල නැහැ."

"එහෙනං මේ බලන්න." යි යාර්ත්සෙෆ් ඇගෙන් පිළිවිසුවේ ය. ඔයා වැඩියෙන් ආදරේ කාට ද? ඔයාගෙ සැමියට ද? නැත්නම් බබාට ද?

යූලියා තම දෙවුරු හැකුළුවා ය.

"මම දන්නෙ නෑ." යි ඈ තෙපළා ය. "මම මගේ සැමියාට කවදාවත් හුඟක් ප්‍රේම කළේ නෑ. ඔල්ගා තමයි මගෙ ප්‍රථම ප්‍රේමය. මම කසාද බඳිනකොට අලෙක්සේයිට ප්‍රේම නොකරපු බව ඔයා දන්නවා. මම එතකොට හරි මෝඩයි. මම හරියට දුක් වින්දා. මං හින්ද එයාගෙයි මගෙයි ජීවිත නාස්ති වුණයි කියල හිතපු නිසයි. දැන්

මට පේනවා ප්‍රේමය ඕන නැති බව. ඒ ඔක්කෝම විකාර."

"ඉතින් ඔයා ප්‍රේම කරන්නේ නැත්නං සැමියා එක්ක තියෙන බැඳීම මොකක් ද? ඇයි එයා එක්ක ජීවත් වෙන්නේ ?"

"මම දන්නේ නෑ .... මං හිතන්නේ පුරුද්ද වෙන්නැති. මම එයාට සලකනවා. එයා හුඟ කලක් ගෙදර නොහිටියොත් මට ඒක දැනෙනවා. නමුත් ඒක නොවෙයි, ප්‍රේමය. එයා දක්ෂ, අවංක මිනිහෙක්. ඒක හොඳටම ඇති මට සතුටු වෙන්න. එයා හරි කරුණාවන්ත ගුණ යහපත් ...."

"අලෝෂා දක්ෂයි, අලෝෂා කරුණාවන්තයි." කෝස්ත්‍යා තම හිස අලස ලෙස ඔසවමින් ඇද පැද කීවේ ය. "නමුත් කෙල්ලෙ, එයා කොච්චර දක්ෂ ද, කරුණාවන්තද, හිත් ගන්නවද කියල බලන්න කවුරු හරි එයා එක්ක එක මල්ලේ ලුණු කැවත් වගේ ආස්සරේ කරන්න ඕන. ඇරත් කරුණාවන්ත කමෙනුයි. දක්ෂකමෙනුයි ඇති වැඩේ මොකක් ද? ඔයාට ඕන තරම් සල්ලි එයා දෙනවා. ඒක එයාට කරතැකි. නමුත් තරමක දැඩි ගතියක් ඕන වුණ ගමන්, මැරවරයොයි කපටියි එකක් වැඩ කටයුතු පැටලුණු ගමන් එයා පහු බහිනවා. අලෙක්සේයි වගේ මිනිස්සු බොහොම හොඳයි. සටන්කාමීන් හැටියට නං ඒ ගොල්ලන්ගේ වැඩක් නෑ. සාමාන්‍යයෙන් බැලුවොත් ඒ ගොල්ල මොකකටවත් එච්චර හොඳ අය නෙවෙයි."

කෝච්චිය පැමිණියේ ය. බොයිලේරුවෙන් නගින ළා රතු දුම කැලය වසා ගෙන පැතිරෙයි. කෝච්චියේ අන්තිම පෙට්ටියේ වීදුරු ජනෙල් එළිය වැටී ඇස් කකියන තරම් බැබලේ.

"තේ බොන වේලාව" යි යූලියා සෙර්ගේයෙව්නා නැගිටිමින් කීවා ය.

මෑතක සිට ඈ මහත ය. ඈ සෙමින් ඇවිදින්නේ මෝරපු ගැහැනියකගේ ලීලාවෙනි.

"එහෙම වුණත් ප්‍රේමය නැති එක හරි නෑ." යාර්ත්සෙෆ් ඇය අනුව යන ගමන් කීවේ ය. "අපි ප්‍රේමය ගැන හුඟාක් කතා කරනවා. හුඟාක් කියවනවා. නමුත් අපි ප්‍රේම කරන්නේ බොහොම ටිකයි. ඒක හරි නෑ."

"ඒ ඔක්කොම වල් පල්." යූලියා තෙපලා ය. "ඒක නෙවෙයි සතුට."

පිපුණු මිග්නට්, දුම් හා පිච්ච මලින් ද පිපීගෙන එන ලිලී මලින් ද සැදුණු උයනක දී ඔවුහු තේ පානය කළහ. යූලියා සෙර්ගේයෙව්නා

ප්‍රීතියෙන් ප්‍රමුදිත අවස්ථාවක පසු වන බවත් ඈ ඇති දෙයට වැඩි මනත් දෙයක් බලාපොරොත්තු නොවන බවත් ඇගේ මුහුණින් යාර්ත්සෙෆ්ට ද කොචෙවොයිට ද වැටහුණේ ය. ඈ දෙස බැලීමෙන් ඔවුන් ද ලොව සමඟ ශාන්ත බවෙන් සැනසුණාක් මෙන් විය. කථා කළ සෑම දෙයක් ම දක්ෂ ලෙසත්, තැනට ඔබින ලෙසත් සිදු විය. දේවදාර ගස් රමණීය ය. දේවදාර ගසින් වෑහෙන ලාටුවලින් පෙරට වඩා සුවඳක් වහනය වෙයි. කිරි ඉතා හොඳ ය. සාෂා ලස්සන ළමයෙකි.

තේ පානයෙන් පසුව ඔවුහු ඇතුළට ගියහ. යාර්ත්සෙෆ් පියානාව වාදනය කරමින් පෙම් ගී ගයන්ට විය. යූලියා වරින් වර නැගිට හඬ නොනැගෙන සේ පයැඟිලි තුඩු බිම ඔබා, දවස් දෙකක පටන් උණ ගැනී කෑම නැතිව සිටින ලීදා ද, තම දරුවා ද බැලීමට කාමරයෙන් පිටතට යයි.

"මගෙ ප්‍රේමේ, මගෙ ප්‍රිය ප්‍රේමේ" යි යාර්තසෙෆ් ගයයි. "නෑ. මිත්‍රවරුනි" ඔහු හිස ගස්සමින් කෑ ගසයි. "උඹලට කැමති දෙයක් කියපල්ලා. මට තේරෙන්නේ නෑ උඹල ප්‍රේමයට විරුද්ධ මොකද කියල. දවසට පැය පහළොහක් මම වැඩ කරන්නේ නැත්නම් අඩමානයක් නෑ, මම ප්‍රේමයෙන් බැඳෙනවා."

රෑ කෑම බරාඳයෙහි පිළියෙල කරන ලදී. ඒ උණුසුම් තිසල සැන්දෑවකි. එහෙත් යූලියා සාලුව පොරවාගෙන සීතලය ගැන මැසිවිලි කියයි. අඳුර වැටෙන්ට වූ විට ඈ තුළ අපහසු ගතියක් ඇති වන්ට විය. ඈ වෙව්ලමින් අමුත්තන්ට මඳ වේලාවක් නතර වන්ට කීවාය. වයින් ගෙන ඒමටත්, රෑ කෑමෙන් පසු බ්‍රැන්ඩි ගෙන ඒමටත් ඈ සේවකයන්ට අණ කළා ය. ළමයින් හා මෙහෙකරුවන් සමඟ හුදෙකලාව සිටීමට ඈ කැමති නැත.

"මේ අහළ පහළ උදවියයි මමයි මේ දවස්වල පිළියෙල කරගෙන යනවා ගමේ ළමයින්ට නාට්‍යයක් පෙන්නන්න." යි ඈ කීවා ය. " අපට ඕනෑ ඔක්කෝම තියෙනවා. රඟහලක් තියෙනවා. නළුවො ඉන්නවා. නාට්‍යයක් විතරයි නැත්තේ. අපට නොයෙක් ජාතියේ නාට්‍ය හුඟාක් හම්බ වුණා. නමුත් ඒ එකක්වත් හරි නෑ. ඔයා නාට්‍ය කලාවට කැමතියි. ඉතිහාසය හොඳට දන්නවා." යි ඈ යාර්ත්සෙෆ් දෙසට හැරෙමින් කීවා ය. "අපට ඓතිහාසික නාට්‍යයක් ලියල දෙන්න පුළුවන් ද?"

"හොඳයි, කරන්න ඇහැකි."

අමුත්තෝ බ්‍රැන්ඩි සියල්ල බී පිටත් වීමට සූදානම් වූහ. දැනටම දහය පසු වෙලා ය. ගමට එය හොඳටම රෑ බෝ වූ වේලාවකි.

"හරි අන්ධකාරයි. මට මේ ලෝකෙ දෙයක් පේන්නෙ නෑ." ඔවුන් දොරටුව දෙසට ඇරලන ගමන් යූලියා කීවා ය. "ඔයගොල්ල ගෙදර යන පාර කොහොම හොයා ගනීවිදි කියල මම දන්නේ නෑ. අපෝ හරි හීතලයි."

ඈ තම සාලුව තවත් හොඳට පොරවාගෙන ආපසු ගෙට ගියා ය.

"අලෙක්සේයි කොහේ හරි කඩදාසි සෙල්ලමක් කරනවා වෙන්නැති."

ඈ හඬ නගා ඔවුන්ට කීවා ය. "ආයුබෝවන්."

දීප්තිමත් ආලෝකයෙන් යුත් කාමරවල සිට පැමිණි බැවින් යාර්ත්සෙෆ්ටත් කෝස්ත්යාටත් කිසිවක් නොපෙනේ. ඔවුහු අඳුරේ කනාබල්ලන් ගසමින් අවුත් රේල්පාර පසු කළහ.

"මොන කෙහෙම්මලක්වත් පේන්නේ නෑ." යි අහස දෙස බැලීමට නතර වෙමින් කෝස්ත්යා මහ හඬින් කෑ ගැසුවේ ය. "බලාපන්කො තාරකා දිහා. ඒවා හරියට හොඳටම අලුත් කොපෙක් පහලොවේ කාසි වගේ."

"මොනවා ?" යාර්ත්සෙෆ්ගේ කටහඬ අඳුරෙන් ඇසේ.

"කට්ට කළුවරයි කීවා. උඹ කොහේද ?"

යාර්ත්සෙෆ් හුරුවන්බාමින් පැමිණ ඔහුගේ අත අල්ලා ගත්තේ ය.

"ඔහේ, මරු මිනිස්සු" කෝස්ත්යා හදිසියෙන්ම හැකි තරම් වේගයෙන් උගුර යටින් බෙරිහන් දුන්නේ ය. "උන් සමාජවාදියෙක් අල්ලාගෙන."

ඔහු වෙරි වූ විට හැම තිස්සේ ම ඝෝෂා කරයි. පොලිස් කාරයන් හා කුලී රියැදුරන් සමග සණ්ඩු කරයි. සින්දු කියයි. මහ හඬින් සිනාසෙයි.

"ලෝකෙ යකාට ගියදෙන්." ඔහු ගිගුරුවේ ය.

"මෙහෙ බලපන්." යාර්ත්සෙෆ් ඔහු සන්සුන් කළේ ය.

"දෙයියන්නෙ නාමෙට ඕක නවත්තපන්."

ඔවුන්ගේ ඇස් ඉක්මනින් ම අඳුරට පුරුදු විය. උස දේවදාර ගස් හා ටැලිග්‍රාෆ් කණු දැන් පෙනේ. මොස්කව් දුම්රියපොලවලින් ඉඳහිට හූ හඬක් ඇසේ. විදුලි කම්බි දුක් මුසු ලෙස 'හ්ම්' යනුවෙන්

හඬ නගයි. එහෙත් කැලෑවෙන් කිසිම ශබ්දයක් නොඇසේ. එම නිසල බවෙහි කිසියම්, අභිමානවත් බලගතු, ගුප්ත දෙයක් පැවැතිණි. දේවදාර ගස් මුදුන් අහසට ගෑවෙන්නාක් මෙනි. යහළුවන් දෙදෙන පටු මඟ සොයා ගෙන ඊට පිවිසියහ. මෙහි අඳුර දැඩි ය. අහසේ දිලෙන තාරකා පෙළිනුත් ගමන් කරන විට පාවලට දැනෙන පොළොවේ තද ගතියත් නිසා පමණි, තමන් යන්නේ හරි මඟ බව ඔවුන්ට දත හැක්කේ. ඔවුහු කතාවක් බහක් නැතිව අඳුරේ ම ගමන් කරති. කිසිවෙක් අඳුරේ ම තමන් දෙසට එනු ඔවුන් දෙදෙනාට ම පෙනේ. වයින්වල මත් ගතිය කෙමෙන් අඩු වීගෙන යයි. බාගදා මොස්කව් නුවර මහ රජවරුන්ගේත්, කුලදෙටුවන්ගේත් අවතාර මේ කැලේ හොල්මන් කරනවා ඇතැයි යාර්ත්සෙෆ් කියයි. මෙය කෝස්ත්යාට කීමට ඔහු අදහස් කොට පසුව එම අදහස වෙනස් කර ගත්තේ ය.

ඔවුන් නගරයට ළඟා වන විට අරුණාලෝකය අහසේ පැතිරෙමින් තිබිණි. ගෙවල්, තැබෑරුම් හා ලී දඬු දැමූ මිදුල් පසු කරගෙන ගිය ඔවුහු තෙත සුළං රැල්ලක් ද, පිපුණු දෙහි මලින් පැතිරෙන සිත් පොබයන සුවඳ ද ඇති රේල් පාලමක් යටින් ද ගියෝ ය. එතැනින් මුළුමනින් ම අඳුරු පාළු පළල් පාරකට පිවිසියහ.... ඔවුන් රතු පොකුණට පැමිණෙන විට එළිය වැටී තිබුණේ ය.

"මොස්කව් නුවර තව හුඟාක් දුක් විඳීවි." යි අලෙක්සෙයෙව්ස්කි තාපසාරාමය පසු කරගෙන යද්දී යාර්ත්සෙෆ් කීවේ ය.

"මොකක්ද උඹ ඒකෙන් අදහස් කළේ ?"

"අනේ මන් දන්නේ නෑ. මං මොස්කව් නුවරට ආදරෙයි."

යාර්ත්සෙෆ් හා කෝස්ත්යා මොස්කව් නුවර උපන් අය වෙති. ඔවුහු ඊට ආදරය කරති. කිසියම් අවිචාරවත් හැඟීමක් නිසා අනික් නගර ඔවුන්ට රුස්සන්නේ නැත. මොස්කව් නුවර ශ්‍රේෂ්ඨ නගරයක් යයි ද, රුසියාව ශ්‍රේෂ්ඨ රටක් යයි ද යනු ඔවුන්ගේ හැඟීම වේ. ක්‍රිමියාවේදී හෝ කොකේසස්හිදී හෝ පිටරට දී හෝ ඔවුන්ට මහත් වෙහෙසකුත්, අපහසු ගතියකුත් දැනෙයි. ප්‍රිය නූපදවන සුළු වුව ද මොස්කව් කාලගුණය තරම් සැපදායක ආනන්දජනක තවත් දෙයක් නැතැයි ඔවුහු සිතති. සමහර දවස්වල වීදුරු ජනේලවල වැසි පහර වැදෙමින් තදින් වසී. වේලපහින් අඳුර වැටේ. ගෙවල්වලින් ද පල්ලිවල ද බිත්ති අඳුරු දුඹුරුවන් පැහැයට හැරෙයි. බැහැරට යන විට කුමක් දමාගෙන යා යුතු දැයි කිව නොහැකි ය. මෙවැනි දවස් ඔවුන්ගේ සිත් පිනවන්නා සේය.

අන්තිමේ දී දුම්රිය පොළට පැමිණි ඔවුහු කුලී රථයක නැගී ගියෝය.

"ඓතිහාසික නාට්‍යයක් ලියනවා නම් ඒක හොඳයි." යාර්ත්සෙෆ් කියන්නට විය. "ලියාපුනොෆ් හා ගොදුනොෆ් නැතිව මොනවද අමුතු දෙයක් තියෙන්නෙ. යරොස්ලාව් යුගයේ නැත්නම් මොනොමැක් යුගයේ. පීමන්ගේ ඒකාංග නාටක ඇරුණු කොට අනික් ඓතිහාසික නාට්‍ය මට පෙන්නන්න බෑ. රුසියන් ඉතිහාසය ගැන පොත් කියවන කොට, අසාමාන්‍ය, සිත් ගන්නා, ශූරකම් රුසියන් ඉතිහාසයේ ඕන තරම් තියෙන බව මට හැඟෙනවා. නමුත් මම ඓතිහාසික නාට්‍යයක් බැලුවොත් මට හැඟෙන්නෙ රුසියන් ජීවිතය කිසිම වැඩකට නැති, වැදගැම්මකට නැති, ජාතික ඌරුවක් නැති දෙයක් හැටියටයි."

යහළුවන් දෙදෙන දිමිත්‍රොව්කාහිදී වෙන් වූහ. යාර්ත්සෙෆ් නිකත්ස්කායා වීදියේ පිහිටි තම නිවසට ගියේ ය. ඔහු අසනක වාඩි වී නිදි කිරා වැටෙමින්, එහාට මෙහාට ඇඹරෙමින් තමා ලිවීමට අදහස් කරන ඓතිහාසික නාට්‍යය ගැන සිතන්ට විය. හදිස්සියෙන් ම යකඩ දම්වැල් එකිනෙකට ගැටෙන හඬක් බඳු භයානක ශබ්දයක් ද, කල්මික් ජාතිකයෙකුගේ වැනි නාඳුනන මිනිසෙකුගේ කටහඬක් ද තමාට ඇසේ යැයි ඔහු සිතුවේ ය. ගම ගිනි ගෙන දැවෙනු ඔහු දකියි. හිමෙන් වැසුණු හාත්පස කැලෑව ගින්නෙන් බිය එළවයි. ගින්න කොතරම් මහත් වීද යත් ඉතා කුඩා දේවදාර ගස් වුව ද පැහැදිලි ලෙස පෙනේ. වනචාරී මිනිසුන් අසුන් පිට ද පයින් ද මහත් වේගයෙන් ගම පුරා යති. අහස මෙන් ම මිනිසුනුත් අශ්වයනුත් ගින්නේ රත් පැහැය ගත්තාක් මෙනි.

"පොලොව්ත්සී" යි යාර්ත්සෙෆ් සිතයි.

ඔවුන්ගෙන් එකෙක් රෞද්‍ර මුහුණක් ඇති බියකරු නාකි මිනිහෙකි. ඔහුගේ සිරුර පිළිස්සී ඇත. ඔහු සුදු රුසියානු මුහුණක් ඇති කෙල්ලක සෑදලයේ තබා බඳිමින් සිටියි. මහළු මිනිසා පිස්සුවෙන් මෙන් කෑ ගසයි. කෙල්ල කල්පනාකාරී දෑසකින් යුතුව බලාගත් වන ම සිටියි.... යාර්ත්සෙෆ් තිගැස්සී ඇහැරුණේ ය.

"මගෙ ප්‍රිය ප්‍රේමේ, මගෙ ප්‍රිය ප්‍රේමේ." යි ඔහු තමන්ට ම කියා ගනියි.

ඔහු කුලී රියකරුවාට මුදල් ගෙවා උඩු මාලේ කාමරයට ගියේ ය. එහතේ ඔහුට තවම සිහිනයෙන් නිදහස් විය නොහැකි ය. ගිනි දළු විහිදෙමින් ගින්න ගම පුරාම පැතිරෙණු ඔහු දකියි. 'පට පට' ගා

පුපුරමින් දුම් දෙවමින් කැලය ගිනි ගනියි. වියරුහුණු විශාල වල් ඌරෙක් කඩා බිඳගෙන ගම මැදින් දුවයි.... සෑදලයට තබා බැඳ සිටින කෙල්ල ඒ දෙස බලාගෙන සිටියි.

ඔහු තම කාමරයට පැමිණෙන විට හොඳටම එළිය වැටිලා ය. විවෘත කරන ලද පියානාව මත ඉටිපන්දම් දෙකක් දල්වෙයි. කළු ඇඳුමකින් සැරසුණු රස්සූදිනා පත්‍රයක් අතේ ඇතිව සෝපාව මත වැතිරී බර නින්දකින් පසු වෙන්නී ය. ඔහු එනතුරු බොහෝ වේලාවක් පියානාව වාදනය කරමින් සිටියාට පසු ඇයට නින්ද යන්නට ඇත.

"අසරණී, එයාට මහන්සි ඇති." යි ඔහු සිතුවේ ය. ඇගේ අතින් හෙමින් සීරුවේ පත්‍රය අහක් කළ ඔහු බ්ලැන්කෙට්ටුවකින් ඇය පෙරෙව්වේ ය. ඉක්බිති ඔහු ඉටිපන්දම් නිවා දමා නිදන කාමරයට ගියේ ය. නිදාගන්ට ගිය විට පවා ඔහු සිතුවේ ඓතිහාසික නාට්‍යය ගැන ය. "මගෙ ප්‍රේමේ, මගේ ප්‍රිය ප්‍රේමේ" යන වදන් තවම ඔහු දෙසවන රැව් පිළිරැව් දෙයි.

දින දෙකකට පසු ලාප්තෙෆ් යාර්ත්සෙෆ්ගේ නිවසට පැමිණ විනාඩි කීපයක් නතර වී, ලීදාට ගලපටල රෝගය වැළඳී එය ඇගෙන් යූලියා සෙර්ගේයෙව්නාටත් දරුවාටත් බෝ වුණු බව කීවේ ය. දවස් පහකට පසු යූලියාටත් ලීදාටත් සනීප වුව ද දරුවා මළා ය කියා ආරංචියක් ආ බවත්, ඔවුන් ආපසු නගරයට ගිය බවත් ආරංචි විය.

## XIV

ලාප්තෙෆ් දැන් දිග වේලාවක් ගෙදර නතර වී සිටින්නට සතුටු නැත. තම බිරිඳ කුඩා ගෑනු ළමුන්ට පාඩමක් දීමට ඇති බව කියමින් නිතර ම ගෙදර අනික් පසට යයි. එහෙත් ඈ කෝස්ත්යාගේ කාමරයට අඬන්ට යන බව ඔහු දනී. දරුවා මැරී ගත වුණු නව වෙනි දින ද, විසි වෙනි දින ද, හතලිස් වෙනි දින ද දරුවා සිහිපත් කිරීම පිණිස ඔවුහු අලෙක්සේයෙව්ස්කි සොහොන් බිමට ගියෝ ය. තම අවාසනාවන්ත දරුවා ගැන දුක්වීමත්, වැදගැම්මකට නැති දේවල් කියමින් තම බිරිඳ සැනසීමත් හැර අන් කිසිවක් ගැන ලාප්තෙෆ් සිතුවේ නැත. දැන් ඔහු ගබඩාවට යන්නේ කලාතුරකිනි. ඔහු තමා සඳහා වැඩපොළ මවා ගනිමින් අනාථාධාර කටයුතුවල යෙදීමට තැත් කරයි. කිසියම් සුළු කරුණක් ගැන එහෙ මෙහෙ ඇවිද දවස ගෙවීම ඔහුට සතුටකි. ඔහු මේ දවස්වල සිතමින් සිටින්නේ අනාථ නිවාස පිළිබඳ ව හැදෑරීමට පිටරට යාම ගැන ය. මේ මොහොත, ඒ

ගැන ලොකු උනන්දුවකින් ඔහු සිටිය වේලාවකි.

ඒ සරත් සමයේ දවසකි. යූලියා අඩන්ට ගෙයි අනික් පසට ගියා විතරයි. ලාප්තෙෆ් තම කාමරයට වී කොහාට යම්දෝ යි සිතමින් සෝපාවේ වැතිර සිටියි. එවිට ම පියෝතර්, රස්සූදිනා පැමිණ සිටින බව දැන්නුවේ ය. ලාප්තෙෆ් ප්‍රීතියෙන් උඩ පැන බලාපොරොත්තු නොවූ අමුත්තා දකීමට හනික ගියේ ය. තම අතීත හිතවතිය ගැන ඔහු මෙවේලේ කොහොමවත් පාහේ සිතුවේ නැත. එදා සවස අන්තිම වතාවට වෙන් වූ වේලේ හිටි හැටියට ම ඈ සිටිනු ඔහු දුටුවේ ය.

"පොලීනා!" ඈ දෙසට දෑත දිගු කරමින් ඔහු කෑ ගැසුවේ ය." කොච්චර කාලෙකින් ද අපි හම්බ වුණේ! කොච්චර සන්තෝසයක් ද ඔයා හම්බ වුණු එක. එන්න ඇතුළට."

රස්සූදිනා ආචාර කිරීමේ දී, ඔහුගේ අත ගස්සා තම තොප්පියවත් කබායවත් නොගලවා කාමරයට ගොස් වාඩි වූවා ය.

"බොහොම සුලු වේලාවයි මං ඔයා එක්ක කථා කරන්නේ." යි ඈ කීවා ය. "ඔයා එක්ක නිකම් කථා කර කර ඉන්න මට වෙලාවක් නෑ. කරුණාකරල වාඩි වෙලා මං කියන දේ අහන්නත් ඔයා මාව දකින්න සතුටු වුණත් නූණත් එකේ ඇති දෙයක් නෑ. පිරිමි උදවියගෙ කරුණාවන්ත උදව් පදව් ගැන මගේ සැලකිල්ලක් නෑ. මං ඔයාව හම්බ වෙන්න ආවෙ පස් පොළකට ගිහිල්ලා. ඒ කොහේදිවත් ඒක කරන්න බැරි වුණු හින්දයි. බොහොම හදිසි වැඩක්. මේ අහන්න" යි ඈ ඔහු දෙස එක එල්ලේ බලමින් කියාගෙන ගියා. "මං අඳුනන ශිෂ්‍යයන් පස් දෙනෙක් ඉන්නවා. බාගදා උන් මෝඩයන් වෙන්න පුළුවන්. අරපරෙස්සමක් නැති උන් වෙන්න පුළුවන්. නමුත් උන් හොඳටම දුප්පත්. ඉතින් උන්නේ විද්‍යාල කාසි ගෙවාගන්න බැරිව ඉන්නවා. විශ්වවිද්‍යාලයෙන් පිට දාන්නත් පුළුවන්. ඔයාට සල්ලි තියෙන හින්දා ඒක ගෙවන්නම ඕනෑ. උන් වෙනුවෙන් මේ මුදල ගෙවා දාන්න."

"පොලීනා, මං ඒක බොහොම සතුටින් කරන්නම්."

"මෙන්න ඒ අයගේ නම්." කී රස්සූදිනා කඩදාසි කැබැල්ලක් ඔහු අතට දුන්නා ය. "ඉක්මනට යන්න. පවුලේ ප්‍රීතිය පස්සේ විඳින්න බැරියැ."

එවෙලේ ම යන්තම් නැගුණු නැගුණු 'සර සර' හඬක් විසිත්ත කාමරයට යන දොර පිටුපසින් ඇසිණි. සමහර විට බල්ලෙක් ඇඟ කසා ගත්තා විය හැකි ය.

"ඔන්න අගුවෙ ඉඳන් ඔයාගෙ එක්කෙනා අහගෙන ඉන්නවා." යි ඈ කීවා ය. "හරි කැතයි."

යූලියාට කළ මේ නින්දාව ලාප්තෙෆ් තුළ බලවත් වේදනාවක් ඇති කෙළේ ය.

"එයා මෙහෙ නෑ." යි ඔහු කීවේ ය. "එයා ඉන්නෙ ගෙයි අනික් පැත්තෙ. ඔය විදිහට කථා කරන්න එපා. ළඟදී අපේ ළමයා මළා. එයාගෙ හිත හොඳටම අවුල් වෙලා."

"ඉතින් ඔයාට සනසන්න බැරියැ." යි රස්සුදිනා අසුනෙන් වාඩිවෙමින් තරහයෙන් මෙන් කීවා ය. "එයා තව දූසිමක් වුණත් වදාවි. දරුවො වදන්න මොළේ ඕන කරන්නේ නෑ."

හුඟාක් හුඟාක් කලකට ඉස්සරින් මෙවැනි කිසිවක් අසා තිබෙන බවක් ලාප්තෙෆ්ට මතක් විය. මොහොතකට තම අතීතය, නිදහස් අවධිය, තනිකඩ ජීවිතය පිළිබඳ රසවත් මතකයන් ඔහු සිත් තුළ ඇති විය. එවිට තමන් තරුණව සිටින්නාක් මෙනුත් තමාට නොකළ හැකි කිසිවක් නොමැත්තාක් මෙනුත් ඔහුට හැඟිණි. එකල්හි බිරිඳ කෙරෙහි ප්‍රේමයක් හෝ දරුවා පිළිබඳ මතකයක් හෝ නොමැත.

"අපි දෙන්නම යමු." දිගා වෙමින් ඔහු කීවේ ය.

රස්සුදිනා විශ්ව විද්‍යාලයෙන් පිටත සිටිය දී ලාප්තෙෆ් කාර්යාලයට ගියේ ය.

"ඔයා දූන් කොහාටද යන්නෙ?" ඔහු ආපසු පැමිණ ඇසුවේ රිසිට්පත ඇය අතට දෙමිනි.

"යාර්ත්සෙෆ්ලගෙ දිහා."

"මාත් එනව ඔයා එක්ක."

"එයා වැඩ. ඔයා යන එක කරදරයක් වේවි."

"නෑ මං පොරොන්දු වෙනව කරදර කරන්නේ නෑ කියල." ඇය දෙස කන්නලව් කරන්නාක් වැනි බැල්මක් හෙළමින් ඔහු කීවේ ය.

ඈ මළ අයෙකු ගැන දුකින් සිටින කලකදී මෙන් රේන්ද පටියක් සහිත කළු තොප්පියක් පැළඳ, ඇරී ගිය සාක්කු සහිත ඉතා කිළිටි කොට කබායක් ඇඳ සිටියා ය. ඇගේ නහය පෙරට වඩා දික් වූවාක් මෙනි. ශීතල ඇත ද මඳ පැහැපත් ගතියක් හෝ ඇගේ මුහුණෙහි නොවී ය. ඇගේ කෙඳිරිලිවලට සවන් දෙමිනුත්, ඇයට කීකරු වෙමිනුත් ඇය අනුව යාමෙන් ලාප්තෙෆ් තුළ ඇති වූයේ සතුටකි. අප්‍රසන්න පෙනුමකින් හා අවුල් හිසකේවලින් යුතු වුවත්, කිසිම සුන්දරත්වයක් නොවූවත්, හොඳ ඇඳුම් පැළඳුම් නොඇන්දත්, සිත් නොගන්නා,

ඇසුරු කිරීමට අමාරු කලබලකාරී ගති පැවතුම් තිබුණත් මේ ගැහැනිය තුළ පවතින අභ්‍යන්තරික ශක්තිය ගැන පුදුම වෙමින් ඔහු දිගටම ගමන් කළේ ය.

ඔවුන් යාර්ත්සෙෆ් නිවසට ඇතුළු වුණේ කුස්සියට යන පස්සා දොරිනි. බොකුටු වී ගිය පැසුණු හිස කේ ඇති, පුදුමයෙන් ඔවුන් දෙස බලන, පිරිසිදු, වයසක කුස්සි අම්මා කෙනෙක් එහිදී ඔවුන්ට හමු විය.

"කරුණාකරල මෙහෙන් යන්න." යි ඈ මිහිරි සිනාවකින් යුතුව කීවා ය.

යාර්ත්සෙෆ් ගෙදර නොසිටියේ ය. රස්සූදිනා පියානාව ළඟ වාඩි වී, තමන්ට බාධා නොකරන ලෙස ලාප්තෙෆ්ට කියා, කෙළවරක් නැති, නීරස දුෂ්කර වාදනයන් පුහුණු වන්නට පටන් ගත්තා ය. ඔහු ද ඇයට කථා කිරීමට වැයම් කළේ නැත. ඔහු මුල්ලකට වී 'යුරෝපයේ දූතයා' නම් සඟරාවේ පිටු පෙරළ පෙරලා සිටියේ ය. ඈ පැය දෙකක් - ඇගේ දිනපතා කොටස - පුහුණු වූවාට පසු ඉක්මනින් කෑම ටිකක් කා පාඩම් කියා දීමට ගියා ය. ලාප්තෙෆ් නොකඩවා කිසියම් නවකථාවක අග කාණ්ඩයක් කියවන්නට විය. අනතුරු ව ඔහු කියවීම නරත කොට බොහෝ වේලාවක් වාඩි වී සිටියේ දවල් කෑමට ගෙදර යන්ට දැනටම පමා වී තිබීම ගැන සන්තෝෂ වෙමිනි.

"හෝ - හෝ - හෝ !" යාර්ත්සෙෆ්ගේ හඬ ශාලාව දෙසින් ඇසුණේ ය. දිලිසෙන බොත්තම් සහිත දිග කබායක් ඇඳ සිටි ඔහුගේ පෙනුම සතීපදායක ශක්තිමත් බවකින් හා ප්‍රීතිමත් බවකින් යුක්ත ය.

මිත්‍රයන් දෙදෙන එකට දවල් කෑම ගත්හ. කෑමෙන් පසු ලාප්තෙෆ් සෝපාවෙහි දිගැරුණේ ය. යාර්ත්සෙෆ් ඔහු පසෙකින් වාඩි වී සිගරැට්ටුවක් පත්තු කර ගත්තේ ය. අඳුර වැටෙමින් තිබිණි.

"මම දැන් නාකි වේගෙනත් යනවා." යි ලාප්තෙෆ් කීවේ ය. " නීනා අක්කා මැරිච්ච සත්දියේ ඉඳල මට හැම තිස්සෙම වාගෙ මරණෙ ගැන කල්පනා වෙනවා."

ඔවුහු මරණය ගැනත්, ආත්මයේ අමරණීයත්වය ගැනත් කථා කළහ. සැබැවින් ම නැවතත් ජීවිතය ලැබී අඟහරු ලෝකයට හෝ අලස ප්‍රීතිමත් ජීවිතයකුත්, නිදහස් ආධ්‍යාත්මික ජීවිතයකුත් සඳහට ම ගෙන යා හැකි කිසියම් තැනකට හෝ පියෑඹීමට ඇත්නම් එය යහපත් දෙයක් වනු ඇත.

"මට නං තාම මැරෙන්න ඕන නෑ." යි යාර්තසෙෆ් සෙමෙන්

කීවේ ය. "මරණය පිළිගන්න දර්ශනයක් මට නෑ. මරණය ඔක්කෝම දේවල කෙළවර හැටියටයි මං හිතන්නෙ. මට ජීවත් වෙන්න ඕන."

"උඹ ජීවිතයට ආදරේ ද?"

"ඔව්, මම ආදරෙයි."

"මං ගැන කියනව නං උඹට කියන්න මට මාවම තේරුම් ගන්න බෑ. මම නිතරම ඉන්නෙ ලොකු කළකිරීමකින්. මහා උදාසීනත්වයකින්. මම බයයි. මා ගැන ම මට විශ්වාසයක් නෑ. මම බයගුල්ලෙක්. මගේ ජීවිතය මට ඕන හැටියට හැඩගස්සා ගන්න මට ශක්තියක් නෑ. මගේ ඉරණමේ ස්වාමියා වෙන්න මට ශක්තියක් නෑ. අනික් මිනිස්සු එක එකා එක්ක වල් පල් කථා කරල, නැත්නම් එක එකා රවටල සන්තෝෂ වෙනවා. නමුත් මගේ හෘද සාක්ෂියට එකඟ ව හොඳ දෙයක් කළත් මම ඉන්නේ අපහසුවෙන්. නැත්නම් උදාසීන කමින්. මං හිතන හැටියට මේ ඔක්කොම වෙලා තියෙන්නේ මම වහලෙක් හින්දා. දාසයෙකුගේ මුණුබුරෙක් හින්දා. අපේ මේ පහත් පැළැන්තියේ හුඟ දෙනෙක් නිදහස ලබා ගන්න කලින් විනාශ වෙලා යාවි."

"ඒ ඔක්කොම හොඳයි යාළුවා." යි කී යාර්ත්සෙෆ් සුසුම් ලෑවේ ය. "ඒකෙන් පේන්නෙ රුසියන් ජීවිතය ආයෙමත් කොයිතරම් සාරවත් ද, විවිධ ද කියන එකයි. අහෝ, කොතරම් සාරවත් ද, දවසින් දවස ම එන්න එන්න ම මට හැඟෙනවා මොකක් නමුත් මහා ජයග්‍රහණයක් කිට්ටුවෙන් ම තියෙන බව. ඒකෙ කොටස් කාරයෙක් වෙන්න මම කැමතියි. විශ්වාස කළත් නොකළත් පුදුම විදියේ පරම්පරාවක් දැන් වැඩීගෙන එනවා. මම ළමයින්ට උගන්වනකොට, විශේෂයෙන් ම පුංචි ගෑනු ළමයින්ට උගන්වන කොට මගේ හිත සන්තෝෂයෙන් පිරිල යනවා. පුදුම ළමයි!"

යාර්ත්සෙෆ් පියානාව ළඟට ගොස් ස්වර කීපයක් වාදනය කළේ ය.

"මම රසායන විද්‍යාඥයෙක්. මම හිතන්නේ රසායන විද්‍යාඥයෙක් හැටියට." ඔහු කියන්ට විය. "නමුත් මට තෘප්තියක් නෑ. මගෙ අදහස් සම්පූර්ණ වෙන්ඩ ඉස්සෙල්ලා මැරෙයි කියල මට බයයි. රසායන විද්‍යාව විතරක් මට මදි. මම ඉගෙන ගන්න ඕන රුසියන් ඉතිහාසය, කලාවෙ ඉතිහාසය, අධ්‍යාපන ශාස්ත්‍රය, සංගීතය.... ගිය ග්‍රීස්ම කාලෙදි උඹේ බිරිඳ මට යෝජනා කළා ඓතිහාසික නාට්‍යයක් ලියන්න කියල. දැන් මට හිතෙනවා, දවල් තුනකුයි, රෑ තුනකුයි තිස්සේ නැගිටින්නෙවත් නැතුව ඒක ලියන්න ඇහැකියි කියල. මගේ ඔළුව

අදහස්වලින් පිරිල. පිට වෙන්න ඔන්න මෙන්න කියලයි තියෙන්නෙ. ඒ අදහස් නලියනව වගේ මට තේරෙනව. සාමාන්‍ය මිනිසුන්ට වැඩිය විශේෂත්වයක් මා ළඟ නෑ. මම ශ්‍රේෂ්ඨ කෘතියක් නිර්මාණය කරන්න බලාපොරොත්තු වන්නේ නෑ. මට ඕන ජිවත් වෙන්න. සිහින දකින්න. බලාපොරොත්තු ඇති කරගන්න. මොකුත් අත නාරින්න.... හාදයා, ජීවිතය බොහොම කොටයි. අපි ඒකෙන් සම්පූර්ණ ප්‍රයෝජනය ගන්න ඕන."

මිතුරන් දෙදෙනාගේ කතා බහ රෑ දෙගොඩහරිය වෙන තෙක් පැවැත්වෙන්ට විය. ඉන් පසු ලාප්තෙෆ් හැමදාම යාර්ත්සෙෆ් හමුවන්ට යාමට පටන් ගත්තේ ය. ඔහු යාර්ත්සෙෆ් වෙතට ඇදුණේ කාන්දමක් මෙනි. ඔහු නිතරම පැමිණෙන්නේ සවස් කාලයේ ය. පැමිණ සෝපාවේ වැතිර යාර්ත්සෙෆ් එන තුරු ඉවසිල්ලෙන් බලා සිටී. කෑම කෑවාට පසු යාර්ත්සෙෆ් වැඩ කරන්ට වාඩි වෙයි. එහෙත් සුළු වේලාවකින් ලාප්තෙෆ් ඔහුගෙන් ප්‍රශ්නයක් අසයි. මෙයින් වැඩය අමතක වී කථාව ඇරඹේ. මිතුරන් දෙදෙනා එකිනෙකා ගැන බොහෝ සතුටු ව මැදියම් රැය වන විට වෙන් වෙති.

එහෙත් මෙය වැඩි කලක් පැවතුණේ නැත. දවසක් ලාප්තෙෆ්, යාර්ත්සෙෆ්ගේ නිවසට පැමිණෙන විට රස්සූදිනා පියානාව වාදනය කරමින් සිටියා ය.

"මට කරුණාකරල කියනවද මේක කවද්ද ඉවර වෙන්නේ කියල?" යි ඈ ද්වේශයෙන් ඔහු දෙස බලමින් ආචාර නොකොට ම කීවා ය.

"මොකක් ද ඒකෙ තේරුම?" යි කුමක් කටයුතු දැයි නොදනී ලාප්තෙෆ් ඇසුවේ ය.

"ඔයා හැමදාම මෙහෙ එනවා. යාර්තසෙෆ්ට වැඩ කරන්න දෙන්නෙ නෑ. යාර්ත්සෙෆ් මුදලාලි කෙනෙක් නොවෙයි. එයා විද්‍යාඥයෙක්. එයාගෙ ජීවිතේ හැම විනාඩියක්ම බොහොම වැදගත්. පොඩ්ඩක් මොළේ තියෙනවා නම් ඔයාට ඒක තේරෙන්න ඕනැ."

"මං අවහිර කරනවයි කියල ඔයා ඇත්තට ම හිතනවා නම්" ලාප්තෙෆ් පුදුම වෙමින් බයාදු ලෙස කීවේ ය. "මං ඒම නවත්තන්නම්."

"බොහොම හොඳයි. කරුණාකරල දැන් යන්න. එයා ඇවිල්ල හොයාවි."

ඈ මෙය කී ලීලාවත්, ඇගේ දෑසෙහි වූ උදාසීන බැල්මත් ඔහු තුළ ඇති කෙළේ එහෙම පිටින් ම අවුල් බවකි. තමා කෙරෙහි මඳ හැඟීමකුදු ඇයට නොමැති බවත්, ඇයට ඕනෑ කළේ තමා එළවා

ගැනීම පමණක් බවත්, ඔහුට තේරුම් ගියේ ය. ඉස්සර තිබුණේ කොයි තරම් වෙනසක් ද? ඔහු ගෙයින් පිට වූයේ ආපසු අඬ ගසාවි යන බලාපොරොත්තුවෙනි. එහෙත් ඈ එකෙණෙහි ම පියානාව වාදනය කිරීම ඇරඹුවා ය. ඔහු සෙමින් පාත මාලයට යද්දී තමා දූන්ම ඇයට අමුත්තකු වී සිටින්නාක් මෙන් ඔහුට දැනිණි.

දවස් තුනකට විතර පසු යාර්තසෙෆ් ඔහු සමඟ සවස් කාලය ගත කිරීමට පැමිණියේ ය.

"උඹට කියන්න තොරතුරු ටිකක් තියෙනවා." යි ඔහු කීවේ මඳක් සිනාසෙමිනි. "පොලීනා නිකොලායෙව්නා මා එක්ක ඉන්න ඇවිල්ලා." යි ඔහු පහත් හඬින් කියා ගෙන යමින් මඳක් කලබලව බැලුවේ ය. "හොඳා, ඇත්තෙන් ම අපි එකිනෙකාට ප්‍රේම කරන්නේ නෑ. නමුත් මම හිතන්නේ නෑ ඒක එතරම් දෙයක් කියල. ඇයට ඉන්න ගෙයක් දෙන්න පුළුවන් වීම ගැනයි, ඇය අසනීප වුණාම වැඩ නොකර ඉන්න කියන්න පුළුවන් වීම ගැනයි මම සතුටු වෙනවා. මා එක්ක හිටියොත් මගේ ජීවිතය හොඳින් ගත වේවි කියල ඈ හිතනවා. ඇගේ බලපෑම උඩ මම ශ්‍රේෂ්ට විද්‍යාඥයෙක් වෙයි කියලත් ඈ හිතනවා. ඔන්න ඕකයි ඈ හිතන්නේ. ඈ දිගටම එහෙම හිතපුවාවෙ. දකුණු දිසාවෙ මිනිස්සු කියනව වගේ මෝඩයෙකුට තමන් හිතන දේවල් බොහොම ඉහළයි. හෝ-හෝ-හෝ!"

ලාප්තෙෆ් කිසිවක් කීවේ නැත. යාර්ත්සෙෆ් තමා මීට පෙර කීප වතාවක් දැක ඇති පින්තූර දෙස බැලීමට මඳක් නතර ව සිට කාමරයේ ඔබ මොබ සක්මන් කරන්ට පටන් ගත්තේ ය.

"ඔව්, යාළුවා" යි ඔහු සුසුම්ලමින් කීවේ ය. "මම උඹට වැඩියෙ අවුරුදු තුනකට වැඩිමල්. නියම ප්‍රේමය ගැන හිතන්න දැනටම හුඟාක් පමා වෙලා. ඇත්ත වශයෙන් ම පොලීනා නිකොලායෙව්නා මට දෙයියො විසින් එවාපු ගැහැනියක්. මට එයා එක්ක හොඳ සම්පූර්ණ මහලු අවදියක් ප්‍රීතියෙන් ගත කරන්න පුළුවන්. නමුත් ඒ එක්කම මොකක් නමුත් වැරදුණු විත්තියත් මට තේරෙනවා. මාම හිතාගත්තු දෙයක් ගැන මට ලොකු ආසාවක් තියෙනවා. මිනිහෙක් තමන්ට තියෙන දෙයින් කවදාවත් සතුටු වෙන්නෙ නෑ."

ඉක්බිති ඔහු විසිත්ත කාමරයට ගොස් පෙම් ගී ගැයුවේ කිසිවක් සිදු නොවූවාක් මෙනි. ලාප්තෙෆ් කාමරයේ වාඩි වී දෑස පියා ගෙන, රස්සූදිනා යාර්ත්සෙෆ් සමඟ වාසයට ගියේ මන්දැයි යන්න තේරුම් ගැනීමට වෑයම් කළේ ය. ස්ථිර ප්‍රේම සම්බන්ධයක් නැතැයි සිතීම

ඔහුට දුකකි. පොලීනා නිකොලායෙව්නා යාර්ත්සෙෆ් සමඟ වාසයට යාම ගැනත්, තම බිරිඳට පෙරදී කළාක් මෙන් ප්‍රේම නොකිරීම ගැනත් තමාම කෙරෙහිත් ඔහු තුළ කෝපයක් හට ගත්තේ ය.

## XV

ලාප්තෙෆ් අත් පුටුවේ වාඩි වී එහාට මෙහාට පැද්දෙමින් කල්පනාකාරී ව පොතක් කියවමින් සිටියේ ය. යූලියා ද සිටියේ පොතක් කියවමිනි. ඔවුන් උදේ පටන් එකිනෙකා සමඟ වචනයක් දෙඩුවේ නැත. කථා කරන්ට තරම් දෙයක් නැතුවාක් මෙන් පෙනිණි. "ප්‍රේමය ඇතුව හෝ නැතිව හෝ විවාහ වීමේ ඇති වෙනස කුමක්ද" යි ඔහු වරින් වර පොතට උඩින් ඇය දෙස බලමින් සිතන්ට විය. ඊර්ෂ්‍යාවනුත් කාන්සාවෙනුත් දුකිනුත් සිටි දවස් බොහෝ කාලයකට පෙර සිදුවූවාක් මෙන් ඔහුට හැඟිණි. පිටරට සිට ආපසු ඇවිත් දැන් ඔහු විවේකී ව සිටියි. ඔහු එංගලන්තයට ප්‍රිය කෙළේ ය. වසන්ත සමයේ දී නැවතත් එහි යාමට ඔහු වැඩ කටයුතු පිළියෙල කළේ ය.

යූලියා සෙර්ගේයෙව්නා කෙමෙන් ශෝකයට පුරුදු වී සිටියා ය. ඈ දැන් නොවැලපෙයි. ඒ ශීත සෘතුවේ දී, ඈ ජේත්තුවට ඇඳ පැළඳගෙන සාප්පු යාමවත් රඟහල්වලට හෝ විවිධ ප්‍රසංගවලට යාමවත් කෙළේ නැත. විශාල කාමරවල සිටීම ප්‍රිය කළ බැවින් ඈ කාලය ගත කෙළේ තම සැමියාගේ කාමරයේ හෝ ඇගේ දෑවැද්දෙන් කොටසක් වන දේව රූපයත් ප්‍රදර්ශනයේ දී ඇගේ සිත් ගත් භූමි දර්ශන චිත්‍රයත් තබා ඇති කාමරයේ හෝ පමණි. පියා සමඟ වාසය කරද්දී වියදම් කළාට වඩා වැඩි මුදලක් ඈ වැය නොකරයි.

ඒ ඉතාමත් සිත් නොගන්නා ශීත සෘතුවකි. එම සෘතුවේ දී මොස්කව් නුවර හැම කෙනෙක් ම කරන්නේ කඩදාසි සෙල්ලම් කිරීම ය. ඔවුන් විනෝදවීමට පොත පත කියෙව්වත්, ගායනය කළත් එයින් ඇති කරනුයේ වඩාත් නීරස බවකි. ශූරකම් ඇති මිනිසුන් සුළු සංඛ්‍යාවක් මොස්කව් නුවර සිටි බැවිනුත්, සන්ධ්‍යාවන්ට එකම විදියේ ගායකයන්, නාට්‍යකරුවන් සහභාගී වන බැවිනුත් කලාවෙන් ලැබෙන ආස්වාදය බොහෝ දෙනෙක් තුළ නීරස බවක් හා වෙහෙසක් ඇති කරනවා මිස අන් කිසිවක් ඇති නොකරයි.

ඒ විතරක් නොව දවසින් දවස ලාප්තෙෆ්ලාට එක පිට එක දරදර ඇතිවන්ට විය. මහලු ෆියෝදර් ස්තෙපානිච්ගේ ඇස් පෙනීම

අඩු වුණේ ය. ඔහු ගබඩාවට යන්නේ නැත. ඔහු ඉක්මණින් ම අන්ධ වන බව ඔහුගෙ දොස්තරවරු කීහ. ෆියෝදර් ද කිසියම් හේතුවක් නිසා ගබඩාවට ගියේ නැත. ඔහු ගෙදරට වී මුළු කාලය ම ලියමින් ගත කරයි. පනවූරොෆ්ට වෙන නගරයකට මාරුවක් ලබා ගත හැකි විය. රාජ්‍ය මන්ත්‍රීවරයෙකුගේ තත්වයට උසස් කරනු ලැබූ ඔහු දැන් වසන්නේ 'දෙස්ද්‍රෙන්' හෝටලයේ ය. ඔහු හැමදා ම මුදල් ඉල්ලා ගැනීමට ලාප්තෙෆ් හමුවන්ට එයි. කිශ් විශ්ව විද්‍යාලයීය උපාධියක් ලබා ගෙන ඇත. ලාප්තෙෆ් රක්ෂාවක් සොයා දෙන තුරු ඔහු අගක් මුලක් නැති කථා කියමින් මුළු දවස ම ලාප්තෙෆ්ගේ ගෙදර ගත කරයි. මේ සියල්ල ලාප්තෙෆ් තුළ ඇති කළේ කෝපයකි, වෙහෙසකි. තම ජීවිතය කෙරෙහි අප්‍රියාවක් ඔහු තුළ ඇති විය.

ස්වාමියා හමුවන්ට කාන්තාවක් පැමිණ ඇති බව දැන්වීමට පියෝත්ර් ලාප්තෙෆ්ගේ කාමරයට ගොස් ඔහු අතට නම් පතක් දුන්නේ ය. එහි ජොසපිනා ඉයොසිව්නා මිලන් යන නම ලියා තිබිණි.

යූලියා සෙර්ගේයෙව්නා සෙමින් නැගිට කකුල් හිරි වැටීම නිසා මඳක් කොර ගසමින් ඉවතට ගියා ය. සම්පූර්ණයෙන් කළු ඇඳුමෙන් සැරසුණු කාන්තාවක් දොරකඩ පෙනීසිටියා ය. ඈ කෙට්ටු ය. ඇගේ සුදුමැලි මුහුණේ කළු ඇහි බැම් හොඳින් කැපී පෙනිණි.

"ලාප්තෙෆ් මහත්තයෝ මගේ පුංචි ඇයො බේරා ගන්න ඕන" ය ඈ අත් පපුවට තබා තද කොට ගනිමින් කීවා ය.

තද දෙන වළලු හා පුයර පැල්ලම් පුරුදු ඇතුවා සේ ලාප්තෙෆ්ට දැනිණි. ඒ වනාහි ඔහුගේ විවාහයට පෙර දී දවසක ඉතාමත් නොගැලපෙන විදියට ඔහු සමග දවල් කෑ ගත් ගෙදර ස්වාමිදුව ය. පනවූරොෆ්ගේ දෙවැනි බිරිඳ ය.

"මගෙ පුංචි ඇයො බේරාගන්න ඕනෑ" යි ඈ නැවතත් කීවා ය. ඇගේ මුහුණ ගැහෙන්ට විය. ඇගේ ඇස් රතුව තිබුණ බැවින් මුහුණේ මහළු හා ශෝකීජනක පෙනුමක් විය. "ඔයාට විතරමයි අපව බේරාගන්න පුළුවන් මගෙ තිබිච්ච සල්ලි ටිකත් මොස්කව් නුවරට එන්න වියදම් වුණා. මගේ දරුවො හාමතේ මැරිලා යාවි."

ඈ දණින් වැටෙන්න මෙන් ගියා ය. බියට පත් ලාප්තෙෆ් ඇගේ අතින් අල්ලා ගත්තේ ය.

"ඉඳගන්න, ඉඳගන්න." යි ඇය පුටුවක් ළඟට කැඳවාගෙන යමින් ඔහු කෙඳුරුවේ ය. "ඉඳගන්න."

"පාන් ටිකක් ගන්නවත් අපට සල්ලි නෑ."යි ඈ කීවා ය. "ග්‍රිගෝරි

නිකොලායෙව්ච් අලුත් රස්සාවක් හම්බවෙලා වෙන දිහාවකට ගිහිල්ලා. නමුත් මගේ දරුවන්වත්, මාවත් එක්කර ගෙන යන්න එයාට ඕන කමක් නෑ. ඔයා අපට තෑගි වශයෙන් එවාපු සල්ලිත් එයාගෙ එච්චටම වියදම් කරගන්නවා. අපි මොනවා කරන්න ද? මගේ අසරණ අවාසනාවන්ත දරුවො."

"ඔයා කණගාටු වෙන්නට එපා. මං ලිපිකරුවන්ට කියන්නම් ඔයාගෙ නමටම සල්ලි එවන්න කියල."

ඈ මහ හඬින් වැලපෙන්නට වූවා ය. එහෙත් මඳ වේලාවකින් ඈ සන්සුන් වූවා ය. බොහෝ කොට පුයර තැවරූ, රැවුල් ගස් ඇති ඇගේ මුහුණේ කඳුළු පාරවල් ගලා ගෙන යනවා ඔහු දුටුවේ ය.

"මහත්තයගෙ තෑගිවන්තකම කියල ඉවර කරන්න බෑ. අනේ අපේ රැකවල් දේව දූතයා වෙන්න. අපේ සිරි දෙව්දුව වෙන්න. මාව අතෑරලා දමලා යන්න එපැයි කියල ග්‍රිගෝරි නිකොලයිච්ට ඒත්තු ගන්වන්න ඕනෑ. මාවත් එක්කරගෙන යන්න කියල එයාට කියන්න. මං එයාට හුඟක් ආදරෙයි. එයා තමයි මගෙ එකම සැනසීම."

ලාප්තෙෆ් ඇයට රූබල් සියයක් දී පනවූරෆ් සමඟ කතා කරන බවට ද පොරොන්දු විය.

ඈ මහ හඬින් අඬාවි හෝ නැවත දණින් වැටේවි හෝ යන බියෙන් යුතුව ඔහු ඇය දොර ළඟට ඇරලුවේ ය.

ඈ ගිය පසු කිශ් පැමිණියේ ය. අනතුරු ව කොස්ත්‍යා කැමරාවක් රැගෙන ආවේ ය. දැන් ඔහු ඡායාරූප ගැනීමට ඇබ්බැහි වී සිටියි. දවසට කීප වතාවක් ඔහු ගෙදර සිටින සෑම කෙනෙකුගේ ම පින්තූර ගනියි. මෙම අලුත් විනෝද මාර්ගය ඔහුට මහත් කරදර ගෙන දීමට හේතු විය. එයින් ඔහුගේ බර පවා අඩු විය.

ෆියෝදර් පැමිණියේ තේ පානයට මඳකට කලිනි. ඔහු කාමරයේ මුල්ලක වාඩි වී පොතක් දිග ඇරගෙන එදෙස බොහෝ වේලාවක් බලා සිටින්ට විය. එහෙත් ඔහු කිසිත් කියෙව්වේ නැත. ඔහු තම මුහුණ රතු වන තෙක් ම තේ බොමින් එතැන බොහෝ වේලාවක් ප්‍රමාද වෙමින් සිටියේ ය. ඔහුගේ පැමිණීමෙන් ලාප්තෙෆ් තුළ ඇති වූයේ පීඩාවකි. ඔහුගේ නිහඬතාවෙන් පවා ලාප්තෙෆ් තුළ ඇති වූයේ අසතුටුදායක හැඟීමකි.

"රුසියාවේ අලුත් ලේඛකයෙක් පහළ වීම ගැන උඹ සතුටු වෙන්න පුළුවන්." ෆියෝදර් කීවේ ය. "විහිළුවක් නෙමෙයි අලෙක්සේයි මම ලිපියක් ලිව්වා. මං ඒක ගෙනාවා උඹට පෙන්නන්න. ඒක කියවල

උඹ ඒ ගැන මොනවද හිතන්නෙ කියල මට කියන්න ඕන. මට ඕනෑ උඹේ අවංක අදහස්."

ඔහු සාක්කුවෙන් අත් පොතක් ගෙන සොහොයුරාට දුන්නේ ය. ලිපියේ මාතෘකාව වූයේ 'රුසියානු ආධ්‍යාත්මය' යනුයි. ඒ වනාහි ලිවීමේ කුසලතාවක් නැති එහෙත් හිස උදුම්මා ගත්තවුන් විසින් භාවිත කරන නීරස බසින් ලියූ ලිපියකි. එහි ප්‍රධාන අදහස් වූයේ බුද්ධිමතෙකුට දෙවියන් විශ්වාස නොකිරීමට අයිතියක් තිබෙන බවත්, එහෙත් අනික් අය මුලාවේ හෙළීමට හෝ මිනිසුන්ගේ විශ්වාසය බිඳ හෙළීමට හෝ ඉඩ නොදෙනු පිණිස ඔහු තම අවිශ්වාසය එළියේ පළ නොකළ යුතු බවත්, විශ්වාසයෙන් තොරව උත්කෘෂ්ට අදහස් නොපැවතිය හැකි බවත්, යුරෝපය ගලවා ගෙන මනුෂ්‍ය වර්ගයා තියම මග ගෙන යාමට උපකාරී වන්නේ විඥානවාදය බවත් ය.

"නමුත් උඹ කියල නෑ යුරෝපය මොකෙන් ගලවා ගත යුතුද කියල." යි ලාප්තෙෆ් කීවේ ය.

"ඒක පැහැදිලියි නේ."

"ඒ විදියේ මොකුත් නෑ." යි කී ලාප්තෙෆ් නැගිට ඔබ මොබ සක්මන් කරන්ට විය. "උඹ මේ ලිපිය ලිව්වේ ඇයිද කියලවත් පැහැදිලි නෑ. කොහොම වුණත් ඒක උඹේ වැඩක්."

"මං ඉන්නෙ ඒක පොඩි පොතක් වශයෙන් ප්‍රසිද්ධ කරන්න."

"ඒක උඹේ වැඩක්."

ටික වේලාවක් කිසිවෙක් කථා කෙළේ නැත. "උඹයි මමයි එකම අදහස් නොදරන එක ගැන මම ඇතතටම බොහොම කණගාටු වෙනවා. අයියෝ අලෝෂා, අලෝෂා උඹයි මමයි දෙවියන්ට භය හොඳ හිත් ඇති රුසියන් කාරයෝ. ඔය යුදෙව්වන්ගෙයි ජර්මනුන්ගෙයි කුණුකන්දල් අදහස්වලින් අපට ඇති වැඩේ මොකක්ද? ඒ වුණත් උඹයි මමයි හොරු නොවෙයි. අපි හොඳ සැලකිය යුතු වෙළෙඳ පවුලකට අයිති උදවිය."

"මොන සැලකිය යුතු පවුලක් ද?". ලාප්තෙෆ් කෝපය මැඩ ගෙන එකට එක කීවේ ය. "සැලකිය යුතු පවුල, චිඃ මතක් කරන්න එපා. ඉඩම් හිමි රදළයෝ අපේ සීයට ගැහැව්වා. හැම කාලකණ්ණි සුළු නිලධාරියෙක් ම එයාගෙ මූණට කෙළ ගැහීම තමයි කළේ. සීයා ගැහැව්වා තාත්තාට. තාත්තා ගැහැව්වා උඹටයි, මටයි. ඔය සැලකිය යුතු පවුලෙන් මොනවද අපිට ලැබුණෙ ? කොහෙම ලෙයක් ද අපට උරුම වෙලා තියෙන්න ? උඹ හරියට පූජකයෙක් වගේ නොයෙක්

ජාති වල්පල් දොඩව දෙඩවා අවුරුදු තුනක් තිස්සේ ඇවිද්දා. දැන් උඹ මේක ලියලා.... මේ නිහීන දෙඩවිලි. ඉතින් මං කොහොම මිනිහෙක් ද? මා දිහා බලපන්.... මට ක්‍රියාශූරකමක් නෑ. දඟිරියක් නෑ. චරිත ශක්තියක් නෑ. කවුරුහරි ගහන්න ඒවි කියල මම හැම තිස්සෙම බයේ ඉන්නේ. ඕන සොක්කෙක් ඉදිරියේ - මානසික අතිනුයි, ගතිගුණ අතිනුයි මට වඩා පල්ලෙහැයින් ඉන්න ඌරෝ, මෝඩයෝ වගේ උන් ඉදිරියේ වුණත් මම බයෙන් වෙව්ලල යනවා. පාර අතුගාන උන්ට, කම්කරුවන්ට, පොලිස් කාරයන්ට මම බයයි. මම ඔක්කොටම බයයි. ඒ බය කරපු ගැහැනියකගෙන් මම ඉපදුණු හින්දයි. කුඩා කාලෙ ඉඳල මාව බය කරපු හින්දයි. නපුරු විදිහට සලකපු හින්දයි. උඹටයි මටයි දරුවන් නැති එක හොඳා. මම දෙවියන් ඉදිරියේ යාඥා කරනවා. මේ සැලකිය යුතු වෙළෙඳ පවුල අපෙන්ම ඉවර වෙන්න කියල."

යූලියා සෙර්ගේයෙව්නා කාමරයට පැමිණ මේසය ළඟ වාඩි වූවා ය.

"ඔයගොල්ල වාදයක් වගේ ?"යි ඈ කීවා ය. "මගේ ඒම බාධාවක් ද දන්නේ නෑ."

"නෑ, ඔයාගෙ පැමිණීම බාධාවක් නෙවෙයි." ෆියෝදර් පිළිතුරු දුන්නේ ය. "අපි මේ සාකච්ඡා කරන්නේ එක්තරා කරුණයක් ගැන. උඹ අපේ පවුලට නින්දා කරනවා." යි ඔහු සොහොයුරා දෙසට හැරෙමින් කියන්ට විය. "ඒ වුණත් මේ පවුල ලක්ෂ ගණනක් වටිනා වෙළඳ ආයතනයක් ගොඩ නංවල තියෙනවා. ඇත්තට ම ඒකෙ මොනවහරි වටිනාකමක් තියෙනවා."

"ලොකු දියුණුවක් - ලක්ෂ ගණනක වෙළඳාමක්! බුද්ධියක්වත්, ශූරකමක්වත් නැති මිනිහෙක් සාප්පු අයිතිකාරයෙක් වෙනවා. ඊට පස්සේ පොහොසත් වෙනවා. කිසිම ක්‍රමයක්වත්, අරමුණක්වත් නැතිව බඩු විකුණනවා. සල්ලි ගොඩ ගහන්න පවා ලෝබ කමක් නැතුව ඔහේ වෙළඳාම් කරගෙන යනවා. කිසි වෑයමක් නැතුව සල්ලි ගලාගෙන එනවා. ඉතින් එයා මුළු ජීවිතේම මේ වෙළඳාමට කැප කරනවා. වැඩකාරයන්ගෙන් ලොකු කමක් ලබා ගන්නයි, ගනුදෙනු කාරයන් රවටන්නයි ඕන හින්දා ඒකට ආසා කරනවා. පල්ලියේ ගීතිකා කියන අයට අණ දෙන්න පල්ලියේ නායකයෙක් වෙනවා. ගුරුවරයා තමන්ගෙ යටතෙ ඉන්නවයි කියන හැඟීම ලබා ගැනීමට පාසලේ අනුශාසකයෙක් වෙනවා. වෙළෙන්දා ආසා කරන්නෙ

වෙළඳාමට නොවෙයි. අනික් මිනිස්සු මඩින බලයට. ඕක හිර ගෙයක් මිස වෙළෙඳ ආයතනයක් නෙවෙයි. ඔව්, උඹලගෙ වෙළෙඳාමට ඕනෑ කරන්නේ බයගුලු ලිපිකරුවො කට්ටියක්. කුඩා කාලෙ ඉඳලම උඹල උන්ට පුරුදු කරනවා පාන් කෑල්ලක් වෙනුවෙන් වැඳ වැටෙන්න. උන්නෙ හිතවතා උඹලයි කියන කුඩා කාලේ ඉඳලම උගන්වනවා. විශ්ව විද්‍යාලයක උපාධිධරයෙක් උඹලෑ වෙළඳ ආයතනයෙ දමන්නෙ නෑ."

"අපේ වෙළඳාමට විශ්ව විද්‍යාල උපාධිධරයෝ සුදුසු නෑ."

"ඒක ඇත්ත නෙවෙයි!" ලාප්තෙෆ් කෑ ගැසුවේ ය. "ඒක බොරුවක්."

"සමාවෙන්න, මට පේන්නේ උඹ උඩ බලාගෙන කෙළ ගහගන්නව වගේ." යි කී ෆියෝදර් නැගිට්ටේ ය. "උඹ අපේ වෙළඳාමට නින්දා කරනවා. නමුත් තාම ඒකෙ ලාබෙන් ජීවත් වෙනවා."

"අහා, ඒක තමයි කාරණේ!" යි ලාප්තෙෆ් සාවඥව සිනාසෙමින් කීව් ය. ඔහුගේ දෑස කෝපයෙන් දිලිසිණි. "ඔව්, මම උඹේ ඔය වැදගත් පවුලට අයිති නැතත්ම්, මට තඹ සල්ලියක් වටිනා අධිෂ්ඨානයකුත් දහිරියකුත් තියෙනව නම්, ඔය ආදායම වීසි කරල දමල මා මා රක්ෂාවක් කරගෙන ජීවත් වෙන්න ගිහිල්ල හුඟාක් කල්. නමුත් උඹේ ඔය වෙළෙඳ ආයතනය මාව ගිලගෙන. මං උඹලගෙ ගැත්තෙක් වෙලා."

ෆියෝදර් තම ඔරලෝසුව දෙස බලා ආපසු යාමට කඩිනම් බවක් දැක්වී ය. ඔහු යූලියාගේ අත සිඹ බැහැරට ගියේ ය. එහෙත් ඔහු ශාලාවට යනවා වෙනුවට විසිත්ත කාමරයට ගොස් එතැනින් ගියේ නිදන කාමරයට ය.

"මට පාරත් වැරදිලා." ඔහු අසරණව කීවේ ය. "නාඳුනන ගෙයක්. මේක නාඳුනන ගෙයක් නේ ද?"

කබාය දමන විට ඔහු අන්දුන් කුන්දුන් වී සිටින්නාක් මෙන් පෙනිණි. ඔහුගේ මුහුණෙහි වේදනා සහගත පෙනුමක් විය. ලාප්තෙෆ්ගේ කෝපය අතුරුදහන් වී ගියේ ය. ඔහු තුළ භයක් ඇති විය. එකෙණෙහි ම ඔහු තුළ ෆියෝදර් කෙරෙහි ශෝකයක් ද ඇති විය. පසුගිය අවුරුදු තුන තුළ දී නැති වුණා සේ සිතූ තම සොහොයුරා කෙරෙහි වූ අවංක උණුසුම් ප්‍රේමය ඔහු තුළ යළි පැන නැංගේ ය. ඔහු තුළ ඇති වූයේ එම ප්‍රේමය කවර විදියකට හෝ පළ කිරීමේ මැඩ ගත නොහෙන ආශාවකි.

"ෆියෝදර්, හෙට දවල් කෑමට උඹ අපේ ගෙදර එන්න ඕන."යි ඔහු සොහොයුරාගේ උරය අතගාමින් කීවේ ය. "උඹ එනව ද?"

"ඔව්, ඔව්, මට වතුර ටිකක් දෙන්න."

ලාප්තෙෆ් කෑම කන කාමරයට දිව ගොස් පළමුවෙන් ම තම අතට අසුවුණු භාජනය - බීර බොන ලොකු වීදුරුවක් - ගෙන වතුර පුරවා සොහොයුරාට ගෙනැවිත් දුන්නේ ය. ෆියෝදර් පිපාසාවෙන් එය බොන්ට විය. එහෙත් හදිසියෙන් ම වීදුරුවේ ගැට්ට දත්වල වැදීමෙන් නැඟෙන හඬකුත් අනතුරුව ඉකි බිඳින හඬකුත් ඇසිණි. ඔහුගේ උඩු කබායේ වතුර ඉහිරුණේ ය. මීට පෙර කවදාවත් පිරිමියෙකු අඬනු නොදුටු ලාප්තෙෆ් බයෙන් හා ව්‍යාකූලත්වයෙන් සිට ගෙන සිටියේ ය. යූලියා ද මෙහෙකාරිය ද ෆියෝදර්ගේ කබාය ගලවා ඔහු විසිත්ත කාමරයට කැඳවාගෙන ගියහ. ලාප්තෙෆ් විපිළිසරව ඔවුන් අනුව ගියේ ය.

කච්චියේ ෆියෝදර්ට වැතිරීමට සැලැස්වූ යූලියා ඔහු පසෙකින් වාඩි වූවා ය.

"ඒක සුළු දෙයක්." ඈ කීවේ ඔහු සනසමිනි. "නහර ගැස්මක්...."

"මම හරිම කාලකණ්ණි මිනිහෙක්." ඔහු කීවේ ය. "මම හරි අසන්තෝසෙන් ඉන්නෙ.... නමුත් මම හැමදාම ඒක හංගගෙන හිටියෙ!"

ඔහු ඇගේ කර වටේ අත දමා ඇගේ කනට කර මෙසේ කොඳුරන්ට විය. "මට හැමදාම රෑට නීනා අක්කා ව හීනෙන් පේනවා. එයා ඇවිල්ල මගෙ ඇඳ ළඟ අත් පුටුවක වාඩි වෙලා ඉන්නවා...."

පැයකට විතර පසු ඔහු නැවතත් කබාය දමමින් සිටියේ ය. ඔහු දූන් සිනාසෙයි. මෙහෙකාරිය නිසා ඔහුට ලජ්ජාවක් ඇති විය. ලාප්තෙෆ් ඔහු ගෙදර ඇරලුවේ ය.

"හෙට දවල් කෑමට එන්නම ඕනෑ" යි පියත්නිත්ස්කයා වීදියේ ෆියෝදර්ගේ නිවසට යන ගමන් ඔහු කීවේ ය.

"පාස්කු නිවාඩුවට අපි දෙන්න එක්ක පිටරට යමු. උඹට දූන් වෙනසක් ඕනෑ. උඹ හොඳටම වෙහෙස වෙලා."

"ඔව්, ඔව්. අපි යමු. අපි යමු.... අපේ සහෝදරියත් එක්කරගෙන යමු."

ලාප්තෙෆ් ආපසු ගෙදර පැමිණෙන විට තම බිරිඳ බයෙන් කලබල වී සිටිනු දක්නට ලැබිණි. ෆියෝදර්ගේ නහර ගැස්ම ඇය තුළ බලවත් කම්පනයක් ඇති කිරීමට හේතු විය. ඈ ඇඬුවේ නැත. එහෙත් ඈ හොඳට ම සුදුමැලි වී ගොසිනි. ඈ බ්ලැන්කෙට්ටුවත් කොට්ටයත්

බදා ගෙන ඇඳේ ඒ මේ අත පෙරලෙමින් සැමියාගේ අත තම·සීතල ඇඟිලිවලින් දැඩි ව අල්ලා ගත්තා ය. ඇගේ නෙත් විශාල ය, බියෙන් යුතු ය.

"මාව දාල යන්න එපා. මාව දාල යන්න එපා." යි ඈ යදින්ට වූවා ය. "මට කියන්න අලෝෂා ඇයි මම යාඥා කිරීම නැවැත්තුවේ? මගෙ විශ්වාසයට මොකද වුණේ? අයියෝ, ඇයි ඔයා මා ඉදිරිපිට ආගම ගැන ඔච්චර කථා කරන්නෙ. ඔයයි, ඔයාගෙ යාලුවොයි මාව අවුල් කරලා. මම තවත් යාඥා කරන්නේ නෑ."

ඔහු ඇගේ නළල තෙත් කළේ ය. ඇගේ අත් රත් වන තුරු පිරිමැද්දේ ය. ඇයට තේ බොන්ට දුන්නේ ය. ඈ බියෙන් ඔහු බදාගෙන සිටියා ය. එළි වේගෙන එන යාමේ දී වෙහෙසට පත් ඇයට නින්ද ගියේ ය. ලාප්තෙෆ් ඇගේ අත අල්ලාගෙන ඇය පසෙකින් වාඩි විය. ඒ මුළු රෑ ම ඔහු නිදා ගත්තේ නැත. පහුවදා ඔහු ගත සිත දෙකට ම වෙහෙසක් දැනිණි. ඔහු ඉවක් බවක් නැතුව ගෙයි එහා මෙහා ඇවිද්දේ ය. ඔහු හැඟීමෙන් තොර වූවාක් මෙන් විය.

## XVI

ෆියෝදර් මානසික අසමතාවයකින් පෙළෙන බව දොස්තරවරු කියති. පියාත්නිත්ස්කයාහි කුමක් වන්නේ දැයි ලාප්තෙෆ් නොදත්තේ ය. තම පියාවත්, ෆියෝදර්වත් නොමැති අඳුරු බඩු ගබඩාව සොහොන් බිමක් මෙන් ඔහුට දැනිණි. බඩු ගබඩාවත් පියාත්නිත්ස්කයාහි නිවසත් බලන්ට යාමට බිරිඳ කී විට ඔහු ඇයට පිළිතුරු නොදෙයි. නැතහොත් තම ළමා කාලය ගැන නොරිස්සුම් ලෙස කියන්ට පටන් ගෙන, අතීතයේ කළ කී දේවල් ගැන පියාට සමාව දිය නොහැකි බවත්, පියත්නිත්ස්කයා නිවසත් බඩු ගබඩාවත් තමන් තුළ පිළිකුලක් ඇති කරන බවත් කියයි.

එක් ඉරිදාවක උදේ යූලියා, පියත්නිත්ස්කයා හි පිහිටි නිවසට ගියා ය. ඈ පළමුවෙන් පැමිණි දා දේව මෙහෙය පැවැත්වූ විසිත්ත කාමරයේ මහළු ෆියෝදර් ස්තෙපානිච් සිටිනු ඇයට හමු විය. ඔහු පරණ කැන්වස් කබායක් හැඳ, ටයි පටියක් නොපැළඳ, නොපෙනෙන දෑස් ඇසි පිය ගසමින් අත් පුටුවේ නොසැලී වාඩි වී සිටියේ ය.

"මේ, මම ලේලි" යි ඈ ඔහු දෙසට යමින් කීවා ය. "මං තාත්තාව බලන්න ආවා."

ඔහු අමාරුවෙන් හුස්ම ඉහළ පහළ ගන්ට විය. ඔහුගේ දුකත්, හුදෙකලා බවත් ගැන දුක් වී ඈ ඔහුගේ අත සිම්බා ය. හිස හා මුහුණ අත ගෑමෙන් මේ ඇය ම බව ඔහු හඳුනා ගත්තේ ය. ඔහු ඇය මතුයෙහි කරුසිය ලකුණු කෙළේ ය.

"පින් සිද්ද වෙච්චාවේ, පින් සිද්ද වෙච්චාවේ." යි ඔහු කීවේ ය. "මගෙ පෙනීම නැති වෙලා. මේ ළමය දන්නවද මට පේන්නෙ නෑ.... මට යන්තං පේනවා ජනේලයෙන් පිටතයි, ගින්දරයි. නමුත් මිනිසුන්වයි, බඩුබාහිරාදියයි පෙන්නේ නෑ. ඔව්, මම අන්ධ වෙන්න යනවා. පියෝද්ර් ලෙඩින්. තියෙන දේවල් බලා හදාගන්න කාත් කවුරුවත් නෑ. උන් වැරදි කළොත් කවුද උන්ට දඬුවම් කරන්නේ. වැඩ කරන උන් නොමඟ යාවි. පියෝද්ර්ට මක්කද වෙලා තියෙන්නෙ? සන්නියක් හැදිලා ද? මට මගේ ජීවිතේට ලෙඩක් දුකක් හැදිලා නෑ. කවදාවත් බේත් හේත් අරනුත් නෑ. ඔය වෙද්දු එක්ක කරන්න කියන්න දෙයක් මට තිබුණේ නෑ."

හැම විටම කරන පරිදි මහල්ලා මෙහිදී ද පුරසාරම් දොඩවන්ට විය. මේ අතර සේවකයා කෑම මේසය පිළියෙළ කළේ ය. නොයෙක් ජාති කෑම් බීම් මේසයෙහි තැබී ය. මොනවාදෝ බෝතල් දහයක් ගෙනෙන ලදී. ඒවායින් එකක් අයිෆල් කණුවේ ස්වරූපය ගත්තකි. සුවඳ නඟින ලොකු උණු බත් දීසියක් ද, මාළු ද මේසය කරා පැමිණියේ ය.

"දුවේ, උඹ මා එක්ක කෑම ටිකක් කන්න ඕන."යි මහල්ලා කීවේ ය.

ඈ ඔහු අතින් අල්ලාගෙන මේසය ළඟට එක් කරගෙන ගොස් ඔහුට වොඩ්කා ස්වල්පයක් වත් කර දුන්නා ය.

"මම හෙට ආයෙමත් එනවා."යි ඈ කියන්ට විය. "තාත්තගෙ මිණිපිරියන් දෙන්නා, සාෂයි, ලීදායි අඬගහගෙන එනවා. උන්නෙ සීයව බලන්න උන් ආසා වේවි."

"නෑ, උන්ව ගේන්න එපා. උන් අවජාතක දරුවො."

"තාත්තා ඇයි එහෙම කියන්නෙ? ඒ ළමයින්ගේ තාත්තයි අම්මයි කසාද බැඳල නේ."

"ඔව්, නමුත් මගේ අවසරයක් නැතුවයි බැඳල තියෙන්නෙ. මං උන්ට මගෙ ආශිර්වාදය දුන්නෙ නෑ. උන් එක්ක මට ඇති වැඩක් නැත උන්ට දෙයියන්නෙ පිහිටයි."

"එහෙම කියන්න හොඳ නෑ පියෝද්ර් ස්තෙපානිච්" කී යූලියා

සුසුම්ලෑවා ය.

"දරුවො දෙමාපියන්ට ගරු සරු දක්වන්නයි බය වෙන්නයි ඕන කියල බයිබලයෙ කියල තියෙනවා."

"නෑ, එහෙම නෙවෙයි. අපේ හතුරන්ට වුවත් සමාව දෙන්න කියල බයිබලයෙ තියෙන්නෙ."

"අපේ වගේ වෙළෙඳ ආයතනයක සමාව දෙන්න පුළුවන් කමක් නෑ. ඔක්කෝටම සමාව දෙන්න ගියොත් අවුරුදු තුනකින් බංකොලොත් වේවි."

"නමුත් වරදක් කරපු කෙනෙකුට පවා සමාව දෙන එක, කරුණාවන්ත වචනයක් කියන එක ඔය වෙළඳාමටයි, සල්ලිවලටයි වැඩියෙ බොහොම වැදගත්!"

යූලියා මහල්ලාගේ හිත මොළොක් කොට ඔහු තුළ අනුකම්පාවක් දුකක් මෙළවීමට සිතුවා ය. එහෙත් ඔහු ඈ කී දේවලට සවන් දුන්නේ වැඩිහිටියන් බිළිඳුන්ගේ දෙඩවිලිවලට සවන් දෙන්නාක් මෙනි.

"ෆියෝදර් ස්තෙපානිච්" යූලියා දැඩි ලෙස කීවා ය. "තාත්තා දන් වයසට ගිහිල්ලා. දෙවියන් වහන්සේ තාත්තව ඉක්මණින් අඬගහ ගනීවි. දෙයියො එහෙදි අහන්නේ වෙළඳාම් කෙරුවෙ කොහොමද, ආයතනයෙන් ලාබ ඉපැද්දුවෙ කොහොමද කියල නෙවෙයි. මිත්‍රයන්ට තැගිවන්ත වුණාද, නැද්ද. තමන්ට වැඩියෙ දුර්වල උදවියට තමන්ගේ සේවකයන්ට කරුණාවන්ත වුණා ද නැද්ද කියන එකයි?"

"මම හැමතිස්සෙම මගේ සේවකයින්ගෙ හිතවතෙක්. මං වගේ ස්වාමියෙක් හම්බු වීම ගැන උන් මට සදහටම පින් දෙන්න ඕන." යි මහළු මිනිසා කීවේ විශ්වාසයකින් යුතුව ය. එහෙත් යූලියා කථා කළ අවංක ලීලාව ඔහුගේ හිතට වැදුණේ ය. ඇය සතුටු කිරීමට ඔහු මෙසේ කියන්ට විය. "හා හොඳයි, එහෙනම් පුංචි කෙල්ලො දෙන්නව හෙට එක්කරගෙන ආවට කමක් නෑ. මං උන්ට මොනවහරි තෑගි බෝග ටිකකුත් ලෑස්ති කරන්නං."

මහල්ලා ඇඳ සිටියේ අපිරිසිදු අන්දමට ය. ඔහුගේ පපුවේ හා දණහිස්වල සුරුට්ටු අළු ඉහිරී තිබිණි. ඔහුගේ සපත්තු සුද්ද කර දීමට හෝ ඇඳුම් මැද දීමට හෝ කිසිවෙකු වෙහෙසෙන බවක් පෙනුණේ නැත. බත හරි හැටි උයා නොතිබිණි. කෑම මේසයේ රෙද්දෙන් සබන් ගඳක් එයි. සේවකයා බර අඩි තබමින් එහා මෙහා යයි. මහළු මිනිසාත් මුළු පියාත්තිත්ස්කයා නිවසත් පාළුවට හැර දමා තිබෙන්නාක් මෙනි. යූලියා තුළ තමා කෙරෙහිත්, තම සැමියා කෙරෙහිත් ලජ්ජාවක්

ඇති විය.

"මං වරද්දන්නෙ නැතුව හෙට එනවා."යි ඈ කීවා ය.

ඈ කාමරවලට ගොස් මහළු මිනිසාගේ ඇඳ පිළියෙල කිරීමටත්, දෙයියන්ගේ පහන දැල්වීමටත් සේවකයන්ට අණ කළා ය. ෆියෝදර් දිග ඇරුණු පොතක් දෙස හිස් බැල්මකින් බලා ගෙන වාඩි වී සිටියේ ය. යූලියා ඔහු සමඟ කථා කොට සේවකයන්ට ඔහුගේ කාමරය ශුද්ධ පවිත්‍ර කිරීමට කීවා ය. අනතුරුව ඈ ගියේ වෙළෙඳ සේවකයන්ගේ කාමරවලට ය. වෙළඳ සේවකයන් කෑම කන තැන වූ සාලයේ මැද පහත සීලිමට ගසා ඇත්තේ තීන්ත නොගෑ ලී මුක්කුවකි. බිත්තිය වසා ඇත්තේ ලාබ බිත්ති කඩදාසිවලිනි. කුස්සියේ ඉවත දමන කුණු රොඩුවලිනුත්, ඉඳුල්වලිනුත් දුර්ගන්ධයක් හමයි. ඒ ඉරු දිනයකි. සියලුම වෙළෙඳ සේවකයෝ තම ඇඳන් උඩ වාඩි වී දවල් කෑම බලාපොරොත්තුව සිටිති. ඈ ඇතුලු වූ විගස තම ඇඳන් මතින් පැන නැගිට්ට ඔවුහු සිරකරුවන් මෙන් බුම්මාගෙන ඇය දෙස බලා සිට ඈ ඇසූ ප්‍රශ්නවලට භය පක්ෂ ව පිළිතුරු දුන්නෝ ය.

"දෙයියන්ට ඔප්පු වෙච්චාවෙ. මෙතන හරියට අපිරිසිදුනේ" යි ඈ අත් එක් කරමින් කීවා ය. "මෙතන තදබද නැද්ද?"

"කියන්න වරදක් නෑ නෝන මහත්තයා." යි මකේයිචොප් කීවේ ය. "අපි නෝන මහත්තයට පින් දෙනවා. නෝනා මහත්තයට දේව පිහිට ලැබිච්චාවෙ."

"ජීවිතයේ සමානත්වයයි, පුද්ගලික බල කාමය යි." පොචත්කින් කෙටියෙන් දැක්වී ය.

"අපි යටහත් පහත් මිනිස්සු. අපේ තරාතිරමේ හැටියට තමයි මේ ඉන්නෙ." මකේයිචෙෆ් පැහැදිලි කිරීමට කඩිනම් විය.

ඈ වැඩ පුහුණුවන්නන්ගේ කාමර හා කුස්සිය බැලීමට ගියා ය. ගේ භාරකාරිය ද හමු වූවා ය. ඉක්බිති ඈ බැහැරට ගියේ තමා දුටු දේවල් ගැන මහත් අසතුටුදායක හැඟීමකිනි.

"අපි පුළුවන් තරම් ඉක්මණින් පියත්තිත්ස්කයාවලට යන්න ඕන." යි ඈ ගෙදර පැමිණි විට සැමියාට කීවා ය. "ඔයා බඩු ගබඩාවට හැමදාම යන්න ඕන."

ඔවුහු කතාවක් බහක් නැතිව බොහෝ වේලාවක් කාමරයේ වාඩි වී සිටියහ. ඔහුගේ හදවත බර වූවාක් මෙන් විය. පියාත්තිත්ස්කයාහි පිහිටි නිවසට හෝ බඩු ගබඩාවට හෝ යාමට කැමැත්තක් ඔහු තුළ නැත. එහෙත් තම බිරිඳගේ සිතෙහි පවතින

අදහස ඔහු අනුමාන කළේ ය. ඇයට විරුද්ධව යාමට ඔහුට ශක්තියක් නැත.

"අපේ ජීවිතය හමාර වෙලා අර්ධ නීරස ජීවිතයක් පටන් ගන්නව වගේ මට දැනෙනව." යි ඔහු ඇගේ කම්මුල අත ගාමින් කීවේ ය.

"ෆියෝදර්ගෙ අසනීපෙ බරපතලයි කියල දැනගත්තාම මම ඇඬුවා. කොළු කාලෙයි, තරුණ කාලෙයි අපි දෙන්න හිටියෙ එකට. මම එක් කාලයක් එයාට හුඟක් ආදරය කළා. දැන් මේ භයානක අවසානය ඇවිල්ලා. සදහටම අතීතයෙන් ඈත් වෙනව වගේ මට දැනෙනවා. ඉතින් දැන් ඔයා අර පියත්නිත්ස්කයා නිවසට - අර හිර ගෙට - යන්න ඕනයි කීවාම දැනෙන්ට වුණා මට අනාගතයක් නෑ කියල."

ඔහු නැගිට ජනේලය ළඟට ගියේ ය.

"ඔව්, ප්‍රීතිය පිළිබඳ අදහස් ඔක්කෝම සදහටම තුරන් කරලා දමන්න ඕන." යි ඔහු වීදිය දෙස බලාගෙන කියන්ට විය. "එහෙම දෙයක් මම කවදාවත් දැන හිටියේ නෑ. එහෙම එකක් තියෙනවද කියලත් මට සැකයි. මගෙ ජීවිතයෙදි එකෝම එක වතාවකදී මම ප්‍රීතියෙන් හිටියා. ඒ ඔයාගෙ කුඩේ ඉහළගෙන හිටපු දා රෑ. ඔයාට මතකද නීනා අක්කලයි ගෙදර අමතක වෙලා ගිය කුඩේ." යි ඔහු බිරිඳ දෙසට හැරෙමින් ඇසුවේ ය. "මම ඒ කාලෙ ඔයා එක්ක ප්‍රේමයෙන් හිටියා. සම්පූර්ණ ප්‍රීති ප්‍රමෝදයෙන් මුළු රෑ ම කුඩේ යට ඉඳගෙන හිටි හැටි මම මතකයි."

ඔහුගේ පොත් අල්මාරියේ පොත් රාක්කය පසෙක වූ, බුරුත ලීයෙන් හා ලෝහයෙන් නිමැවූ අල්මාරියේ තැබූ සුන්බුන් අතර කුඩයද තිබුණේ ය. ඔහු එය එළියට ගෙන බිරිඳට දුන්නේ ය.

"ඒක මේ තියෙන්නෙ" යි ඔහු කීවේ ය. විනාඩියක් ඒ දෙස බලා සිටි යූලියා එය හැඳිනගෙන ශෝකී මඳ සිනාවක් පෑවා ය.

"ඔව්, දැන් මට මතකයි." ඈ කීවා ය. ඔයා මට විවාහ යෝජනා කරන වෙලාවෙ අතේ තියාගෙන හිටියා.

ඔහු කාමරයෙන් පිටවෙන්ට සැරසෙනු දුටු ඈ "අනේ, ටිකක් වේලපහින් ගෙදර එන්න. මට ඔයා නැතුව හරි පාළුයි." කීවා ය.

තම කාමරයට ගියා ඈ බොහෝ වේලාවක් කුඩය දෙස බලාගෙන සිටියා ය.

# XVII

ඔවුන්ගේ වෙළඳ ව්‍යාපාරය විශාල වූත්, දුෂ්කර වූත් කාරියක් වුව ද ඔවුහු ගණන් තබන්නෙකු තබා නොගත්හ. ලිපිකරුවකු විසින් ගණන් තබන ලද්දේ ඉතාමත් අවුල් සහගත මෝඩ විදියට ය. දිනපතා බඩු ගබඩාවට පැමිණි ජර්මන් සහ ඉංග්‍රීසි වෙළඳ ඒජන්තවරු වෙළෙඳ සේවකයන් සමග දේශපාලනය ගැනත් ආගම ගැනත් සාකච්ඡා කරති. ගබඩාවට නිතර පැමිණෙන අනික් තැනැත්තා වනාහි රෝගී, කාලකණ්ණි පෙනුමක් ඇති ඉහළ පැළැන්තියට අයත් බේබද්දෙකි. ඔහුගේ කාරිය විදේශවලින් එන ලිය කියවිලි අනුවාදය කිරීම ය. ඔහුට ඔල්මාද කාරයා යි කියන වෙළඳ සේවකයෝ ඔහුගේ තේ වීදුරුවට ලුණු දමති. මුළු වෙළඳ ආයතනයම විහිළුවක් මෙන් ලාප්තෙෆ්ට පෙනිණි.

දැන් ඔහු හැමදාම ගබඩාවට යයි. ගොස් යම් යම් දේ වෙනස් කිරීමට මහත් වෑයමක් කරයි. වැඩ පුහුණුවන්නන්ට ගුටි බැට දීමත්, ගනුදෙනුකාරයන් රැවටීමත් ඔහු විසින් නතර කරන ලදී. විකුණන්ට බැරි පරණ බඩු වගයක් ඉතාමත් අලුත් ඒවා යයි එක්තරා ගම්බද ගනුදෙනු කාරයෙකුට, වෙළෙඳ සේවකයන් විසින් විකුණා ඔහුව රවටන ලද බව අසු වූ විට ලාප්තෙෆ් මහත් කෝපයෙන් ඔවුන්ට බැණ වැදුණේ ය. දැනට බඩු ගබඩාව බාර ව කටයුතු කරන්නේ ඔහු වුව ද, එහි ධන ප්‍රමාණය කෙතෙක් ද, වෙළෙඳාම දියුණු වන්නේ ද, ජ්‍යෙෂ්ඨ වෙළඳ සේවකයන්ගේ වැටුප් කොපමණ ද, යනාදී කිසිවක් නොදනී. පොචත්කින් හා මකේයිචෙෆ ඔහු ගැන සිතන්නේ ඔහු, ළාබාල පළපුරුද්දක් නැති, වෙළෙඳ සැලේ රහස් කීමට තරම් නුසුදුසු අයෙකු ලෙසිනි. එම නිසා ඔවුහු සෑම සවසක ම මහළු අන්ධ ස්වාමියා සමඟ කොඳුරමින් සාකච්ඡා කරති.

ජුනි මාසයේ මුල් භාගයේ එක් දවසක ලාප්තෙෆ් පොචත්කින් කැටුව දවල් කෑමටත්, වෙළඳ කටයුතු ගැන කථා බහ කිරීමටත් බුබ්නොෆ්ගේ ආපනශාලාවට ගියේ ය. පොචත්කින් වයස අටේ සිට ලාප්තෙෆ් වෙළඳ ආයතනයේ වැඩ කරන්නෙකි. පවුලේ ම අයෙකු ලෙස සලකමින් ඔවුහු ඔහු කෙරෙහි විශ්වාසය තබති. ඔහු බැහැරට යන්නේ ගබඩාවේ දී ඒ වන තෙක් එකතු වී ඇති මුදල් සාක්කුවේ දමා ගෙන ය. බඩු ගබඩාවේත් නිවසේත් පල්ලියේත් ප්‍රධානියා ඔහු ය. ඔහු මහළු මිනිසාගේ තැන ගනිමින් කටයුතු සියල්ල සපුරාලයි. වැඩ පුහුණු වන අයට ඉතාමත් කෲර අන්දමට සලකන නිසා ඔහුට

මලියුතා ස්කුරතොෆ් යන නම පට බැඳ ඇත්තේ ය.

අවන්හලට පිවිසුණු විට ඔහු සේවකයෙකුට මෙසේ කීවේ ය. "කරදර විසි හතරකුයි, තිදන් බාගයකුයි ගෙනෙන්."

මඳ වේලාවකට පසු වේටර් වොඩ්කා බාගයකුත්, හීල් කැවිලි පිඟන් කීපයකුත් බන්දේසියක් මත තබා ගෙනාවේ ය.

"හාදයා, මේ බලනවා."යි පොවත්කින් වේටරට කීවේ ය. "තවත් අවලාදයට හේතුව අර්තාපල් සහිතව ගෙනෙන්."

වේටර විමතියෙන් ඔහු දෙස බැලුවේ ය. වේටර යමක් කියන්ට පටන් ගත්විට පොවත්කින් ඔහු දෙස රවා බලා 'ඇරත්' කීවේ ය.

මොහොතක් බැරෑරුම් ලෙස සිතූ වේටර තම සගයන්ගෙන් උපදෙස් ගැනීමට ගොස් අවසානයේ දී ගැටළුව විසඳාගෙන බැදපු හරක් දිවක් ගෙනාවේ ය.

"මේ බලනවා."යි ඔවුන් දෙදෙනා වොඩ්කා වීදුරු දෙකක් බී කට ගැස්මක් කෑ පසු ලාප්තෙෆ් කීවේ ය. "පහුගිය අවුරුදු කීපයේ ඉඳලා අපේ වෙළඳාම අඩු වේගෙන යනවයි කියන එක ඇත්ත ද?"

"එහෙම එකක් නෑ. එහෙම එකක් නෑ."

"කරුණාකරල මට අවංකව කියනවා කොච්චර ආදායමක් එනවද, කොච්චර අරමුදලක් දැනට තියෙනවද කියල. අපට අන්ධකාරෙ අත පත ගගා යන්න බෑ. මම බොහොම ළඟදී ගබඩාවේ ගණන් හිලව් බැලුවා. මට කියන්න කණගාටුයි ඒවා විශ්වාස කරන්න මට බෑ. මොනව හරි හින්ද උඹල හිතනව මගෙන් ඇත්ත වසන් කරල තාත්තට විතරක් ඇත්ත කියන්න ඕන කියල. මේක උඹ කුඩා කාලෙ ඉඳලම තිබිච්ච ප්‍රතිපත්තියක්. ඒක නැතුව උඹට බෑ. නමුත් දැන් ඒක අතාරින්න ඕන කාලෙ. කරුණාකරල මට ඇත්ත කියන්න. අපේ ගණන් හිලව්වල තත්වය කොහොම ද?"

"ඒවා ඔක්කොම තියෙන්නෙ ණය ගනුදෙනු උඩ."යි පොවත්කින් මොහොතක් සිතා පිළිතුරු දුන්නේ ය.

"ණය ගනුදෙනු උඩ කියන එකේ තේරුම මොකක් ද?"

පොවත්කින් එය පැහැදිලි කරන්නට විය. එහෙත් ලාප්තෙෆ්ට එය තේරුම් ගත නොහැකි විය. ඔහු මකේයිචෙෆ්ට එන්ට කියා පණිවිඩයක් හැරියේ ය. මකේයිචෙෆ් පැමිණියෙ කඩිනමිනි. ඔහු කිසිවක් කා කෑමෙන් පසු කියන යාඥාව කීමෙන් අනතුරුව මෙවැනි හිතවත් ස්වාමිවරුන් සිටීම ගැන ලිපිකරුවන් රෑ දවල් දෙවියන්ට ස්තෝත්‍ර පැවැත්විය යුතු බව ගැඹුරු හඬකින් කීවේ ය.

"ඒක බොහොම හොඳයි. නමුත් මාව උඹේ හිතවතෙක් හැටියට සලකන්න එපා." යි ලාප්තෙෆ් කීවේ ය.

"හැම මනුස්සයෙක් ම සිහියෙ තියාගන්න ඕන තමුන් ඉන්නෙ කොහෙද කියල. දෙවියන්ට ස්තෝත්‍ර වෙන්න තමුන්නාන්සේ අපේ පියෙක්. හිතවතෙක්. අපි තමුන්නාස්සෙගෙ වහල්ලු."

"මේ බලාපන්. මට ඕවා එපා වෙලා!"යි ලාප්තෙෆ් කෝපයෙන් කෑ ගැසුවේ ය. "බාගදා උඹ මගෙ හිතවතෙක් වෙන්න පුළුවන්. අපේ ව්‍යාපාරයේ තොරතුරු මට කියාපන්. මට ළමයෙකුට වගේ සලකන එක උඹ නතර නොකළොත් බඩු ගබඩාව මම හෙටම වහලා දානවා. තාත්තගෙ ඇස් පේන්නෙ නෑ. මල්ලි පිස්සන් කොටුවෙ. නැනලා තාම බාල වයසෙ. මං මේ වෙළඳාම පිළිකුල් කරනවා. මම ඉන්නෙ ඒක අතෑරලා දමන්න, සන්තෝසෙන්. නමුත් උඹලත් දන්න හැටියට මගෙ තැන ගන්න කෙනෙක් නෑ. ඒක හින්දා දෙයියන්ගෙ නාමෙට උඹලගෙ ඔය මොට්ට ප්‍රතිපත්ති නවත්තපල්ලා!"

ඔවුහු බඩු ගබඩාවට ගොස් ගණන් හිලව් බැලීම ඇරඹූහ. සවස් කාලයේ දී මහල්ලාගේත් උදවු ඇතිව ගෙදරදී ගණන් බලන ලදී. ඔහු වෙළඳ රහස් තම පුතාට කී සැටියෙන් එය වෙළෙඳාමක් නොව හූනියමක් මෙන් කෙනෙකුට වැටහෙනු ඇත. වාර්ෂික ආදායම දහයෙන් එකකට කිට්ටු වෙන තරම් වැඩි වී ඇති බව අනාවරණය විය. මුදලිනුත්, බඩුවලිනුත් ලාප්තෙෆ්ට අයිති ධනය රූබල් හැට ලක්ෂයක් විය.

මැදියම් රැයට පසුව, සිහිල් වාතය ආස්වාස කරනු පිණිස ලාප්තෙෆ් එළිමහනට ගියේ ය. ඔහු ඉලක්කම්වලින් තවමත් වශී වී සිටී. ඒ බෙහෙවින් තිසල සුළඟින් තොර, සඳ පහනැති රැයකි. මොස්කව් නුවර සුදු බිත්තිත්, අගුළු දැමූ දොරටුත්, නිහඬතාවත්, අඳුරු සෙවනැලිත්, බලකොටුවක පවතින හැඟීමක් ඇති කළේ ය. එහෙත් තුවක්කුව සහිත මුර සෙබලා පමණක් නැත. ලාප්තෙෆ් උයනට ගියේ ය. ගොස් අල්ලපු වත්ත වෙන් කොට ඇති වැට ළඟ වූ බංකුවක් මත වාඩි විය. චෙරි ගසේ මල් පිපිලා. මෙම ගස ළමා කාලයේ සිට ම ලාප්තෙෆ්ට මතක ය. එවකට මේ ගස තිබුණේත්, මෙලෙසම ය. එහි වූ ගැට තවම එසේ ය. තවම අඟලක්වත් උස ගිහින් නැත. වත්ත සහ උයනේ හැම මුල්ලක ම ඔහුට ඈත අතීතිය පිළිබඳ සිතිවිලි සිහි ගන්වයි. දුරින් දුර පිහිටි ගස් අතරින්, සඳ රැසින් නෑවෙන වත්තත්, ගුප්ත අඳුරු සෙවනැලිත් එවක දී මෙන් ම දිනුදු පෙනේ. වත්ත

මැද්දේ කළු බල්ලෙක් වැතිර සිටියි. වෙළඳ සේවක නිවාසයේ ජනේල ඇර දමා ඇත. ඉතින් මේ කිසිවක් ඔහු තුළ සතුටක් ඇති නොකරයි.

අල්ලපු වත්තේ කිසිවකු ඇවිදින සිහින් හඬ ඔහුට ඇසේ.

"මගෙ රත්තරනෙ, මගෙ රත්තරනෙ" යනුවෙන් කොඳුරන පිරිමි කටහඬක් වැට දෙසින් ඇසැණි. ලාප්තෙෆ් කොතරම් කිට්ටුව සිටියේ ද යත් ඔවුන් හුස්ම හෙලන නඟන හඬ පවා ඇසේ. අනතුරු ව ඇසුණේ ඔවුන් එකිනෙකා සිපගන්නා හඬ ය.

වෙළඳ ආයතනයේ රූබල් ලක්ෂ ගණන ගැන ඔහුට සැකයක් නොමැත. වෙළඳාම තම ජීවිතය නාස්ති කරනු ඇතැයි සිතූ ඔහු ඊට වෛර කෙළේ ය. එය ඔහු මුළුමනින්ම වහලෙකු බවට පත් කළේ ය. මේ වෙළෙඳ ආයතනයේ ප්‍රධානියා වන තමා කෙමෙන් මහලු වී ජරාවට පත් ව, අන්තිමේ දී වැදගැම්මකට නැති සියලුම මීතියුන් මිය යන්නාක් මෙන්, කාලකණ්ණි ලෙස, ශෝකජනක ලෙස තමා අවට වූ සෑම දෙයකට ම බරක් ව මියෙන සැටි ඔහුට ටිකින් ටික අවබෝධ විය. එහෙත් වෙළඳ ආයතනය අත් හැර දැමීම වළක්වන බාල කල පටන් ම මහත් පිළිකුලක් වූ මේ වත්තෙනුත් උයනෙනුත් පැන යාම වළක්වන බලවේගය කුමක් ද?

වැට පිටුපසින් ඇසෙන කොඳුරන හඬත්, සිඹීම් හඬත් ඔහු තුළ ඇති කෙළේ කලබල ගතියකි. ඔහු වත්ත මැදට ගොස් කමිස කරේ බොත්තම් ගලවා සඳ දෙස බලා සිටගෙන සිටියේ ය. තව මොහොතකින් ඔහු දොරටුව ඇරීමට අණ කොට මේ වත්තෙන් පිට ව ගොස් නැවත කවදාවත් ආපසු නොපැමිණෙනු ඇත. නිදහස පිළිබඳ හැඟීමෙන් ඔහුගේ හද උතුරා යයි. තමා සිතෙන් මවා ගත් ජීවිතය කොතරම් ශ්‍රේෂ්ඨ, අද්භූත, බාගදා ධර්මිෂ්ඨ ජීවිතයක් පවා විය හැකි යැයි සිතූ ඔහු මහ හඬින් සිනාසෙන්ට විය....

එහෙත් ඔහු සිටගෙන සිටි තැනින් සෙලවුනේ නැත. "මං මෙතන තබා ගෙන සිටින බලවේගය කුමක් ද?" ඔහු තමන්ගෙන් ම ඇසුවේ ය. ඔහුට තමා කෙරෙහිත්, ප්‍රීතිය හා නිදහස ඇතිව දුව පැන සතුටු විය හැකි වුව ද, වන රොදින් ඇත් ව, ගලක් මත වැතිරී සිටින කලු බල්ලා කෙරෙහිත් පිළිකුලක් ඇති විය. ඔහුත් බල්ලාත් මෙතැනින් ඉවතට නොයන්නේ එකම හේතුවක් නිසා බව පැහැදිලි ය. වහල් බවත්, ගැති බවත් ඇබ්බැහි කමක් වී තිබෙන බැවිනි....

පහුවදා දවල් ඔහු යාර්ත්සෙෆ් සමඟ ඔවුන් ග්‍රීෂ්ම සෘතුව ගත කරන බුතොවො නම් ස්ථානයට ගියේ ය. ඔහු දින පහකින් තම බිරිඳ

දුටුවේ නැත. ඔවුන් දුම්රිය පොළේ සිට ගියේ කුලී රියක ය. යාර්ත්සෙෆ් ගමන යන තෙක් ම කළේ ගී ගැයීමත් කදිම කාලගුණය පැසසීමත් ය. ගෙය විශාල උයනක පිහිටා තිබිණි. මහ මග පටන් ගන්නා දොරටුව ළඟ පිහිටි අතු පතර විහිදුණු පරණ පොප්ලර් ගසක් යටදී යූලියා සෙර්ගේයෙව්නා ඔවුන්ට හමු විය. ඈ, ළා කහපාට රේන්ද පටියක් ඇල්ලූ ග්‍රීෂ්ම සෘතුවට අදින ලස්සන ගවුමක් ඇඳ සිටියා ය. ඇගේ පරණ ඉතා පුරුදු කුඩය ඇය අතෙහි විය. යාර්ත්සෙෆ් ඔවුනට ආචාර කොට, සාෂා හා ලීදා හඬ නගන ගේ දෙසට හෙමි හෙමින් ගියේ ය. ලාප්තෙෆ් බිරිඳ හා කතා බහ කිරීමට වාඩි විය.

"ඔයා මෙච්චර දවස කොහෙද හිටියෙ?"යි ඈ ඔහුගේ අත අල්ලාගෙන ඇසුවා ය. "මම හැමදාම ඔයා බල බලා හිටියෙ. ඔයා නැතුව මට හරි පාළුයි!"

ඈ නැගිට ඔහුගේ මුහුණ, දෙවුර, හා තොප්පිය දෙස ද ඕනෑකමින් බලමින් ඔහුගේ හිසකෙස් පිරිමදින්නට වූවා ය.

"ඔයා දන්නව ද?"යි ඈ තෙපළා ය. "මම ඔයාට ප්‍රේම කරනවා." ඈ රතු වූවා ය. "ඔයා මට හුඟාක් කරුණාවන්තයි. දැන් ඔයා ඇවිල්ල ඉන්නවා. මට හරි සන්තෝසයි. අපි ටිකක් කථා කරමු. ඉතින් මට මොනවහරි කියන්න."

තමාට ප්‍රේම කරනවා යන ඇගේ කියමන ඔහුට ඇසුණු විට විවාහ වී අවුරුදු දහයක් ගෙවී ඇත්තාක් මෙන් ඔහුට දැනිණි. ඔහුට බඩගින්නක් දැනුණේ ය. ඈ තම අත් ඔහු ගෙල වටා දමා ගත්තා ය. ඇගේ ඇඳුමේ සිනිඳු බවින් ඔහුගේ කම්මුල කිති කැවිණි. ඔහු සෙමින් ඇගෙන් මිදී නැගිට, පටු මඟ දිගේ ගේ දෙසට යන්ට විය. කුඩා ගැනු ළමෝ ඔහු හමුවට දිව ආහ.

"උන් වැඩිල තියෙන හැටි!" යි ඔහු සිතුවේ ය. "මේ අවුරුදු තුනේ දී කොච්චර වෙනස්කම් ඇති වෙලා ද? කෙනෙක් තව අවුරුදු දහතුනක් හෝ අවුරුදු තිහක් හෝ ජීවත් වනු ඇත. එතකොට තව මොන මොනවා වේදැයි කාට කිව හැකි ද? හොඳයි, අපි ඉඳල බලමු."

තම කරේ එල්ලුණු සාෂා හා ලීදා ඔහු තුරුළු කරගත්තේ ය.

"සීයා ඔයාලට ආදරෙයි කියල දන්වල තියෙනවා" යි ඔහු කීවේ ය. "ෆියෝදර් මාමා මරණාසන්නව. ඇමරිකාවෙ ඉන්න කෝස්ත්යා මාමගෙන් මට ලියමනක් හම්බ වුණා. එයා ඔයගොල්ලන්ට සුබ පතල තියෙනවා. ප්‍රදර්ශන බලල බලල එයාට එපා වෙලාලු. ඉක්මණින් ම ගෙදර එනවයි කියලත් තියෙනවා. ඉතින්, දැන් අලෙක්සේයි මාමට

බඩගිනියි."

ඉන් පසු සමතලා බිමෙහි ඔහු වාඩි විය. තම බිරිඳ පටු පාර දිගේ හෙමින් හෙමින් ගේ දෙසට එනවා ඔහු දුටුවේ ය. ඈ ව්‍යාකූලව සිටින්නාක් මෙනුත්, ඇගේ පියකරු මුහුණ සොවින් බර වූවාක් මෙනුත් පෙනිණි. ඇගේ දෑසෙහි කඳුළු පිරී තිබිණ. ඈ තව දුරටත්, කෙට්ටු, සුකුමාර සුදුමැලි මුහුණක් ඇති කෙල්ලක් මෙන් නොව මුහුකුරා ගිය, ශක්ති සම්පන්න සුන්දර කාන්තාවක් මෙනි. තම ජීවිතයේ පළමුවෙනි වතාවට දුටුවාක් මෙන් ඇගෙන් පළ වුණු නව සුන්දරත්වය ඔහු දුටුවේ ය. ඔවුන් සමතලා බිමේ වාඩි වී දවල් කෑම ගන්නා විට, යූලියාගේ පියකරු ගෙල දෙස බලා සිටි යාර්ත්සෙෆ් ගේ මුව'ග ප්‍රීතියෙන් ප්‍රමුදිත, ලජ්ජා සහගත මඳ සිනාවක් රැඳී පැවතිණි. ලාප්තෙෆ්ට ද ඔහු දෙස නොබලා සිටිය නොහැකි විය. ඉදිරියට ඇති තව අවුරුදු දහ තුන හෝ තිහ හෝ ගැන ඔහු සිතන්ට විය. ඒ කාලය තුළ බොහෝ දේ සිදු විය හැකි ය. අනාගතයේ කුමක් වෙත්දැයි කවුරු දනිත් ද?

"අපි ඉඳල බලමු." යි ඔහු සිතුවේ ය.

එහෙත් මානුෂික සබඳතාවන් පිළිබඳ අවංක සැබෑ ඔවුන්ගේ ශෝකය, පැහැදිලි දුක්බර ලීලාවක් ඇති කරන ආධ්‍යාත්මික සුන්දරත්වයක් හා පරිශුද්ධතාවක් විශ්මය ජනක ලෙස ගෙන දෙයි. අන්‍යෝන්‍ය ගෞරවය, නිදහස් වාසනාවත් ප්‍රේමය, "ජීවිතයේ අවස්ථාවන්ගෙන්" පරාජය නොවීම මනුෂ්‍යයාට අත්‍යවශ්‍ය වීමේ කතුවරයාගේ දැඩි විශ්වාසය මේ පොතෙන් පළවෙයි.


**සී/ස ප්‍රගති ප්‍රකාශන නිවස**

අංක 91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08

ISBN 978-955-1319-15-1

Rs. 200/=

9 789551 319151

මුද්‍රණය 2009

Kanol Print

